سنهالي

لغير المسلمين

سلسلة الهداية (6)

# تساؤلات حول الإسلام

# ඉස්ලාම් පිළිබඳ විමසුම

සිංහල පරිවර්තනය

**එස්. ඒ. සී. එම්. කරාමත්**

# INQUIRIES ABOUT ISLAM


The Scholar

Mohamed Jawad Chirri


# ඉස්ලාම් පිළිබඳ විමසුම

# تساؤلات حول الإسلام



සිංහල පරිවර්තනය

එස්. ඒ. සී. එම්. කරාමත්

**Islam Pilibandha Wimasuma** (Sinhala)
(Inquiries About Islam)

Author : **Mohamad Jawad Chirri**

Translated by : S.A.C.M. Karamath

First Edition : 2012

Published by : **Era of Appearance Foundation,**
P.O.Box: 11111,
Al-Dasma - Kuwait.
E-mail : eaf_q8@yahoo.com






الطبعة الأولى
1433 هـ - 2012 م

# පටුන

# කතෘ ගැන

ඉමාම් මොහමඩ් ජවාඩ් චිර්රි ලෙබනන් ජාතිකයෙකි. එතුමා සුප්‍රසිද්ධ ආගමික අධ්‍යාපන ආයතනය වන ඉරාකයේ නජාෆ් හි උපාධි ලැබුවේය. එතුමා දේවධර්ම ශාස්ත්‍රඥයෙකු හා දේශකවරයෙකි. වර්ෂ 1949 දී මිචිගන් නගරයේ ඉස්ලාම් සමාජය විසින් එතුමා ඩෙට්‍රොයිට් නගරයට කැඳවනු ලැබුවේය. මිචිගන් 48228හි ඩෙට්‍රොයිට්වල ජොයි මාවතේ ඇමරිකානු ඉස්ලාමීය මධ්‍යස්ථානයේ අධ්‍යක්ෂ හා ආධ්‍යාත්මික නායකයා ඉමාම් චිර්රිය. එතුමාගේ සේවාවන් බටහිර අප්‍රිකාව සහ මැද පෙරදිග යන ප්‍රදේශවලට ද පැතිරුණි. ප්‍රධාන ඉස්ලාමීය ගුරුකුල දෙකක් අතර ශතවර්ෂ ගණනාවක් තිස්සේ අර්බුද හා මතභේද පැවතුණි. වර්ෂ 1959 දී මැදපෙරදිගට හා බටහිර අප්‍රිකාවට ගිය චාරිකාවකදී ඉමාම් චිර්රි තුමා සුන්නි මද්හබයේ කෙයිරෝවේ ප්‍රධානියා වූ ෂෙයික් අල් අස්හර් තුමා කැඳවා අනෙක් මද්හබය පිළිගන්නා ලෙස ඉල්ලා සිටියේය.

ඉමාම් චිර්රිගේ ඉල්ලීමට පිළිතුරු වශයෙන් බහුතර පිරිසගේ නායක වන ෂෙයික් තුමා ඓතිහාසික ප්‍රකාශයක් නිකුත් කළේය. එහි මෙම මද්හබ දෙකෙහිම ඉගැන්වීම බෙහෙවින් සමාන බවත් මුස්ලිම්වරුන් මෙයින් කැමති එකක් පිළිගත හැකි බවත් ප්‍රකාශ කෙරුණි.

# හැඳින්වීම

මහා කරුණාවන්තවූද පරම දයාබරවූද අල්ලාහ්ගේ නාමයෙන් ආරම්භ කරමි. සියලු ප්‍රශංසා මෙලොව අධිපති වූ අල්ලාහ්ට අපගේ නායකයාණන් වූ මුහම්මද් තුමාට හා එතුමන්ගේ පැවත එන්නන්ටය.

හේතුන් රාශියක් පදනම් කරගෙන බොහෝ මුස්ලිම්වරු ප්‍රධාන වශයෙන් මුස්ලිම්වරුන්ගේ පදිංචි ස්ථාන නොවන යුරෝපය හා ඇමරිකාව වැනි රටවල තාවකාලිකව හෝ ස්ථිරව පදිංචිව සිටිති. එම මුස්ලිම්වරුන්ට තම අවට පරිසරයේ මුස්ලිම් නොවන අය නිතර හමුවෙති. මෙම හමුවීම් වලදී මේ අය තම තමන්ගේ ආගම් හා විශ්වාසයන් පිළිබඳ සාකච්ඡා වෙති. එහි සත්‍යතාවය පිළිබඳ සොයා බලති. බොහෝ දෙනාගේ මෙම සෙවීම අවංක හා පිරිසිදු එකක් වන නිසා ඔවුන් තමන් නිවැරදි යැයි වටහා ගන්නා ආගම හෝ දහම වැළඳ ගනිති.

ඉස්ලාම් ආගම පිළිබඳ හොඳ ඉගෙනුමක් ලත් චිර්රි මහතා 1950 ගණන් වලදී ඇමරිකාවේ පදිංචි වූයේය. එතුමාට තම අලුත් පරිසරයේදී ඉස්ලාම් නොවන අය විශේෂයෙන් ක්‍රිස්තියානින් සමඟ විවිධ සාකච්ඡා වලට සහභාගී වීමට සිදුවිය. එසේ ෆලෝරිඩා විශ්ව විද්‍යාලයේ විද්‍යාඥයෙකු වන ආචාර්ය විල්සන් එච්. ගුඅර්ටින් සමඟ ඉස්ලාම් පිළිබඳ සාකච්ඡා වලට සහභාගී විය.

මෙම දෙදෙනා අතර පැවැත් වූ සාකච්ඡාවල කරුණු Inquiries About Islam යන ග්‍රන්ථයේ අඩංගුය. මෙය ඉස්ලාම්හි සත්‍යය සොයන ඕනෑම කෙනෙකුට මනා මගපෙන්වීමක් වනු ඇත. ලන්ඩන් හි ඉමාම් අලි පදනම වෙත නිතර නිතර බොහෝ දෙනෙක් විශේෂයෙන් තරුණයින් තම ආගමික ගැටලුවල විසඳුම් සොයා පැමිණෙති. ඔවුනට මගපෙන්වීම සඳහා පදනම විවිධ උත්සහායන් ගත්ත ද වඩාත් සුදුසු පිළිවෙල වශයෙන් මෙම පොත යෝජනා කෙරුණි.

ඒ අනුව මෙම පොත නැවත මුද්‍රණය කිරීම සඳහා සුදුසු පියවර ගත්තෙමු. අවසාන වශයෙන් මෙවැනි අනගි කාර්යයක් කළාවූ අභාවප්‍රාප්ත වූ ෂේය්ක් චිර්රි මහතාට අල්ලාහ් පරලොවෙහිදී සියලු දායාදයන් ලබා දිය යුතු යැයි ප්‍රාර්ථනා කරමින් නවතිමි.

ඉමාම් අලි (අ) පදනම
ලන්ඩනය

# සංඥාපනය

ශත වර්ෂ ගණනකට පෙර කතෝලික පල්ලියේ සේවයේ යෙදී සිටි වංශවත් අය ඉස්ලාමය යුරෝපයෙන් පිටමං කළහ. ඒ සමඟ යුරෝපයෙන් මුහම්මද් තුමාගේ පණිවිඩය ද ඉවත් විය. මෙම බල අරගලය දිගටම පැවතුණි. අරාබියේ උගතුන්ට බටහිර ලෝකයට ඉස්ලාමයේ පණිවිඩය ගෙන යෑම අවශ්‍ය වූ කරුණක් නොවීය.

එහෙත් මොහමඩ් ජවාඩ් චිර්රි වැනි කිහිප දෙනෙකු පමණක් මේ අවශ්‍යතාවය වටහා ගත්හ. එහෙයින් ඔවුන් තම ගම රට අතහැර ඇමරිකාව වැනි රටවල පදිංචිව දේවවාදය පිළිබඳ ජනතාවගේ අවශ්‍යතාවය සපුරාලීමට කටයුතු කළහ.

ඉමාම් මොහමඩ් චිර්රිගේ ඉගන්වීම් නිසා ප්‍රයෝජන ලත් බොහෝ දෙනාගෙන් මම ද කෙනෙක්මි. මම ඔහුගේ ඉගැන්වීම් නිසා අල්ලාහ් ගැන විශ්වාසය ඇති කරගෙන ඉස්ලාමය වැළඳ ගත්තෙමි.

ඔබ දැනටම මුස්ලිම්වරයෙක් නම් මේ පොත කියවීමෙන් ඔබගේ ඉස්ලාමය පිළිබඳ දැනුම වර්ධනය කර ගත හැකිය. මුස්ලිම් භක්තිකයෙක් නොවේ නම් අවංක චේතනාවෙන් කියවන්න. එය දෙවියන් පිළිබඳ ඇති ඔබගේ විශ්වාසය දැඩි කරයි.

නොඑසේ නම් ආගම පිළිබඳ ඉගෙනුමේ අගය ඔබට වැටහෙනු ඇත. මෙම පිටුවල ඇති දෙබස් මඟින් අප දන්නා ඉතිහාසයේ ඇති

වැදගත් කරුණු රැසක් දැන ගත හැකිවේ. එහි අඩංගු සිතිවිලි හා සිද්ධීන් ඔබ තුළ දෙවියන් පිළිබඳ විශ්වාසය වැඩි කිරීමට හේතු වනු ඇත.

බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයට යටත්ව තිබූ රටවල් ඇමරිකාවට වඩා වාසනාවන්ත යැයි සිතිය හැක්කේ ඒ රටවල ජනයාට ඉස්ලාම් පිළිබඳ දැනුම ලබා ගත හැකි වීම නිසාය. සුප්‍රසිද්ධ බ්‍රිතාන්‍ය උගතුන් ඉස්ලාමයේ වටිනාකම අගයමින් අදහස් ඉදිරිපත් කර තිබියදී එක ද ඇමරිකානු උගතෙක්වත් ඉස්ලාමය ගැන කතා නොකරීමට හේතුව මෙය වූවා විය හැකිය.

ආර්නෝල්ඩ් ටොයින් බී යන බ්‍රිතාන්‍ය ඉතිහාසඥයා ද බර්ට්‍රන්ඩ් රසල් යන දාර්ශනිකයා ද ජෝර්ජ් බර්නාඩ් ෂෝ යන ගත්කරු ද ඉහත නම් සඳහන් බ්‍රිතාන්‍ය විද්වතුන් වෙති.

මොවුන් ඉස්ලාමය එතරම් අගය කළේ කුමන හේතුන් නිසා දැයි විස්තරාත්මකව දැන ගැනීම වටී.

ආචාර්ය විල්සන් ගුඅර්ටින් ජේ.
ෆ්ලෝරිඩා විශ්ව විද්‍යාලය

# පෙරවදන

ආචාර්ය විල්සන් එච්. ගුඅර්ටින් ජේ. විද්‍යාඥයෙක් හා සුප්‍රසිද්ධ දාර්ශනිකයෙකි. එතුමාට ආගම පිළිබඳ හා දේවවාදය පිළිබඳ ඉතා පුළුල් දැනුමක් ඇති අයෙකි.

සමාන්‍යයෙන් විද්‍යාඥයෙක් සිතන ආකාරයෙන් ආගම්වල සත්‍ය කරුණු අඩංගු බවත් එහෙත් එය මිනිසාගේ වැරදි අවබෝධ හා වැරදි අර්ථකථනයන්ගෙන් ආවරණයවී ඇති බවත් ඔහු ද සිතන්නේය.

සැබවින්ම සත්‍යය සමඟ ක්‍රියාකරමින් ස්වාභාවධර්මයේ සත්‍ය කරුණු අනාවරණය කිරීමට වෙහෙස දරණ විද්‍යඥයෙකුගෙන් ආගමික කරුණු පිළිගැනීම බලාපොරොත්තු විය නොහැකිය. විද්‍යාඥයෙක් ආගමික ඉගැන්වීම් විද්‍යාත්මක සත්‍යයන්ගෙන් එරෙහි බව දකියි. එහෙයින් ඔහු පහත එක් මතයක් ඇති කර ගනියි.

1. ඔහු ආගම බැහැර කරයි.

2. ඔහු ආගමික සංකල්පය විද්‍යාත්මක සත්‍යයට ගැලපෙන සේ අර්ථකථනය කරයි.

3. එම සත්‍යය සමග එකඟවන වෙනත් ආගම් ගැන සොයා බලයි.

ආචාර්ය ගුඅර්ටින් අනුගමනය කළේ ඉහත තුන්වන පිළිවෙල ය. එතුමා ආගමික සත්‍යයන් ගැන සොයා බැලුවේය. අවසානයේ ඉස්ලාමීය ඉගැන්වීම් ගැන දැන ගත්තේය.

"මම උපතින් ක්‍රිස්තියානියෙක්මි. එහෙත් මගේ ළමා කාලයේ පටන්ම විවිධ කරුණු ගැන මා තුළ සැකයක් තිබුණි. විද්‍යාඥයෙකු ලෙස විද්‍යාත්මක සත්‍යයන්ට පටහැනි කරුණක් මට පිළිගැනීමට බැරි ය. එහෙයින් මගේ ආගම නොවන වෙනත් ආගමික සත්‍යයන් ගැන සොයා බැලුවෙමි. අවසානයේ ඉස්ලාම් පිළිබඳ පොත් පත් කියවීමට මම අවස්ථාව ලැබුවෙමි. එහෙයින් මම ඔබ වෙත ආවෙමි. ඔබ ඉස්ලාමය පිළිබඳ සපිරුණු දැනුමක් ඇත්තෙක් නිසා මගේ සැකයන්ට සතුටුදායක පිළිතුරු දීමට හැකි වනු ඇතැයි සිතමි" යයි ඔහු මට කීය.

ඔහු මා වෙත යොමු කළ ප්‍රශ්න ඉස්ලාම්හි සත්‍යය සෙවීමට ඉදිරිපත්වන ඕනෑම කෙනෙක් තුළ ඇතිවන ප්‍රශ්න වේ. එහෙයින් එම ප්‍රශ්න හා එහි පිළිතුරු වාර්තා කර තැබීමටත් පොතක් ලෙස මුද්‍රණය කිරීමටත් අදහස් කළෙමි.

මෙවැනි ප්‍රශ්න ඇති අන් අය ක්‍රියා කරනුයේ මේ අයුරින් නොවේ. ඔවුන් සැකය තමන් තුළම සඟවා ගනිති. එය විසඳීමට වෑයම් නොකරති. ඔවුන්ගෙන් සමහරු සියලු ආගම් ප්‍රතික්ෂේප කරන අතර අනික් අය තමන්ගේ ආගම් තුළම රැඳී සිටිති.

මෙම පොතෙහි අරමුණ එසේ සත්‍ය සොයන අයට අත දීමය. මෙමඟින් කියවන්නාට ඉස්ලාම් පිළිබඳ වඩා හොඳ දැනුමක් ලබා දෙනු ඇත. එසේම ප්‍රධාන ආගම් අතර මනා සහයෝගයක් ගොඩනැඟීමට මෙය හේතුවනු ඇත. ලේඛකයා ලෙස මගේ බලාපොරොත්තු සඵල වන්නේ එවිටය.

**මොහමඩ් ජවාඩ් චිර්රි**

බිස්මිල්ලාහිර්රහ්මානිර්රහීම්

## පොත ගැන හැඳින්වීමක්

අල්ලාහ් මිනිසා මවා ඇත්තේ සවිඥානය ඇති මැවුමක් ලෙසය. එහෙයින් මිනිසා සතුව ස්වභාවය පිළිබඳවත් ලොව ඇති අනිකුත් මැවුම් පිළිබඳවත් දැන ගැනීමේ ආසාවක් පවතී. මිනිසා මැවූ දවසේ පටන් අල්ලාහු තආලා තම ආගම් මගින් හා නබිවරු මාර්ගයෙන් මිනිසාට ස්වභාවයේ ඇති සත්‍යතාවයන් ගැන පහදා දෙමින් යහපත් ජීවිතයක් ගතකිරීමේ මාර්ගය පාදා දී ඇත. අල්කුර්ආනය නබි (සල්) තුමා සහ එතුමාගේ පැවතෙන්නන් විසින් මෙම යහමග දැක්වීම සිදු කර ඇත.

එහෙත් අද ලෝක වාසි මුස්ලිම්වරු බොහෝ දෙනා උපතින් මුස්ලිම් වූ නිසා කිසිදු මනා අවබෝධයෙන් හා වැටහීමකින් තොරව සම්ප්‍රදායානුකූලව ඉස්ලාමය අනුගමනය කරති. අන්‍ය ආගමිකයන්ට ඉස්ලාම් ආගම පිළිබඳ කිසිදු නිවැරදි අවබෝධයක් නැත. නොඑසේ නම් ඇත්තේ වැරදි වැටහීම් පමණි.

විද්වතානන් මොහමඩ් ජවාඩ් චිර්රි ඉස්ලාම් පිළිබඳ ඉතා හොඳ දැනුමක් ඇති අයෙකි. එපමණක් නොව අන්‍ය ආගම් ගැන ද පූර්ණ දැනුමක් ඇත්තෙකි. එහෙයින් එතුමා ඉහත සඳහන් කළ බොහෝ අයට ඉස්ලාම් පිළිබඳ නිවැරදි දැනුමක් ලබා දී ඇත. එතුමා මෙම ග්‍රන්ථය මගින් සාමාන්‍යයෙන් බොහෝ දෙනා තුළ ඇතිවන ඉස්ලාම් ආගම පිළිබඳ සැකයන්ට පහදා දීම් ලබා දී ඇත. එතුමාගේ දේශන ඇසූ හා ලිපි ලේඛන කියවූ බොහෝ අන්‍ය ආගමිකයන් ඉස්ලාමය වැළඳ ගත් අවස්ථා ද බොහෝය.

ආචාර්ය විල්සන් ද එසේ ඉස්ලාමය වැළඳ ගත් අයෙකි. ඉස්ලාමය පිළිබඳ එතුමාගේ ප්‍රශ්න හා ඒවාට විද්වතානන් මොහමඩ් ජවාඩ් චිර්රි මහතා ලබා දුන් උත්තර මෙම ග්‍රන්ථයේ විස්තරාත්මකව දක්වා ඇත.

ඒවා කියවීමෙන් අපට ද නිවැරදි දැනුමක් ලබා ගැනීමට අල්ලාහ්ගේ මග පෙන්වීම හිමි වේවායි ප්‍රාර්ථනා කරමු.

**අශ්ෂෙයික් අබ්දුල් හලීම්**

# විමසුම - 01

## ඉස්ලාමය පිළිබඳ විමසීමට ඇති නිදහස

විල්සන් :- බොහෝ ආගම් තම ආගමින් උගන්වන කරුණු ගැන විමසා බැලීම පිළිබඳව කැමැත්තක් නොදක්වයි. ප්‍රශ්න කිරීමකින් තොරව තම උපදෙස් පිළිගන්නා ලෙස තම අනුගාමිකයන්ට එම ආගම් උපදෙස් දෙයි. එම ආගමිකයන් තමන් විශ්වාස කරන ලෙස බලකරන අතර අන් කිසිදු ආගමිකයන් සමඟ ඇසුරු කිරීම පවා තහනම් කරති. එසේ ඇසුරු කිරීම සැකයන්ට තුඩු දෙන බව කියති. ඉස්ලාම් ධර්මයේ ඉගැන්වීම් පිළිබඳව ප්‍රශ්න කිරීම ගැන හා එහි ඉගැන්වීම් හා මූල ධර්ම අනෙක් ආගම්වල ඉගැන්වීම් හා මූලධර්ම සමඟ සැසඳීම පිළිබඳ ඉස්ලාමීය ආකල්පය කුමක් ද?

ජවාඩ් චිර්රි :- මේ පිළිබඳව ඉස්ලාම් නිදහස් මතයක් දරයි. එහි සමහර මූලික සිද්ධාන්ත පිළිගනීම එය අනිවාර්ය කරන නමුත් එම විශ්වාසයන් සාධක මත පදනම් කරගන්නා ලෙස උපදෙස් දෙයි. ඕනෑම ප්‍රශ්නයක් ඇසීමට ඉස්ලාම් නිදහස දෙන අතර සැකයන් ඉදිරිපත් කරනවිට හෙලා දැකීමකින් තොරව එය පදනම් කරගෙන සත්‍යය සොයා යෑමට මිනිසා උනන්දු කරවයි. අන් ආගමක් තම ආගමේ ප්‍රතිපත්ති හැර වෙනත් ප්‍රතිපත්ති ගැන සාකච්ඡා කිරීම වළක්වන්නේ එසේ කිරීම දෙවියන්ගේ

කෝපයට හේතුවන බව පවසමිනි. එහෙත් ඉස්ලාම් සත්‍යය සෙවීමෙන් අල්ලාහ්ගේ කෝපයට භාජනය නොවන බව සහතික කරයි. කිසිවිටෙක සාකච්ඡා කිරිමෙන් වැළකී සිටින ලෙස ඉස්ලාම් අවවාද කරන්නේ නැත.

එසේ කරනුයේ සාකච්ඡා කිරීමෙන් නව දැනුමක් ලැබීමට හා සත්‍යය සොයා ගැනීමට මගපෑදෙන නිසා ය. ඉස්ලාමීය මුලධර්මයක් පිළිබඳව මෙන් ම ඉස්ලාමිය නොවන මුලධර්මයන් පිළිබඳ ව ද සාකච්ඡා කිරීමට නොබියව ඉදිරිපත්වන ලෙස ඉස්ලාම් උපදෙස් දෙන්නේ ය. අල්ලාහ් සත්‍යයේ දෙවියා ය. එහෙයින් කෙනෙකු සත්‍යය සෙවීම අල්ලාහ් විසින් වළක්වනු ලබන්නේ නැත. තවද කිසිවිටකත් සත්‍ය සෙවීම ගැන අල්ලාහ් කුපිත වේ යැයි සිතිය යුතු ද නැත.

ඉස්ලාමීය දෘෂ්ටිය අනුව අයෙක් සත්‍යය සෙවීමට වෙහෙසෙන තරමට ඔහු සත්‍යය සෙවීමෙහි යෙදෙන තරමට ඔහු දෙවියන්ගේ දායාදයන්ට පාත්‍ර වන්නේ ය. විද්‍යාඥයා ඕනෑම සත්‍යයක් මෙන්ම තමා පිළිගන්නා සිද්ධාන්තය වුව ද ප්‍රතිෂේප කරන ඕනෑම සාධකයක් පිළිගන්නේය. ඉස්ලාමීය දෘෂ්ටිය අනුව ආගමික ප්‍රශ්න දෙස විද්‍යාත්මක ස්වභාවයෙන් යොමු වීම බෙහෙවින් අගය කරනු ලබන්නකි. මෙය ඉස්ලාමීය දෘෂ්ටියේ ඇති ප්‍රශංසනීය හා අගය කළයුතු ආකල්පය වන්නේ ය.

**විල්සන් : ආගමික පර්යේෂණ ගැන සුවිශේෂ වු නීති රීති හෝ උපදෙස් ඉස්ලාමයේ තිබේ ද?**

**විර්රි** :- ආගම පිළිබඳ පර්යේෂණවල සුරක්ෂිතභාවය උදෙසා ශුද්ධ වූ කුර්ආනයේ සමහර නීති දක්වා ඇත.

1. සාධක එරෙහිවන ධර්මයක් කිසි විටෙකත් වැළඳ නොගන්න. නැතිනම් සාධක නොමැති සිද්ධාන්තයක් අයකු පිළිගත යුතු නැත. අයෙකුට කිසියම් සිද්ධාන්තයක් පිළිගැන්විය යුතු නම් එය පැහැදිලි කරන සාධක දැක්විය යුතුය. දෙවියා ඉතාමත් සාධාරණ හා යුක්තිගරුක පුද්ගලයා ය. විශ්වාසය ස්වේච්ඡාවෙන් කළ යුත්තක් නොවන බව ඔහු දනී. එනම් එය පුද්ගලික කරුණක් නොවේ. පුද්ගලයාට තමා තෝරා ගන්නා ඕනෑම දෙයක් විශ්වාස කිරිමට හෝ නොකිරීමට බැරිය. මිනිස්

සිරුර කෙනෙකුගේ අණසකට යටත් වුව ද සිත එසේ නොවේ. අත එසවීමට, පහත දැමීමට, වාඩි වීමට, සිට ගැනිමට යනාදී වශයෙන් දෙන ඕනෑම අණකට මට කීකරු විය හැකිය. එය අසාධාරණ වුවද මට කීකරු විය හැකිය.

එහෙත් දෙකයි දෙකයි පහක් ලෙස හෝ තුනක් එකක් වශයෙන් හෝ ගින්දර සිසිල් බව හෝ අයිස් උණුසුම් බව හෝ කියන කරුණක් මට පිළිගත නොහැකි ය. මිනිස් සිත යමක් පිළිගන්නේ සාධක පදනමිනි. එය අපගේ හිතුවක්කාර ක්‍රියා හා අභිප්‍රායයන් අනුගමනය කරන්නේ නැත. එහෙයින් පිළිගත හැකි ආගමික විශ්වාසයක් පදනම් විය යුත්තේ විඥාණය මතය. මට යමක් දැන්වීමට දෙවියන්ට අවශ්‍ය නම් ඒ සඳහා සාධක ලබාදීමෙන් ඒ පිළිබඳ ඥාණය මාතුළ ඇති කළ යුතුය. සාධක එරෙහි වන කිසිවක් පිළි ගන්නා ලෙස මට බල කරන්නේ නම් එය, කළ නොහැකි දෙයක් මට කරන්නට කීමකි. එය ඔහුගේ යුක්තියට එරෙහි වීමකි. සාධක නොමැති සිද්ධාන්තයක් පිළි ගැනීමට ප්‍රතික්ෂප කරන අයකු ඉස්ලාමය විසින් කිසි විටෙකත් හෙලා දකින්නේ නැත. ඒ වෙනුවට අඳුරේ ඇති, සාධක නොමැති හෝ සත්‍ය නොවන හෝ සිද්ධාන්තයක් පිළිගැනීම ගැන ඉස්ලාම් දොස් නගයි. සාධක නොමැති හෝ සාධක වලට එරෙහි සිද්ධාන්තයක් පිළිගැනීම කිසිදු සාක්කියක් නොමැති විත්තිකරුට උසාවියකින් දඬුවම් නියම කිරීම වැනිය. මෙවැනි ආකල්ප ප්‍රශංසා කරනු නොලබයි.

මේ ගැන අල්කුර්ආනය මෙසේ දක්වයි.

**ඥාණයට හේතු නොවන කිසිවක් පිළි නොගන්න., සැබවින් ම ඇසීම, දැකීම හා හදවත යන සියල්ල මේ ගැන විමසනු ලබයි. (17:36)**

2. මුහුණත වටිනාකම කිසි විටෙක ප්‍රසිද්ධියේ පිළි නොගන්නා ආගම පිළිබඳ පර්යේෂණවල යෙදෙන කිසිවිටකත් ආගමක් තම සමාජයේ ලබා ඇති ප්‍රසිද්ධිය නිසා එහි මතයන් එහි සත්‍යභාවයට සාක්ෂි වශයෙන් නො සැලකිය යුතුය. බොහෝ සුප්‍රසිද්ධ අදහස් වැරදි බව ඔප්පු කර ඇත. කලෙක පෘතුවිය පැතලි බවත් ඉර පොළව වටා ගමන් කරන බවත් විශ්වාස කරන ලදී. ජනයා මේ

මතය වසර දහස් ගණනක් මුළුල්ලේ විශ්වාස කළහ. එහෙත් මෙම අදහස් දෙක වැරදි බව අද අපි දන්නෙමු. තව ද එක් සමාජයක ප්‍රචලිත කරුණක් තවත් සමාජයක ප්‍රචලිත නොවිය හැකිය. මෙහි පරස්පරය ද සත්‍ය වේ. ස්ථිර බවේ සංකේතය ප්‍රසිද්ධිය වේ නම් එකිනෙකට පරස්පර සියලු ප්‍රසිද්ධ මත සත්‍ය වන්නේ ය. එහෙත් සත්‍යයන් කිසිවිටෙකත් පරස්පර නොවේ.

පළමු දූතයාණන් එක් දෙවියෙක් පිළිබඳ සංකල්පය ප්‍රසිද්ධියේ ඉදිරිපත් කළ අවස්ථාවේ දී ඔහුගේ මේ සන්දේශය කිසි සමාජයක ප්‍රචලිත නොවීය. එසේ එම දෙවියන් පිළිබඳ පණිවිඩය ප්‍රසිද්ධියට පත් නොවීම එහි සත්‍ය භාවයට බාධාවක් නොවේ. සෑම දූතයකුම තම ජනයා අතරට පැමිණියේ ප්‍රසිද්ධ නොවන පණිවිඩ සමගය. ඔවුන්ගේ අරමුණ වූයේ සුප්‍රසිද්ධව පැවති සත්‍යය නිවැරදි කොට ප්‍රසිද්ධ නොවූ සත්‍යය ප්‍රතිස්ථාපනය කිරීමය. මෙය කුර්ආනයේ මෙසේ දැක්වේ.

**ඔබ පෘතුවියේ ඉන්න බහුතර ජනයාගේ මතයට කීකරු වන්නේ නම් ඔවුන් ඔබ දෙවියන්ගේ මාර්ගයෙන් නොමග යවනු ඇත. ඔවුන් පිළිගන්නේ ශූන්‍යය නොව මතයකි. ඔවුන් කරනවා නොව උපකල්පනය කරති.**

3. සාම්ප්‍රදායික වූ ආගමික සිද්ධාන්ත පරීක්ෂණයට භාජනය කළ යුතුයි. පරිනත වියට පත් වූ සෑම පුද්ගලයෙකුටම තමාට උරුම වූ ආගම ගැන සොයා බලන ලෙස ඉස්ලාම් උපදෙස් දෙන්නේ ය. අනෙක් ඕනෑම ආගමක් මෙන් අයකු තමාට උරුම ආගම ද විමසිල්ලට ලක් කළ යුතු ය.ස්වාධීන තීරණයකට එළඹිය නොහැකි දරුවකුව සිටින තාක්කල් අයකුට තම දෙමාපියන්ගේ තීරණ මත යැපිය හැකිය. එහෙත් පුද්ගලයා පරිනත අයකු බවට පත් වූ විට ආගම පිළිගැනීම ඔහුගේ වගකීම වන්නේ ය. දෙමාපියන්ට ගරුකිරීමත් කීකරු වීමත් ඉස්ලාමීය ආගමික විධානයක් වුව ද එහි අදහස ආගම වැනි ඉතා වැදගත් කරුණක් සම්බන්ධයෙන් ඔවුන්ගේ වැරදි මත පිළිගැනීම නොවේ. විශේෂ කරුණ නම් දෙමාපියන් වැරදි ආගමික සිද්ධාන්තයක ඇලී සිටින විට හා එය පිළිගන්නා ලෙස තම දරුවන්ට බල කරනවිට එසේ කිරීම දෙවියන්ගේ කැමැත්තට විරුද්ධ නිසා ඔවුන් එයට කීකරු වීම අවශ්‍ය නොවේ. එනම් අයෙක් තම දෙමාපියන්

වැරදි වූ විට ඔහු ඔවුන්ට කීකරු වන්නේ නම් එවිට ඔහු දෙවියන්ට අකීකරු වන්නේ ය. එය ශුද්ධ වූ කුර්ආනයේ මෙසේ දැක්වේ.

**අපි දෙමාපියන් සම්බන්ධයෙන් මිනිසාට මෙසේ අණ කළෙමු. මට හා ඔබේ දෙමාපියන්ට ස්තුති වන්ත වන්න. මට ප්‍රතිඵලයක් වශයෙන් කළ යුත්තකි. එයට ඔවුන් ඔවුන්ගේ අඥාණකම නිසා බාධා කරන්නේ නම් ඔවුන්ට කීකරු නොවන්න. එහෙත් මෙලොවෙහි දී ඔවුන් සමග සුහද සම්බන්ධතාවයක් පවත්වන්න. (34: 14 -15)**

ඕනෑම ඉගැන්වීමක් ගැන මෙන්ම තම ඉගැන්වීම ගැන ද විමසා බලන ලෙස ඉස්ලාමය විධානය කරයි. මෙසේ කිරීමෙන් අයකුට ඉස්ලාමය පෙරට වඩා ඉතා හොඳින් අගය කළ හැකිය.

4. සැක කරන්නන්ට සමාවක් දෙනු ලැබේ. පුද්ගලයෙක් කිසිදු ආගමකට නොබැඳී සියලු ආගමික සංකල්ප දෙස සැකයෙන් බලා සිටිමෙන් ඔහුට තම සැකයන් ගැන සතුටු විය නොහැක. තමන් ආරක්‍ෂා කර ගැනීමත් මෙලොවෙහි තම ප්‍රධාන අවශ්‍යතා රැක ගැනීමත් පුද්ගලයාගේ වගකීම වේ. එසේ තමාට ආධ්‍යාත්මකව වැදගත් වන කරුණුවලට බාධාවක් නොවන අයුරින් ඒවා ආරක්‍ෂා කර ගැනීම වැදගත් වේ. සිය භෞතික ජිවිතයට වැදගත් වන කරුණු ගැන සොයා බලන තරමට තම ආධ්‍යාත්මක ජිවිතයට වැදගත් වන කරුණු ගැන සොයා බැලීම ද පුද්ගලයාට ඉතාමත් වැදගත් වේ. එහෙයින් ආගම හා සම්බන්ධ සැකයන් පිළිබඳ දැඩි ලෙස හා උද්යෝගීමත් ලෙස විමසා බැලීම ඉතාමත් වැදගත් ය. මෙසේ සැක සහිත ක්‍ෂෙත්‍රවලට පිවිසිය හැකි මාර්ග රැසකි. එහෙයින් ඔහු ඒවා ගැන සොයා බැලිය යුතුය. පුද්ගලයා සිය පරීක්‍ෂණ මෙහෙයවමින් සිය සාර්ථකත්වයන්හි හා පරාජයන් හි සත්‍යය සොගැනීමට යොදා ගන්නේ නම් දෙවියන් විසින් ඔහුට සමාව දෙනු ඇත. පුද්ගලයාගෙන් දෙවියන් බලාපොරොත්තු වන්නේ ඔහුට කළ හැකි දේ පමණක් කිරීමය. එය ආත්මයකගේ හැකියාව ඉක්මවන කිසිවක් දෙවියන් විසින් පනවනු ලබන්නේ නැත. ඔබ ආගමික පර්යේෂණයක යෙදෙන විට ඔබ වෙනුවෙන් අන් අයට තීරණයක්

ගැනීමට ඉඩ නොතබන්න. අන් කෙනෙකුගේ තීන්දුව මත නොයැපෙන්න. එම පුද්ගලයා ඉතාමත් අවංක හා ඉතාමත් බුද්ධිමත් අයෙකු වුවද කමක් නැත. අවංක හා බුද්ධිමත් පුද්ගලයින් සෑම ආගමකම සිටිති.

අයෙක් තමා වෙනුවෙන් මෙවැනි අයකුට තීන්දුවක් ගැනීමට අවස්ථාව ලබා දුනහොත් සැබවින්ම ඔහු පරදින්නේය.

මක් නිසා ද යත් මොවුන් සැමදෙනාම එකිනෙකට වෙනස් වූ අදහස් දරන අය වෙති. ඔබ අන් මතයන් බැහැර කර එක් මතධාරියෙකුට තීරණ ගැනීමට අවස්ථාව ලබා දුන්නේ නම් ඔබ පක්ෂග්‍රාහී අයෙක් වන්නේ ය. එසේම අවංක හා ඉතාමත් උගත් ගුරුවරයාට වුව ද වැරදීමක් සිදුවිය හැකිය. මෙවැනි අයකුගේ තීන්දුව පිළිගත් අයකුට ද ඒ වරදට සමාවක් නැත. පුද්ගලයෙකුගේ ආගම ඔහුගේ වගකීම වන්නේ ය. ගැඹුරු අධ්‍යයනයකින් පසුව තීරණ ගැනීමට සුදුසු එකම පුද්ගලයා තමාම ය. මේ ගැන කුර්ආනයේ මතය විමසමු.

**උසුලන කිසිවෙකු අන් අයගේ බර දරන්නේ නැත. (35:18,53:38)**

එහෙයින් ඉහතින් සඳහන් කළ කුර්ආනීය වාක්‍යයෙන් වැටහී යන්නේ ඉස්ලාම් ප්‍රශ්න කරනු ලැබීමට හෝ විමසනු ලැබීමට බිය නොමැති බව ය. අසාර්ථක වන බවට බිය ඇති අය පමණක් තම ආගම ගැන නිදහස් සාකච්ඡාවලට හා ගවේෂකයන් විසින් පරීක්ෂා කරනු ලැබීමට විරුද්ධ වෙති.

# විමසුම - 02

## ඉස්ලාම් පිළිබඳ අර්ථකථනය

විල්සන් :- මාතෘකාව අර්ථකථනය කිරීම ඕනෑම සාකච්ඡාවක ඉතාම වැදගත් කරුණ වන්නේ ය. ඉස්ලාම් යන්න අරාබි වචනයක් නිසා ඉස්ලාම් පිළිබඳ සාකච්ඡාවේ යෙදෙන විට එහි තේරුම හා අර්ථකථනයක් ලබා ගැනීමට මම කැමති ය. මේ වචනය ගැන අර්ථකථන කීපයක් මා අසා ඇති නිසා ඒ පිළිබඳ ඔබගේ අර්ථකථනය ද දැන ගැනීමට කැමති ය. මුස්ලිම් යන්න ද තවත් අරාබි වචනයක් නිසා අරාබි නොවන අය වෙනුවෙන් එහි අර්ථකථනය ද ලබා දෙන්න. එහි අර්ථය නිවැරදිව නොදන්නා නිසා මේ වචන දෙක පැටලෙන වාර බොහෝ ය.

විර්රි :- ඉස්ලාම් යන්නෙහි මුල් තේරුම කලින් පිළිගෙන නොතිබූ දෘෂ්ටියක් හෝ කොන්දේසියක් පිළිගැනීමයි. මේ ගැන කරුණු දක්වන ශුද්ධ වූ කුර්ආනය ඉස්ලාම් යන්න අල්ලාහ්ගේ විධානයන් පිළිගැනීමටත් අනුගමනය කිරීමටත් පුද්ගලයාගේ ඇති සූදානම බව පවසයි. මුස්ලිම් යන වචනය ඉස්ලාම් යන වචනයෙන් බිඳී ආවකි. එය අල්ලාහ්ගේ විධානයන් ලබා ගැනීමට සූදානම් හා එය පිළිගැනීමට කැමති පුද්ගලයාට භාවිතාවේ. ඉබ්රාහීම් යුදෙව්වෙක් හෝ ක්‍රිස්තු භක්තියෙක් නොවේ. එහෙත් ඔහු ඍජු පුද්ගලයෙකි. ඉස්ලාම් භක්තිකයෙකි. එහෙත් ඔහු බහු

දේවවාදියෙකු නොවේ. මුහම්මද් නබි තුමා විසින් තම පණිවිඩය මිනිසාට ලබා දීමෙන් පසු මෙම වචනවල අමුතු අර්ථයක් ලැබුණි. මුහම්මද් තුමාට පහළ කරනු ලැබූ පණිවිඩය ඉස්ලාම් නම් විය. තව ද ඔහුගේ පණිවිඩයෙහි වූ කරුණු විශ්වාස කිරීම ද ඉස්ලාම් නම් විය. මුහම්මද් තුමාගේ පණිවිඩය පිළිගන්නා හා එහි සත්‍යතාවය විශ්වාස කරන්නන් මුස්ලිම් යනුවෙන් හඳුන්වන ලදී.

**විල්සන් :- ඉස්ලාම් යන්නෙහි මුල් තේරුම හා මුහම්මද් තුමා විසින් පණිවිඩය ලැබීමෙන් පසුව හඳුන්වන ලද ඉස්ලාම් යන වචනය අතර සම්බන්ධතාවය කුමක් ද?**

**විර්රි** :- අලුත් වචනයේ තේරුම මුල් වචනයේ තේරුමට බෙහෙවින් සමාන ය. මක් නිසා ද යත් එතුමාගේ ඉගැන්වීම ඊට පෙර සිටි සියලු වක්තෘවරුන්ගේ ඉගැන්වීම් වලට මෙන් සියලු දේව වාක්‍යවලට සමාන බව මුහම්මද් තුමා ප්‍රකාශ කළේය. මුහම්මද් තුමාගේ වක්තෘත්වයේ සත්‍යභාවය පිළිගැනීමට අයකු ඉදිරිපත් වන විට සැබවින් ම ඔහු අල්ලාහ්ගේ විධානයන් කොන්දේසි රහිතව පිළිගැනීමට සූදානම් වන්නේ ය.

**විල්සන් :- ක්‍රිස්තියානි ධර්මයට බැඳිමට අයෙක් සූදානම් වූයේ නම් ඒ සඳහා වත්පිළිවෙත් රැසක් ඇත. බවුතීස්ම කිරීම ලෙස හඳුන්වන්නේ බොහෝ ක්‍රිස්තියානි නිකාය වල ඇති නවකයෙකු එම ක්‍රිස්තියානි නිකායට බඳවා ගැනීමේ වත්පිළිවෙතයි.**

**ඉස්ලාමීය විශ්වාසයට බැඳිමට ඉදිරිපත් වන්නකු අනුගමනය කළ යුතු මෙවැනි පිළිවෙතක් තිබේ ද?**

**විර්රි** :- සක්‍රමෙන්තුවක් හෝ අන් එවැනි කිසිදු ආගමික චාරිත්‍රයක් ඉස්ලාම් දහම අනුගමනය කිරීමට සූදානම් වන තැනැත්තා පිළිපැදිය යුතු නැත. ඔහු කළ යුත්තේ විශ්වාසය පිළිබඳ ප්‍රකාශනයේ ඇතුළත් කරුණු පිළිගැනිම හෝ එය උච්චාරණය කිරීම පමණි. සර්වබලධාරි අල්ලාහ් හැර අන් කිසිදු දෙවියෙකු නැති බව මම සාක්කි දරමි. තව ද මුහම්මද් එම දෙවියන්ගේ වක්තෘන් හා දූතයානන් ය.

**විල්සන් :- පුද්ගලයෙක් ඉස්ලාමීය විශ්වාසයට බැඳීමට එවැනි සරල ප්‍රකාශනයක් පමණක් සෑහෙන්නේ ඇයි?**

**චිර්රි** :- මුහම්මද් තුමාගේ සත්‍ය බව තමා පිළිගන්නා බව අයෙක් පවසනවිට එයින් සැබවින් ඔහු අදහස් කරන්නේ තමා හා මුහම්මද් තුමාගේ සියලු ඉගැන්වීම් හා එතුමා හඳුන්වා දුන් සියල්ල තමා පිළිගන්නා බවය. අල්කුර්ආනයේ සියලු ඉගැන්වීම් මුහම්මද් තුමාගේ සියලු ක්‍රියාවන් හා එතුමාගේ සියලු ප්‍රකාශයන් එයට ඇතුළත් ය.

එය විශ්වාසය හා බැඳුනු කරුණක් වුවද ක්‍රියාව හා බැඳුණු කරුණක් වුවද මෙයට ඇතුළත් ය. පුද්ගලයෙක් විසින් විශ්වාසයේ ප්‍රකාශනයේ ඇතුළත් කරුණු විශ්වාස කරන විට ඔහු ඉබේම මුස්ලිමෙකු වන්නේ ය. ඔහුගේ මෙම ප්‍රකාශ කිරීම අන් මුස්ලිම්වරුන් ඔහු මුස්ලිම්වරයෙකු වන බවට දෙන සාධකයක් වන්නේ ය. මේ නිසා අන් කිසිදු මුස්ලිම්වරයෙකු ට ඔහු විශ්වාසවන්තයෙකු වීම ප්‍රතික්ෂේප කළ නොහැකි වන්නේ ය.

**විල්සන් :-නවක මුස්ලිම්වරයකු පරම්පරාවෙන් හෝ උපතින් මුස්ලිම්වරයෙකු වූ අයෙකුට සමාන ද?**

**චිර්රි** :- නවක මුස්ලිම්වරයා අන් ඕනෑම මුස්ලිම්වරයෙකු ට සමාන බව අල්කුර්ආනය පවසයි. තව ද නවක මුස්ලිම්වරයා උපතින් මුස්ලිම්වරයකු වූ අයකුට වඩා කරුණු දෙකක් ඇසුරෙන් ප්‍රබල වන්නේ ය.

1. නවක මුස්ලිම්වරයා උපතින් මුස්ලිම්වූ අයෙකුට වඩා අල්ලාහ්ගේ ඉමහත් දායද ලබන්නේ ය. අලුතින් ඉස්ලාමය වැළඳ ගන්නා පුද්ගලයා එසේ වැළඳ ගන්නේ බොහෝ මානසික අර්බුදයන්ට මුහුණ දීමෙන් පසුව හා ආගම ගැන දීර්ඝ හා ගැඹුරු අධ්‍යනයක් කිරීමෙන් පසුවයි. මක්නිසා ද යත් ආගම වෙනස් කර ගැනීම එතරම් පහසු දෙයක් නොවේ. ඒ සඳහා පුද්ගලයා ධෛර්යවන්තව වෑයම් කළ යුතුයි. එහෙත් උපතින් මුස්ලිම්වූ අයෙකුට ආගම ලැබෙන්නේ පරම්පරික උරුමයක් ලෙස ය.

2. අලුතින් ඉස්ලාමය වැළඳ ගත් පුද්ගලයා, ඉස්ලාමය වැළඳගත්

අවස්ථාවේ කලින් පාපයක් නොකළ පාරිශුද්ධ පුද්ගලයෙකු ලෙස සලකනු ලබන්නේ ය. ඔහුගේ අතීත අකුසලයන් සියල්ල මකා දමනු ලබන්නේ ය. ඔහු වගකිව යුත්තේ ඉස්ලාමය වැළඳ ගැනීමෙන් පසු කරන පව්වලට ය. මේ අනුව උදෑසන ඉස්ලාමය වැළඳ ගත් පුද්ගලයා දහවල් වීමට පෙර අභාවප්ප්‍රාප්ත වූයේ නම් මුස්ලිමකු විසින් කළයුතු කිසිදු ආගමික වගකීමක් ඉටු නොකළ ද ඔහු ස්වර්ගයට පිවිසීමට වරම් ලබන්නේ ය. ඔහු ඉස්ලාමය වැළඳ ගන්නේ ඉර උදාවීමෙන් පසුව නිසා ඔහුට උදේ නැමදුම අනිවාර්ය නොවේ. ඔහු දහවල් නැමදුම් වේලාව තෙක් ජීවත්ව නොසිටි නිසා දහවල් නැමදුම ඔහුට අනිවාර්ය නොවේ.

**විල්සන්:- සමහර අවස්ථාවල දී ඉස්ලාමය "දීන් අල් -තව්හීද්" වශයෙන් ද තවත් සමහර අවස්ථාවල "දීන් අල් - ෆිත්රා" වශයෙන් ද හඳුන්වනු ලැබේ මෙම නම් දෙකම අරාබි නම් වන හෙයින් අරාබි නොවන අයගේ යහපත උදෙසා ඒවා අර්ථකථනය කරන්න. මෙසේ නම් දෙකකින් ඉස්ලාමය හඳුන්වනු ලබන්නේ මක් නිසා ද යන්නත් පහදන්න.**

**චිර්රි** :- "දීන් අල් තව්හීද්" යන්නෙන් අදහස් වන්නේ මෙම ආගම අල්ලාහ්ගේ ඒකීයත්වය පිළිබඳ විශ්වාසය පදනම් වූ ආගමක් බවය. "දීන් අල් ෆිත්රා" යන්නෙන් අදහස් වන්නේ මෙම ආගමේ ස්වභාවයයි. මෙම ආගම මිනිස් ස්වභාවයට එකඟ වූ ආගමකි. ඉස්ලාම් ඒක දෙවියන්ගේ ආගම බව පැවසේ මක් නිසා ද යත් එහි ප්‍රධාන තේමාව දෙවියා ඒකයා යන්නය. දෙවියන්ගේ ඒකීයත්වය පිළිබඳ සිද්ධාන්තය අල්කුර්ආනය විසින් නැවත නැවත අවධාරණ කරන ලද සිද්ධාන්තයකි.

ලොව ඉස්ලාමය හඳුන්වා දෙනු ලැබූ අවධියේ දී බහුතර ජනයා පිළිම වන්දනාවේ යෙදෙන අය වූහ. සමහර ආගම් දෙවියන්ගේ ඒකීයත්වය ගැන අනුශාසනා කළ ද එය ඉතා රහසින් හා අඩු වශයෙන් සිදු කෙරුණි. තවත් සමහරු දෙවියන්ට මිනිස් ගති ආරෝපණය කර පිළිම සාදා වැඳුම් පිදුම් කළහ. අලුතින් ලැබුණු දේව පණිවිඩයේ ඇතුළත් වූයේ පිළිම වන්දනාකරුවන් යහමග යවන ලෙස හා දෙවියන්ගේ ඒකීයත්වය

වටා වැසී තිබුණු අඳුරු සංකල්පනා ඉවත් කරන ලෙස ය. ස්වභාවධර්මයේ ආගම ලෙස ඉස්ලාමය හඳුන්වනු ලබන්නේ, එහි ඉගැන්වීම මිනිසාට පිළිගත හැකි ඒවා වීමයි. ඒ සඳහා මිනිස් සිත තර්කානුකූල නොවූ සිතුවිලි වලින් හා අලෞකික බලපෑම් කෙරෙහි ඇති විශ්වාසයන්ගෙන් තොර විය යුතු ය.

මුහම්මද් වක්තෘන් තුමා මෙසේ පැවසූ හ.

"සෑම මිනිසාම ඉපදී ඇත්තේ පාරිශුද්ධ භාවයකින් ය. එහෙත් ඔහුගේ දෙමාපියන්ගේ බලපෑම නිසා ඔහු මුස්ලිම් නොවන්නෙකු වන්නේ ය".

අයකු තර්කානුකූල නොවන සිතුවිලි වලින් බැහැර වූ විට ඔහුට විශ්වාසයේ ක්‍රමවත්භාවය වටහා ගැනීමෙන් ඉතා පහසුවෙන් සාධාරණ තීරණයකට එළඹිය හැකි ය. ඔහුට විශ්වයේ මැවුම්කරුවා එක් අයෙකු බව වැටහෙන්නේ ය. වසර බිලියන 4 ක් පමණ පැරණි මෙම විශ්වය අනන්ත වූ පැරණි නිර්මාතෘවරයෙකු විසින් මැවූ බව කරන ඉගැන්වීම පහසුවෙන් අපට පිළිගත හැකි ය.

එහෙත් විශ්වය මවා වසර බිලියන 4 ක් ගත වීමෙන් පසුව උපන් අයෙකු විසින් එම මැවුම්කරුවා හඳුනා ගැනීම එතරම් පහසු හෝ සරල කාර්යයක් නම් නොවේ. මෙම විශ්වය මැවූ මැවුම්කරුවා ඉතාමත් සාධාරණ අපක්ෂපාති කරුණාවන්ත අයකු බව විශ්වාස කරන ලෙස අපට කරන කැඳවීම පිළිගත හැකි කරුණකි. එවැනි කරුණාබරිත, සාධාරණ මැවුම්කරුවා, කිසිදු ආත්මයකට තවත් අයකුගේ අකුසල් වෙනුවෙන් දඬුවම් පමුණුවන්නේ නැත. එසේ ම කිසිදු අයකු අන් අයකුගේ පව් වෙනුවෙන් දුක් විඳීම ද ඔහුට අවශ්‍ය දෙයක් ද නොවේ. ඉස්ලාමීය ඉගැන්වීම් මිනිස් සිතක් පිළිගන්නේ එම මිනිස් සිත තර්කානුකූල චින්තනයට හුරු වූ විට ය. ඉස්ලාම් ස්වාභාවික ආගමක් ලෙස හඳුන්වනුයේ මේ නිසා ය.

# විමසුම - 03

## ඉස්ලාම් ධර්මය ප්‍රසිද්ධ වී ඇත්තේ ඇයි ?

විල්සන් :- ඉස්ලාම් ධර්මය මුල් කාලයේ දී ආසියාව, අප්‍රිකාව හා යුරෝපය යන ප්‍රදේශවල ඉතා වේගයෙන් පැතිරුණු බව ඉතිහාසය සාක්කි දරයි. සැබැවින් ම කිසිදු ආගමක් මෙතරම් වේගයෙන් පැතිරුණේ නැත. ඉස්ලාම් ආගමේ සුවිශේෂ ලක්ෂණ කිහිපයක් නිසා මෙසේ වූවා යැයි සිතිය හැකිය. ඉස්ලාම් ආගමේ සීඝ්‍ර වර්ධනයට හේතු වූ සාධක ගැන මම දැන ගැනීමට කැමතියි.

විර්රි :- ඉස්ලාම් ධර්මයේ ව්‍යාප්තියට හේතු වූ හා හේතුවන සාධක රැසක් ඇත. ඒවා අතර වැදගත් සාධක කීපයක් පහත සඳහන් කරන්නෙමි.

1. ශුද්ධ වූ අල්කුර්ආනය
2. ඉස්ලාම් ධර්මයේ වක්තෘන් වහන්සේගේ පෞරුෂය
3. මුල් කාලීන මුස්ලිම්වරුන්ගේ දැඩි විශ්වාසය.
4. ඉස්ලාමීය මූලධර්ම සතු ආකර්ෂණීය බව. මේවා කාලීන තාර්කික හා පැහැදිලි මූලධර්ම වීම.
5. ඉස්ලාමයේ මූලධර්ම ස්ථිරවූ හා සිත් ගන්නා ස්වභාවයේ ඒවා වීම.

6. ඉස්ලාමීය මූලධර්ම ජීවිතයේ සියලු අංශයන් කෙරෙහි ධනාත්මක ආකල්ප දැරීම.

7. ඉස්ලාම් ධර්මයේ මූලධර්ම සර්වත්‍ර ඒවා වීම.

## 1. ශුද්ධ වූ අල්කුර්ආනය

අල්කුර්ආනය ජීවමාන ග්‍රන්ථයක් යන්න ගැන කිසිදු සැකයක් නැත. එය එහි අලංකාර රටාව හා විලාසය නිසා දස දහස් ගණන් ජනයා කෙරෙහි බලපා ඇත. එය අදද අභියෝගාත්මකවීම එහි ශ්‍රේෂ්ඨත්වයට හේතුවයි. එයට සමාන වූ කෘත්‍යයන් ඉදිරිපත් කරන ලෙස එහි විරුද්ධවාදීන්ට අභියෝග කර ඇත. එවැනි කෘත්‍යයක් ඉදිරිපත් කළ වහාම ඉස්ලාමීය විශ්වාසයන් සියල්ල ඉබේම අවලංගු වන බව ද පවසා ඇත. එය 7 වන සිය වසරේ පහළ වූ අවස්ථාවේ පටන් අද දක්වාම අන් සියලු අරාබි සාහිත්‍යයන්ට වඩා ඉහළ මට්ටමක පවතී. එනම් ඉස්ලාමීය විශ්වාසයේ මහඟු ආකර්ෂණීය වස්තුව ලෙස එය පහළ වූ දා සිට අද දක්වාම පවතී.

## 2. ඉස්ලාම් ධර්මයේ වක්තෘන් වහන්සේගේ පෞරුෂය

ඉතිහාසයේ සඳහන් ආදර්ශමත් පුද්ගලයා ලෙස මුහම්මද් තුමා ඉපදුනේය. ඔහුගේ ජනයා අතර, ඔහුගේ උපත, පැවත්ම හෝ ජීවිතය වසන් කරන කිසිවක් නොවීය. අන් කිසියම් වක්තෘවරයෙක් ආගමික ඉතිහාසයේ කොටස් කරුවෙකු ලෙස සලකනු ලැබුවා නම්, මුහම්මද් තුමා ආගමික මෙන්ම ලෝක ඉතිහාසයේ ද කොටස්කරුවෙකි. මක්කා නගරයේ විසූ ප්‍රසිද්ධ පවුලකට දාව උපත ලබා අල්ලාහ්ගේ වක්තෘන් ලෙස පත්කරනු ලැබීමට පෙර අවුරුදු 40 ක් මුළුල්ලේම සිය ජනතාව සමඟ එතුමා වාසය කළේ ය. එතුමාගේ ළමා කාලය හා තරුණ කාලය ගැන ජනතාව හොඳින් දැන සිටියහ. එතුමා අවංකත්වයේ හා උතුම් ගුණාංගවල ආදර්ශයක් වූ බව එතුමා ඇසුරු කළ අය විසින් දක්නා ලදහ. එතුමා කෙරෙහි කිසිදු වරදක් ඔවුන් නුදුටුහ. සත්‍යවාදියා, විශ්වාස වන්තයා යැයි ඔවුන් එතුමා හඳුන්වූහ.

මුහම්මද් තුමා හුදකලාව ජීවත් නුවූයේ ය. එතුමා නිතර ජනයා සමඟ සම්මිශ්‍රව කල් ගෙවූහ. ව්‍යාපාරිකයකු වශයෙන්

මුහම්මද් තුමා නිතර දේශ සංචාරයෙහි යෙදුණු අතර සමාජයේ විවිධ මට්ටමේ පුද්ගලයන් සමඟ ඇසුරු කළේය. එහෙත් පොදු සමාජයේ සාමාන්‍ය ආශාවන්ට හෝ ලෞකික පැතුම්වලට නම්‍ය නුවූයේ ය. එතුමා ජීවත් වූයේ මිත්‍යාදෘෂ්ටික බහුපිළිම වන්දනාවේ යෙදෙන්නන්ගේ සමාජයක ය. එතුමා ඔවුන්ගේ අදහස්වලට දායකවූයේ හෝ ඔවුන්ගේ විශ්වාසයන්ට බැඳුනේ හෝ නැත. තමාටම සීමා වූ ලෝකයක ජීවත් වූ එතුමා මිතුරන්ගේ මෙන් ම විරුද්ධවාදීන්ගේ ද ගෞරවයට පාත්‍ර විය. එතුමාගේ අනුගාමිකයන් විසින් එතුමා අනුගමනය කරනු ලැබූ තරමට ඉතිහාසයේ අන් කිසිදු වක්තෘවරයෙක් තම සහචරයන් විසින් ගරුබුහුමන් කරනු ලැබුවේ හෝ අනුගමනය කරනු ලැබුවේ නැත.

## 3. මුල් කාලීන මුස්ලිම්වරුන්ගේ දැඩි විශ්වාසය.

එතුමන් සතු වූ අසීමිත අවංකත්වය හා අවධාරණයට ලක්වීමේ පෞරුෂය නිසා මුහම්මද් තුමා වෙත එතුමන්ගේ අනුගාමිකයන් අසාමාන්‍ය ලෙස විශ්වාස තැබූහ. එයට හේතු වූයේ ඔවුන් එතුමන්ගේ ආදර්ශමත් ජීවිතය සෘජුවම දැකීමයි. මූසා තුමාගේ අනුගාමිකයන්ට ජෙරුසලමයට ඇතුළු වන ලෙස අණ කළ අවස්ථාවේදී ඔවුන් එය ප්‍රතික්ෂේප කළ බව ඉතිහාසය සාක්ෂි දරයි. එසේ ම මූසා තුමාට හා ඔහුගේ හිමියාට සතුරන් සමග සටනට යන ලෙස ඔවුන් කීහ. එසේ ම ඊසා තුමා අර්බුදයට මුහුණ දුන් අවස්ථාවේ දී එතුමාගේ අනුගාමිකයන් එතුමා තනි කළහ. එතුමාගේ ගෝලයින් පවා එතුමා අතහැර ගියහ. එම අභාග්‍යවන්ත රාත්‍රියේ දී එතුමාගේ ප්‍රධාන ශිෂ්‍යයා පවා තුන් වරක් එතුමා ප්‍රතික්ෂේප කළේය. මීට සමාන සිද්ධීන් බොහෝ වක්තෘන්ගේ ජීවිතවල දක්නට ඇත.

ඔවුන්ගෙන් කිසිවෙකු අර්බුදයන්ට මුහුණ දුන් අවස්ථාවල දී ඔවුන්ගේ අනුගාමිකයන් විසින් ආරක්‍ෂා කරනු නොලැබූ හ.එහෙත් මුහම්මද් තුමාගේ ශිෂ්‍යයන් මීට හාත්පසින්ම වෙනස් අය වූහ. එතුමා මක්කාවේ සිටි කාලයේ දී එතුමා හා එතුමාගේ අතලොස්සක් වූ අනුගාමිකයන් දුර්වල මෙන් ම කිසිදු හව්හරණක් නොමැති අය වූහ. එහෙත් කිසිදු මොහොතක ඔවුන් එතුමා තනි කළේ හෝ ප්‍රතික්ෂේප කළේ නැත. මුස්ලිම්වරුන්ගේ මෙම

ක්‍රියා කලාපය ඉස්ලාමය කෙරෙහි හා මුහම්මද් නබිතුමා කෙරෙහි ඔවුන් තුළවූ භක්තිය හා විශ්වාසය මනාව තහවුරු කරයි. ඔවුන් සියල්ලන් ම ඉස්ලාමය දේශනා කරනු ලැබ සිටි අතර ඔවුන්ට දේශනා කරනු ලැබූ ආකාරයට ඔවුන් ඒවා පිළිපැද්දහ. එම අවංක මුස්ලිම්වරු ක්‍රියාවෙන් මෙන්ම වචනවලින් ද එකසේ තම සහාය දැක් වූහ.

## 4. ඉස්ලාමීය මූලධර්ම සතු ආකර්ෂණීය භාවය හා ඒවා කාලීනවූ ද තර්කික වූ ද පැහැදිලි වූ ද ඒවා වීම.

ගැඹුරින් කල්පනා කර බැලූ විට පහත ආගමික ප්‍රකාශනවල සත්‍යතාවයන් මනාව පැහැදිලි වන්නේ ය. මුළු විශ්වය මවා පාලනය කරන සර්ව බලධාරියා හැර අන් දෙවියකු නැත. ඔහු හැර අන් කිසිවෙකු නැමදුම සඳහා සුදුස්සෙකු ද නොවේ ඔහුය හිමියා, ඔහුට සහායකු හෝ කොටස්කරුවකු පුතකු හෝ නැත. ඔහුට ඉපදීමක් හෝ ඔහුගෙන් උපදවනු ලැබීමක් නැත. කිසිවෙක් ඔහුට සමාන නොවේ. ඔහු සර්ව සාධාරණය, කරුණාවන්තය, බලවන්තය, මිනිස්ගති හෝ මිනිස් කායික ව්‍යුහ හෝ ඔහුට නැත. මුළු විශ්වයම වටා ඔහුගේ බලය පවතින්නේ ය.

ලෝකයේ පැවැත්ම පිළිබඳ පිළිගත හැකි පැහැදිලි කිරිමක් බලාපොරොත්තු වන මිනිස් සිතට මෙවැනි සරල වූ ද අවුලකින් තොර වූ ද එක දේව වාදය පහසුවෙන් කාවදින්නේ ය.

මෙය දෙවියා ඒකයා ය. එහෙත් ඔහු එකට වැඩිය යන කියමන මෙන් මිනිස් සිත අවුල් කරන ප්‍රකාශයක් නොවේ. එසේ ම දෙවියා මිනිසෙකු නියෝජනය වන, තවත් මිනිසෙකුගෙන් උපත ලැබූවේය යන අවුල් සහිත ප්‍රකාශය ද නොවේ.

## 5. ඉස්ලාමයේ මූලධර්ම ස්ථිරවම හා හිත් ගන්නා ස්වභාවයෙන් යුක්ත වීම

මෙහි මූලධර්ම අතර එකිනෙක ප්‍රතික්ෂේප වීමක් ද සත්‍ය වූ වෙනත් මූලධර්ම මගින් ප්‍රතික්ෂේප කිරිමක් ද නැත. ක්‍රිස්තියානි දහම යුදෙව් දහම ඉස්ලාමය යන සියල්ල අල්ලාහ්ගේ සාධාරණත්වය යන මූලික සත්‍යයය ගැන කරුණු දක්වයි. එහෙත්

ඒවා මුලුමනින් ම දක්වා ඇත්තේ ඉස්ලාම් ධර්මයේ ය. එසේ ම එය සියලු ආකාරයෙන් පිළිගනු ලබනු ඇත. මෙම මූලික සිද්ධාන්ත මත තවත් බොහෝ ආගමික සංකල්ප ගොඩ නැගී ඇත. ඒ සියල්ලෙහි සාධාරණය යන සංකල්පය වෙන් කළ නොහැකි අයුරින් සංමිශ්‍රය. අල්ලාහ් සාධාරණ හා යුක්තිගරුක වන නිසා, ඔහු විසින් කිසිදු ජීවියෙකුට කළ නොහැකි යමක් කිරීමට බල කරන්නේ නැත. ඉතාම සාධාරණ වූ අය තවත් අයකුව ඔහුට කළ නොහැකි දෙයක් සම්බන්ධයෙන් වගකීමට බල කරන්නේ නැත. ඔහු තම පියා හෝ මුත්තා කළ වරදට පුද්ගලයෙකුට දඬුවම් පමුණුවන්නේ නැත. එසේ වන්නේ එම පුද්ගලයාට තම පියාගේ හෝ මුත්තාගේ ක්‍රියාකාරකම් පාලනය කළ නොහැකි නිසා ය.

එසේම මිනිස් සංහතිය ඉපදීමට පෙර සිදු වූ කාර්යක් සඳහා මිනිස් සංහතියට වග කීමට අල්ලාහ් බල නොකරන බව ද ඉස්ලාම් අපට ප්‍රකාශ කරයි. එවැනි ක්‍රියාවක් දෙවියන්ගේ සාධාරණත්වය පිළිබඳ සංකල්ප වලට පටහැනි වූවකි. මිනිස් සංහතියට මූලික පාපය ගැන වග වීමට සලස්වනු වෙනුවට ඉස්ලාමය පවසන්නේ සෑම මිනිසා ම ඉපදී ඇත්තේ පව්වලින් තොර පිරිසිදුව බව ය. ඔහු වැඩිහිටියෙකු වී පාප කාර්යයන්වල නිරත වනතෙක් මෙම අයුරින් ම ඔහු සිටී.

## 6. මිනිස් ජීවිතයේ සියලු අංගයන් කෙරෙහි ඉස්ලාමීය මූලධර්ම ධනාත්මකව සලකයි.

අන් බොහෝ ආගම් මෙන් නොව ඉස්ලාම් ආගම මිනිස් ජීවිතයේ ආධ්‍යාත්මික මෙන් ම ලෞකික යන කරුණු දෙක කෙරෙහි අවධාරණය කරයි. ඉස්ලාමයට අනුව, මිනිසා සිය ජෛවීය අවශ්‍යතා අමතක කළ යුතු නොවේ. නැතහොත් ඔහුගේ නිසඝ ගතිය වන මෙවැනි ජෛවීය අවශ්‍යතාවලට ප්‍රතිචාර දැක්වීම හා අපගේ ආධ්‍යාත්මික දියුණුව අතර ගැටුමක් ද නැත. ඇත්තෙන් ම මෙම දෙ පැත්ත එකිනෙක මත යැපෙන ඒවා ය. ඒවා බොහෝ අවස්ථාවල දී එක්නෙක සමඟ සම්බන්ධ වේ. එසේම ඒවාට බොහෝ විට ඒකාබද්ධව පැවතිය හැකිය.

අවශ්‍ය ආහාර, නිවහන හා උණුසුම නොමැති පුද්ගලයෙකුට භාවනාවේ යෙදීම, කැපවීමකින් දේව මෙහෙයක යෙදීම හෝ

අනිකුත් මිනිසුනට යහපතක් කිරීම අසීරුවූ කරුණකි. එහෙත් මුලින් සඳහන් කළ අවශ්‍යතා සම්පූර්ණ වූ විට මිනිසාට පහසුවෙන්ම සිය දෙවියන් කෙරෙහි යොමු විය හැකි ය.එමනිසා ශාරීරික අවශ්‍යතා කෙරෙහි හොඳින් යොමුවීම ආගමික වගකීම්වල කොටසක් වන්නේ ය. ඉස්ලාමීය දෘෂ්ටිය අනුව ආගමක් යනු ජෛවීය අවශ්‍යතාවයන් යටපත් කිරීම සඳහා යොමු වූ කරුණක් නොවේ. එය පුද්ගලයින් තුළ යහපත් ගුණාංග වැඩි කිරීමටත්, පුද්ගලයා තමාට හෝ සමාජයට අනර්තකාරී වීමෙන් වැළකීමටත් වෑයම් කරයි.

## 7. ඉස්ලාම් ධර්මයේ මූලධර්ම සාර්වත්‍ර ඒවා වීම.

කලින් සිටි සියලු වක්තෘන්වරුන් පිළිගැනීම නිසා සහ සියලු මිනිස් වර්ගය සමාන කොට සැලකීම නිසා ඉස්ලාමීය ඉගැන්වීම සාර්වත්‍ර බව පැවැසිය හැකි ය. ඉස්ලාමයේ උපතේ පටන් එය සාර්වත්‍ර බව රැකගෙන ඇත. එය මුළු මනුෂ්‍ය වර්ගයාටම කතා කරනවා මිස ජාතියකට හෝ ජනවර්ගයකට හෝ කතා කරන්නේ නැත. සෑම මිනිසෙක් ම මෙම අතිමහත් මිනිස් පවුලේ සාමාජිකයන් ය. අල්ලාහ් විසින් පුද්ගලයෙක් හෝ ජාතියක් හෝ විශේෂ කොට මවා නැති අතර ඔවුන් උපත නිසා හෝ ජාතිය නිසා හෝ ධර්මයක් පිළිගන්නා නිසා හෝ විශේෂ කොට සලකනු ලබන්නේ ද නැත. අල්ලාහ්ගේ දෘෂ්ටිය අනුව සෑම මිනිසෙකු ම සමාන ය. ධර්මිෂ්ඨ වූ සෑම දෙනාටම අල්ලාහ්ගේ රාජධානියට පිවිසීමට අයිතිය ඇත.

සත්‍යයක් තවත් සත්‍යයක් මඟින් ප්‍රතික්ෂප කෙරෙන්නේ නැත. ඉස්ලාම් පවසන්නේ එකම එක අල්ලාහ්ගේ ආගමක් පමණක් ඇති බව ය. එය විවිධ කාල වකවානුවල දී මිනිස් වර්ගයාට තම පණිවුඩය කීමට අල්ලාහ් විසින් බලය පවරා ඇති වක්තෘන්වරුන්ට පහළ කරන ලදි සර්ව බලධාරි අල්ලාහ් විසින් කිසියම් එක් මූලධර්මයක් එක් වක්තෘන් වහන්සේට ද එයට පටහැනි තවත් මූල ධර්මයක් තවත් වක්තෘන් කෙනෙකුට ද පහළ කරන ලදයි සිතීම පිළිගත හැක්කක් නොවේ. සර්ව බලධාරි අල්ලාහ් විසින් තම දෛවීය සිද්ධාන්තයන්, අණ පනත්, හා නීති, මිනිස් ශිෂ්ඨාචාරයේ විවිධ වකවානුවලදී පහළ කළේ එම

අවධියේ විසූ ජනයාගේ අවබෝධ කර ගැනීමේ හැකියාව අනුව ය. පසු කාලීන ව පහළ කරනු ලැබූ කරුණු කලින් පහළ කරනු ලැබූ කරුණකට අමතර එකක් වූවා මිස ප්‍රතික්ෂේප කරන කරුණක් නොවූයේ ය. එහෙයින් සෑම මුස්ලිම්වරයෙකු විසින් ම ඊසා නබි තුමා මූසා නබි තුමා හා අනෙත් සියලු සැබෑ වක්තෘවරුන්ට හා ඔවුන්ගේ සැබෑ ඉගැන්වීමට ගරු කළ යුතු බව ඉස්ලාම් අවධාරණය කර ඇත.

එනම් මෙසේ පවසා ඇත.

**අපි අල්ලාහු ගැන ද, අප වෙත පහළ කළ දෑය ගැනද, ඉබ්‍රාහීම්, ඉස්මායීල්, යාකුබ් හා ඔවුන්ගේ ගෝත්‍රිකයනට පහළ කළ දෑය ගැන ද, මූසාටත්, ඊසාටත් දෙන ලද දෑය ගැන ද, නබිවරුනට ඔවුන්ගේ ස්වාමිහුගෙන් දෙන ලද දෑය ගැන ද, විශ්වාස කෙළෙමු. අපි ඔවුන් (ඒ නබිවරුන්) කිසිදු කෙනෙකුන් අතර වෙනසක් නො කරමු. අපි ඔහුට කීකරුවූවෝ වෙමු යි කියවූ. (අල්-කුර්ආනය 2:136)**

ඉස්ලාමයේ මුල් කාලයේදී මුස්ලිම්වරු සමග කිට්ටු සම්බන්ධතා පැවත් වූ ක්‍රිස්තියානිවරු, ඊසා නබි තුමා කෙරෙහි මුස්ලිම්වරු ඉමහත් ගෞරවයක් දක්වන බව නිරීක්ෂණය කළහ.

මෙහි ප්‍රතිඵලය වශයෙන් ඔවුන් දසදහස් ගණනින් ඉස්ලාමය වැළඳ ගත්හ. ඔවුන් එසේ කළේ ඊසා තුමා ප්‍රතික්ෂේප කිරීමට නොව එතුමාගේ සත්‍ය දේශනා තර්කානුකූල ව ඉස්ලාමීය ඉගැන්වීම්වල දක්නට තිබූ නිසාය.

**විල්සන් :- ක්‍රිස්තියානින්ගේ පුරුද්දක් වූ ආගම පැතිරවීම සඳහා මිසනාරිවරු යැවීමේ පුරුද්ද ඉස්ලාම් දහම අනුගමනය කරන්නේ ද?**

**චිර්රි :-** ක්‍රිස්තියානිවරුන්ගේ මෙන් ඉස්ලාමය ද ඉස්ලාම් නොවන අය වෙත තම සිද්ධාන්ත පැහැදිලි කරමින් ඉස්ලාමය වෙතට කැඳවයි. එහෙත් කිසි කලෙකත් ඉස්ලාමය ආගම පැතිර වීම සඳහා මිසම් සංවිධාන කළේ නැත. මුස්ලිම් නොවන කෙනෙකු ඉස්ලාමය ඉගෙන ගැනීමට උනන්දුවක් දැක්වූ විට ඔහුගේ

අවශ්‍යතාවය ඉටු කිරීම සෑම මුස්ලිම් වරයෙකුම තම යුතුකම ලෙස සැලකුවේ ය. මෙම කාර්යය සංවිධානාත්මක මීසමක කාර්යයන් වෙනස් වුවකි. ඉස්ලාමයේ පූජක පක්ෂයක් නොමැති වීම ක්‍රිස්තියානි ආගමේ මෙන් මීසම් සංවිධාන නො කිරීමට හේතු වුවා විය හැකි ය. අනෙක් කරුණ වන්නේ මිසනාරි වරුන් නොමැති ව වුවද ඉස්ලාමය පැතිරේ යැයි බොහෝ මුස්ලිම්වරු විශ්වාස කිරීමයි. මෙවැනි විශ්වාසයට හේතුවූයේ එතරම් දැඩි වෙහෙසක් නොමැති ව ඉස්ලාම් දහම පැතිර යෑමයි.

බොහෝ රටවල දසදහස් ගණනින් මිනිසුන් ඉස්ලාමය වැළඳ ගත්තේ සංවිධානාත්මක මිෂනාරි ක්‍රියාව නිසා නොව ඔවුන්ට හමුවූ මුස්ලිම්වරුන්ගේ ස්ථිර ප්‍රතිපත්ති හා ආදර්ශමත් ජීවිත රටාව නිසා ආකර්ෂණය කරනු ලැබූ නිසා ය. එම මුස්ලිම් වරු ආගම පිළිබඳ තොරතුරු අනෙකුත් මිනිසුන්ට දැන්වූයේ කිසියම් බලධාරින් ඔවුන්ව මිෂනාරිවරු වශයෙන් යවා තැබීම නිසා නොව ඉස්ලාමය ඉගැන්වීම සෑම මුස්ලිම්වරයෙකුගේ ම යුතුකම ලෙස ඔවුන් සැලකූ නිසා ය.

මම කිහිප වතාවක් ම බටහිර අප්‍රිකාවට ගොස් ඇත්තෙමි. එහි ක්‍රිස්තියානි මිෂනාරි සමාගම් රැසක් ම දුටු නමුත් එකද සංවිධානාත්මක මුස්ලිම් මීසමක්වත් දුටුවේ නැත. එහෙත් මේ සම්බන්ධයෙන් ඇති වැදගත් ඒකමැතික තීරණය වනුයේ එම ප්‍රදේශවල ඉස්ලාම් දහම ක්‍රිස්තියානි ධර්මයට වඩා වේගයෙන් පැතිරෙන බවය.

**විල්සන් :- ලොව පුරා ඇති ක්‍රිස්තියානි මිෂනාරි සංවිධානවල සංඛ්‍යාව ගැන ඔබට අදහසක් තිබේ ද?**

චිර්රි :- 1961 අප්‍රේල් 02 ඉරිදා ඩෙට්රොයිට් නිව්ස් අනුව ලොව පුරා ඇති ක්‍රිස්තියානි මිෂනාරි සංවිධානවල සංඛ්‍යාව 212,250 කි. මෙයට 170,000 වූ කතෝලික මිෂනාරි සංවිධාන ද ඇතුළත් ය. මෙම අතිමහත් මිෂනාරි හමුදාවට ලොව පුරා ඇති ආගමික සංවිධාන මගින් වාර්ෂිකව ඩොලර් බිලියන ප්‍රමාණයක් වියදම් කරයි. මේ සමඟ සසඳා බලන විට ලොව පුරා ඇති ඉස්ලාමීය තොරතුරු මධ්‍යස්ථාන දහස් ගණනකි. ක්‍රිස්තියානි මිෂනාරි

සංවිධානවලට ලැබෙන කිසිම ආකාරයේ මුදල්මය ආධාර මෙම සංවිධානවලට ලැබෙන්නේ නැත. ඔවුන්ගේ කාර්යය වනුයේ ඉස්ලාමය පිළිබඳව දැනගැනීමට අවශ්‍ය කරන අයට හැකි අයුරින් ඉස්ලාමය පිළිබඳව දැනුවත් කිරීමයි.

**විල්සන් :- ඉස්ලාමය සතු ලිහිල් ප්‍රතිපත්තිය එය පැතිරීමට හේතු වූ ගුණාංගය බව සමහරු දක්වනවා. ක්‍රිස්තියානි දහම එහි අනුගාමිකයන්ට පවරා ඇති වගකීමට අඩු වගකීමක් මුස්ලිම්වරු වෙත ඉස්ලාමය දක්වන බව ඔවුන් පවසනවා මේ පිළිබඳ ඔබගේ අදහස කුමක් ද?**

**විර්රි** :- ඔබගේ මේ ප්‍රකාශය වැරදි බව මම හිතනවා අනෙක් බොහෝ ආගම් එහි අනුගාමිකයන් කෙරෙහි පවරා ඇති වගකීමට වඩා වැඩි වගකීමක් ඉස්ලාම් දහම එහි අනුගාමිකයන් කෙරෙහි දක්වනවා. ඉස්ලාමය එහි අනුගාමිකයන්ට දිනකට පස්වතාවක් නැමදින ලෙස බල කරයි. හිරු උදාවට පෙර, මධ්‍යාහ්නයේ, සැන්දෑවේ ඉර බසින විට හා සවස වශයෙන් දිනකට පස් වතාවක් නැමදිය යුතු ය. රමාලාන් මාසයේ දින 30 ක් එකදිගටම උපවාසයේ යෙදෙන ලෙස මුස්ලිම්වරු අණ කරනු ලැබ සිටිති. උපවාසයේ යෙදෙන කාලයේ හිරු උදාවේ සිට හිරු බැස යන තෙක් කෑමෙන් බීමෙන් පමණක් නොව දුම්පානයෙන් ද වැළකී සිටිය යුතුය.

ශාරීරික වශයෙන් හා ආර්ථික වශයෙන් ශක්තිමත් සෑම පුද්ගලයෙකු ම ජීවිතයේ වරක්වත් මක්කමට හා අදාළ ශුද්ධ වූ ස්ථානවල ට වන්දනාවේ යෙදීමට ඉස්ලාමය බල කරයි. මෙම ගමනේ දී මිනිසා මසන ලද අඳුම් ඇතුළු සියලු ම ලෞකික සැප සම්පත් වලින් බැහැර වී සිටිය යුතු ය. තවද සෑම මුස්ලිම්වරයෙක් ම සිය ධනයෙන් නියමිත වූ කොටසක් දන් වශයෙන් දීම අවශ්‍ය වේ. මත්පැන් පානය හා සූකර මස් කෑම තහනම් කර ඇත. මෙම ක්‍රියාවන් නොවළහා පිළිපැදීම පහසු දෙයක් නොවේ. එහෙත් මෙයින් කිසිවක් ක්‍රියාත්මක කිරීම සම්බන්ධයෙන් කිසිදු ලිහිල් බවක් ඉස්ලාමය දක්වන්නේ නැත. සියලු ම මිනිසුන්ට සහෝදරත්වයෙන් සැලකිය යුතුය යන එහි ප්‍රතිපත්තියෙහි ද කිසිදු වෙනසක් නොමැත.

**විල්සන් :- යහපත් මුස්ලිම්වරුනට ඉස්ලාම් ස්වර්ගය සහතික කරයි. එහිදී සියලු ම ආකාරයේ සැප සම්පත් විඳීමට ඔවුනට අවස්ථාව ලබා දෙනු ඇත. මෙය සමහරු විවේචනය කරති. පොරොන්දු දීම අතින් ඉස්ලාමය ක්‍රිස්තියානි ආගම ඉක්මවන බවත් ඒ නිසා එය වැඩියෙන් මිනිසුන්ගේ හිත් ඇද ගන්නා බවත් මෙම විවේචකයෝ තවදුරටත් කරුණු දක්වති.**

විර්රි :- පොරොන්දුවක් වඩාත් හිත්ගන්නාසුලු වන්නේ එය විශ්වාසනීය මූලයකින් ලැබුණු විට ය. කීර්ති නාමයක් ඇති සමාගමක් වැඩි වැටුපක් ගෙවන රැකියාවක් පොරොන්දු වූ විට, එම රැකියාව භාර ගැනීමට පුද්ගලයින් ඉදිරිපත් වෙති. එහෙත් අවිශ්වාසවන්ත හෝ බංකොළොත් වූ සමාගමක් එවැන්නක් ඉදිරිපත් කළ විට කිසිවකු එය බාර ගැනීමට ඉදිරිපත් නොවන්නේ එහි ආර්ථික තත්ත්වය අස්ථාවර නිසාය.

එසේම අලුතින් ඉස්ලාමය වැළඳ ගත් පුද්ගලයෙක් ඉස්ලාමය කෙරෙහි විශ්වාසයක් නොමැත්තේ නම් මෙම පොරොන්දු කෙරෙහි පමණක් විශ්වාස කරමින් මෙතරම් වගකීම් හා යුතුකම් ඉටු කිරීමට ඉදිරිපත් වන්නේ නැත. අවිශ්වාසනීය මූලයකින් ඉදිරිපත් වන කිසිදු පොරොන්දුවක් ආකර්ෂණීය වන්නේ නැත. විශ්වාසයේ ප්‍රතිඵලය පොරොන්දුවේ ආකර්ෂණය මත රැඳී පවතී. එහෙයින් ඉස්ලාම් දහම මත ඇති විශ්වාසය රැඳී ඇත්තේ එහි පොරොන්දුවල ආකර්ෂණීය තත්ත්වය මතය.

**විල්සන් :- ඉතිහාසය අනුව මුල් කාලීන මුස්ලිම්වරු යුදකාමින් වූහ. මුස්ලිම්වරු හා මුස්ලිම් නොවන අය අතර සිරියාව, ඊජිප්තුව, උතුරු අප්‍රිකාව , ස්පාඤ්ඤය හා වෙනත් බොහෝ ස්ථානවල ගැටුම් ඇති විය. මේ අනුව සමහර විවේචකයන් ප්‍රකාශ කරන්නේ ඉස්ලාමය පතුරවන ලද්දේ උපදේශනයෙන් හා සාකච්ඡා මගින් නොව ආයුධ බලයෙන් බවය.**

විර්රි :- බලය යෙදීමෙන් සිරුර ජය ගත හැකි නමුත් මනස ජය ගත නොහැකි ය. ඇල්ජීරියානුවරු වසර සිය ගණනක් මුළුල්ලේ ප්‍රංශ ජාතිකයන් විසින් යටත් කර ගෙන සිටියත් ඇල්ජීරියානුවරුන් ඔවුන්ව පාලකයන් ලෙස පිළිගත්තේ නැත. අවස්ථාව ලද වහාම ඔවුන් තම ස්වාමිවරුනට විරුද්ධව නැගි

සිට, ඔවුන් යටපත් කළහ. ඉස්ලාමය බලයෙන් පැතුරවූ බව විශ්වාස කිරීම යුක්ති සහගත නොවේ. තනි පුද්ගලයෙකු වූ මුහම්මද් තුමා සිය දහස් ගණන් ජනයාගේ ආගම බලෙන් වෙනස් කරගන්නේ කෙසේ ද? ඉතිහාසය අනුව මුහම්මද් තුමා සිය ආගම දේශනා කරමින් වසර 13 ක් මක්කමේ ජීවත් වූහ. එම වකවානුවේදී ඔවුන් මක්කාවාසින්ගේ අඛණ්ඩ තර්ජනයට ලක් ව සිටියහ. ඉස්ලාමය වැළඳ ගැනීමට ඉදිරිපත් වූ ඕනෑම පුද්ගලයෙක් මක්කාවාසින් විසින් හෙලා දක තර්ජනය කරනු ලැබ දඬුවම් කරනු ලදි. එසේ වුවද ඉස්ලාමය වැළඳ ගන්නා අයගේ සංඛ්‍යාව දිනෙන් දින වැඩි විය. දඬුවමට ලක්කරුණු ලැබ සිටි මුහම්මද් තුමා මිනිසුන් බලෙන් තම ආගමට හරවා ගත්තේ යැයි සිතීම කිසි විටෙක සාධාරණ නොවේ.

කල්යත්ම මුස්ලිම්වරු සංඛ්‍යාවෙන් හා බලයෙන් ප්‍රබල වූහ. එම නිසා තමනට විරුද්ධව ක්‍රියා කළ අයට විරුද්ධ ව සටන් කිරීමට ඉදිරිපත් වූහ. ඇත්තෙන් ම ඔවුන් සටන් කළේ ඉස්ලාමය ආරක්ෂා කර ගැනිමට ය. අද ඉන්දුනිසියාවේ මුස්ලිම්වරු මිලියන 100 ක් ද බටහිර අප්‍රිකාවේ මිලියන ගණනක් වෙසෙති. මේ අය සියලු දෙනාම බලයෙන් ආගමට බඳවා ගත් අය යැයි සිතිම වැරදිය. මොවුන් ඉස්ලාමය වැළඳ ගත්තේ තමාට මෙම ප්‍රදේශවල දී වෙළදාම සඳහා පැමිණි සාමකාමි වෙළඳුන් හා උගතුන් ඇසුරෙනි. මුස්ලිම්වරු යුදකාමින් නොවුවා යැයි පැවසිය නොහැකිය. ඉස්ලාමය හා තම ජිවිතය රැක ගැනිම සඳහා ඔවුන් නොබියව ඉදිරිපත් වූහ. වහල් සමාජයක කිසිදු මතයක් හෝ දර්ශනයක් පැවතිය නොහැකි ය. මතයක් හෝ දර්ශනයක් වර්ධනය වීමට විශ්වාස කිරීමේ නිදහස පිළිගැනීමේ නිදහස හා කතාකිරීමේ නිදහස ආදිය අත්‍යවශ්‍යය ය. නීතියෙන් සහනයක් නොලද විට එම මතධාරීන්ට තම මතය දැරීමේ නිදහස රැක ගැනීම යුතුකම වන්නේය. තම එදිරිවාදින්ගේ තර්ජනයට ලක්වන වර්තමාන ජන සමාජයක් මෙන්ම පැරණි මුස්ලිම්වරුද තම නිදහස සඳහා සටන් කිරිමට ඉදිරිපත්වීම සාමාන්‍ය කරුණකි.

# විමසුම - 04

## විශ්වයේ නිර්මාණ ගැන ඉස්ලාමීය දෘෂ්ටිය

විල්සන් :- විද්‍යාවේ දියුණුවත් සමග විශ්වයේ මැවීම පිළිබඳ ව විවිධ ප්‍රශ්න මතු වන්නට ඇත. මේවාට විසඳුම් බයිබලයේ නැත. තවද සමහර අවස්ථාවල බයිබලයේ සඳහන් ප්‍රකාශන වර්තමාන විද්‍යා දැනුමට පටහැනි බවද දක්නට ඇත. ඉස්ලාම් දහම අනුව මෙම ප්‍රශ්නවලට විසඳුම් ලබා ගැනීමට පුළුවන් ද?විශ්වය ඉතා පැරණි බව ඔප්පු වී ඇත. එහි වයස අවුරුදු බිලියන ගණනින් තක්සේරු කර ඇත. එහෙත් බයිබලය අනුව එහි වයස අවුරුදු දහස් ගණනකි. ශුද්ධ වූ අල්කුර්ආනයේ විශ්වයේ වයස ගැන දක්වා ඇති අදහස කුමක් ද?

විර්රි :- විශ්වයේ වයස ගැන ශුද්ධ වූ කුර්ආනය විසින් අර්ථ දක්වා නැත. විද්‍යාව මගින් ද තවමත් එය නියත වශයෙන්ම දක්වා නොමැත. කාලය පිළිබඳව වසර මිලියන ගණනින් හෝ බිලියන ගණනින් සිතිය නොහැකි අවධියක පසු වූ මිනිසාට ඒ පිළිබඳව කරුණු කීමෙන් ඉස්ලාමය වැළකී සිටියේ ය. තරකා වසර අවුරුදු බිලියන ගණනකට ප්‍රථම බිහි වූ බව පැවසුවා නම් එදා මිනිසා ඉස්ලාමය ප්‍රතික්ෂේප කරනු ඇත. ඒ නිසා ඉස්ලාමය මේ පිළිබඳ ව කතා කිරීමෙන් වැළකී ඇත. ඔබ සත්‍යවාදී වීමට

ඔබ දන්නා සත්‍ය සියල්ල කීම අවශ්‍ය නොවේ. එහෙයින් විද්‍යාත්මක සොයා බැලීමට ඉඩ සලසමින් මේ පිළිබඳව ඉස්ලාම් කිසිවක් දන්වා නොමැත.

විල්සන් :- ආකාශ වස්තුවල සංඛ්‍යාව මිලියන හා බිලියන ගණනින් කීමට අද පුළුවන් වී ඇත. මෙහි ප්‍රමාණයන් අපට සිතා බැලීමට පවා බැරි තරමේ ඒවා ය. මෙතරම් සංඛ්‍යාවක් ආකාශ වස්තු මැවීමට අපට සිතාගත නොහැකි තරමේ පදාර්ථ ප්‍රමාණයක් අවශ්‍ය වන්නට ඇත. මේ ගැන කුර්ආනය දක්වන අදහස කුමක්ද?

චිර්රි :- මෙම ද්‍රව්‍ය මවනු ලැබුවේ එක්තරා වායු වර්ගයකින් බව අල්කුර්ආනය පවසයි. මෙය වර්තමාන සිද්ධාන්ත හා ගැලපේ. වර්තමාන සිද්ධාන්ත අනුව ආකාශ වස්තු මවනු ලැබුවේ හයිඩ්‍රජන් වායුවෙන් බව කියවේ. ශුද්ධ කුර්ආනයේ එය මෙසේ දක්වා ඇත.

**"පැසුළු ඔහු අහස දෙස බලා එකල එය දුමක් විය. එයට ද පොළොවටද "කීකරුවද හෝ බල කරනු ලැබ හෝ වරෙවු'යි කීවේය. අපි කීකරුවම එන්නෙමු'යි ඒ දෙක කීහ." (41:11)**

විල්සන් :- ශුද්ධ වූ කුර්ආනයේ මුලින් මවනු ලැබූ පදාර්ථය ගැන කරුණු කියා තිබේද?

චිර්රි :- එම වාෂ්ප හෝ එහි වූ අණු හා පරමාණු විශ්වයේ මුලින්ම පැවති ද්‍රව්‍ය බව ඉස්ලාමය දක්වයි. ශුද්ධ වූ අල්කුර්ආනයේ ප්‍රකාශ වන පරිදි අල්ලාහ් සියලුම ජීවීන් මැවුයේ ජලයෙන් ය.

"අහස් පොළොවද බද්ධව තිබී අපි ඒ දෙක දෙබෑ කෙළෙමු. තව දිවි ඇති සියලු දෑය ජලයෙන් අපි නිර්මාණය කෙළෙමුයි විශ්වාස නොකරන අය නොදනිත් ද? එහෙයින් ඔවුහු විශ්වාස නොකෙරෙත් ද? " (21:30)

අල්ලාහු සියලු සතුන් ජලයෙන් නිර්මාණය කෙළේ ය. බඩගා යන දෙය ඔවුන්ගෙන් ය. දෙපය මත ගමන් කරන දෑන්

ඔවුන්ගෙන් ය. සතර මත ගමන් කරන දෑය ඔවුන්ගෙන් ය. අල්ලාහු ඔහු සිතූ දෙය නිර්මාණය කරන්නේ ය. ඇත්තෙන්ම අල්ලාහු සියලු දෑය කෙරෙහි බලසම්පන්න ය." (24:45)

## මැව්මේ අනුපිළිවෙල

**විල්සන් :- විශ්වයේ මැවීමේ අනුපිළිවෙල ගැන කියන බයිබලයේ ජෙනිසිස් පොතෙහි සඳහන් කරුණු වලට ඉස්ලාමය එකඟ වන්නේ ද?**

**චිර්රි** :- අල්කුර්ආනයේ මැවීමේ අනුපිළිවෙල ගැන ප්‍රකාශනයක් නොමැත. එහෙත් ජෙනිසිස්ග්‍රන්ථයේ පළමු පරිච්ඡේදය සමග එකඟ නොවන්නේ එහි පරස්පරතාවයන් ඇති නිසාය.

**විල්සන් :- ඔබ කියූ ඒ පරස්පරතාවයන් ගැන මට උදාහරණ දෙන්න.**

**චිර්රි** :- පහත උදාහරණ බලන්න.

1. "ආලෝකය ඇති වේවායි පැවසූ විට ආලෝකය ඇති විය. එවිට දෙවියන් විසින් ආලෝකය යහපත් බව දක්නා ලදී එවිට දෙවියන් විසින් ආලෝකය අඳුරෙන් වෙන් කරන ලදී. ආලෝකයට දහවල් යැයිද අඳුරට රාත්‍රිය යැයි ද නම් කරන ලදී. තවද දවසක උදසන හා සැන්දෑව ද විය ජෙනෙසිස්" 1:3-5

මේ ප්‍රකාශය අනුව ප්‍රථමයෙන් මවන ලද්දේ දහවල් හා රාත්‍රිය බව දෑක්වේ.

එහෙත් රෑ දවල් ඇති වූයේ ඉර මැවීමෙන් පසුව ඉර නැඟීම හා බැසීම නිසා බවත් අද අපි දන්නෙමු. එම පරිච්ඡේදයෙන්ම 14 වන වගන්තිය අනුව ඉර මවන ලද්දේ හතරවන දවසේ බව දෑක්වේ

දහවල් කාලය රාත්‍රියෙන් වෙන් කිරීම සඳහා අහසේ ආලෝකය ඇති වේවායි දෙවියා කීය. ඒවා ඍතුවල දිනවල හා වසරවල සංකේත වෙවායි ඔහු තවදුරටත් කීය. පොළවට

ආලෝකය දීම සඳහා ස්වර්ග අහසේ එම ආලෝකය පවතීවායි කීවිට එය එසේම විය. දෙවියන් ආලෝක දෙකක් මැව්වේය. එයින් ලොකු ආලෝකය දහවල් සඳහා ද කුඩා ආලෝකය රාත්‍රී කාලය සඳහා ද විය. ඔහු තාරකා ද මැව්වේය. දෙවියන් විසින් ඒවා ස්වර්ග අහසේ තැන්පත් කළේ පොළවට ආලෝකය ලබා දීම සඳහාය. රාත්‍රියට වඩා දහවල් ප්‍රභල වීමට ආලෝකය අඳුරෙන් වෙන් කරන ලදී. එය යහපත් බව දක්නා ලදී . තවද දවසක උදෑසන හා සැන්දෑව ද විය. එය හතරවන දවස ය. 1: 14 -19

මෙම ප්‍රකාශය අනුව ඉර නිර්මාණය කරන ලද්දේ හතර වන දිනයේ දී ය. දින ආරම්භ වන්නේ මේ දිනයේ සිට ය. මෙය 3 වන ප්‍රකාශයට පටහැනිය. මේ අනුව හැඟීයන්නේ ඉර නිර්මාණය කිරීමට අවධි 3 කට කලින් දින ක්‍රමය පටන් ගත් බවය.

2. එම පරිච්ඡේදයේම ශාක, ඇට දරණ පැළෑටි හා පලතුරු ශාක 3 වන දිනයේ දී නිර්මාණය කරන ලද බව දක්වා ඇත.

"එවිට දෙවියන් මෙසේ කීහ. පොළව එලවලු, ඇට දරණ පැලෑටි සහ පලතුරු දරණ ගස් ඇති වේවා එහි එම ශාක වර්ගයට අදාළ බීජ ඇති වේ.

"එය එසේම විය. පොළව, ශාක, පැළෑටි හා බීජ දරණ ශාක විවිධ වර්ග අනුව ඇති විය. බීජ සහිත හා පලතුරු දරණ ශාක ද ඇතිවිය. මේවා යහපත් ඒවා බව දෙවියෝ දුටුහ. තුන් වන දිනයේ දී සවස හා උදෑසන ඇතිවිය." 1:11-13

එහෙත් කිසිදු ශාකයක් හෝ පැළැටියක් ඉරු එළිය නොමැතිව වර්ධනය නොවේ. එහෙත් ඉහත එම පරිච්ඡේදයේ ම හතරවන දිනයේ දී ඉර නිර්මාණය කරන ලද බව දක්වා ඇත.

3. එම පරිච්ඡේදයේ ම දෙවියෝ මෙසේ කීහ. හය වැනි දවසේ දී මිනිසා ඔහුගේ ම ප්‍රතිරූපයක් වශයෙන් මැව්වේය.

"ඉන්පසු දෙවියෝ මෙසේ කීය. 'අප මිනිසා අපගේ ම

ප්‍රතිරූපය පරිදි මවන්නෙමු'....... එසේ දෙවියා මිනිසා ව තම ප්‍රතිරූපය ලෙස මැවීය. දෙවියන්ගේ එම ප්‍රතිරූපයේ පිරිමින් හා ගැහැනුන් වශයෙන් මිනිසා මවනු ලැබීය." 1:26-27

මුස්ලිම්වරුන්ගේ විශ්වාසය අනුව අල්ලාහ්ට රූපයක් හෝ හැඩයක් නොමැත. ඔහු අනන්තය ඔහු මුළු විශ්වය පුරාම තම බලය වට කර පතුරවයි. ඔහුට සිරුරක් නැත. ඔහු ද්‍රව්‍යමය නොවේ. කිසිදු දර්ශණයක් මගින් ඔහුව වටහා ගත නොහැක. අල්ලාහ්ට මිනිස් ප්‍රතිරූපයක් තිබේ යැයි සිතිම අල්ලාහ් පිළිබඳ මුස්ලිම්වරු සතු මුළු විශ්වාසය ම ප්‍රතික්ෂේප කිරීම වේ.

4. දෙවන පරිච්ඡේදය පළමු පරිච්ඡේදයට පරස්පර ය. පළමු පරිච්ඡේදය අනුව තුන්වන දවසේ දී ශාක, පැලෑටි හා ගස් සියල්ල මවන ලද බව පැවසේ. හයවන දවසේ මවනු ලැබූ මිනිසාට ප්‍රථම ඉහත අයුරින් ගස්වැල් හා පැලෑටි මවන ලද බව පැවසේ. එහෙත් දෙවන පරිච්ඡේදයේ ගස්වැල් වලට ප්‍රථම මිනිසා මැවූ බව පැවසේ.

"ස්වර්ගය හා පොළව මැවූ අවස්ථාවේ පැවැතියේ මේවාය. දෙවියන් පොළව හා ස්වර්ගය මැවූ දිනයේ දී කිසිදු පැලෑටියක් පොළවේ නොවීය. කිසිදු පඳුරක් සෑදී තිබුණේ ද නැත. වර්ෂාවක් වැස්ස වීම ද නොවීය පොළව සී සෑම සඳහා කිසි මිනිසෙකු ද නොවී ය. එහෙත් පොළවෙන් මතුවූ මීදුමක් පොළවෙන් ඉහළ ගොස් පොළවේ පෘෂ්ඨය තෙත් කළේ ය. එවිට දෙවියා පොළවේ දූවිල්ලක් ලෙසින් මිනිසා මැවීය. ඔහුගේ නාස් සිදුරු තුළට ජීවය පිඹීය. එවිට මිනිසා ජීවයක් බවට පත් වුයේ ය. ඉන් පසු ඊඩන් හි උද්‍යාණයක් මවා එහි තමා මැවූ මිනිසා යැවීය. එහි පොළවෙන් දර්ශනයට හිතකර හා ආහාරයට සුදුසු ශාක හැදුවේය. ජීවිතයේ ශාක ද එම උද්‍යානයේ මැද විය. හොඳ හා නරක යන දෙකෙහි ශාක ද එහි විය." ජෙනිසිස් 2ඃ4-9

මේ ප්‍රකාශය අනුව මිනිසාට මැවිමට ප්‍රථම කිසිදු ශාකයක් නොවූ බවට පැහැදිලි ව දැක්වේ. මෙම ප්‍රකාශයේ තවත් කරුණක්

ද දැක්වේ. එනම් දැනුම යන ශාකයේ හොඳ හා නරක යන දෙක මැවූ බවය. එහෙත් දැනුම ගස්වල නොහැදෙන බව අපි දනිමු. එය ලැබෙන්නේ අත්දැකීමෙන් හා ඉගෙනුමෙන් ය.

5. පළමු පරිච්ඡේදයේ, සත්ත්ව රාජධානිය පස්වන දිනයේ දී මවනු ලැබූ බව පැහැදලිව දැක්වේ.

"ඒ සමගම දෙවියා මෙසේ කීය. ජලය විසින් සතුන් රංචු වශයෙන් ඇති කරත්වා පක්ෂීන් පොළවට හරහා ස්වර්ගය මතුපිටින් පියාඹත්වා මෙසේ දෙවියා අතිවිශාල ජලජ සතුන් හා සංචරණය කරන අනෙකුත් සියලු ජීවීන් රංචු වශයෙන් මැවීය. සියලු පියාපත් සහිත පක්ෂීන් ඒවායේ වර්ගය අනුව මැවීය. දෙවියා ඔවුන්ට ආශිර්වාද කළේය. එවිට සැන්දෑ වරුව හා උදේ වරුව ඇති විය. පස්වන දිනයේ දී දෙවියා පොළව මත සතුන් ඒ ඒ වර්ගයට අනුව මැවීය. ගවයන් ඔවුන්ගේ වර්ගය අනුව මැවීය. පොළව මත බඩගා යන සියල්ල ඒවායේ වර්ග අනුව මැවීය. එවිට දෙවියා මෙසේ කීවේය. අප මිනිසා අපගේ ප්‍රතිරූපය ලෙස මවමු. 1:20-23

මෙම ප්‍රකාශය අනුව මිනිසා මවනු ලැබුවේ මසුන් පක්ෂීන් සතුන් හා ගවයන් මැවීමෙන් පසුව බව මනාව පැහැදිලි වේ. එහෙත් දෙවන පරිච්ඡේදය පැහැදිලි කරනුයේ මේ සියල්ලටම ප්‍රථම මිනිසා මවනු ලැබූ බවය.

"එවිට දෙවියා මෙසේ කීය. මිනිසා තනි කිරීම සුදුසු නොවේ. ඔහුට සුදුසු උදව් කරුවන් ඇති කරමි. මෙසේ පවසා දෙවියා සෑම සත්ත්වයෙක්ම පොළව මත මැවීය. එසේම අහසේ සිටින සෑම පක්ෂියෙක්ම මැවීය. ඒවා මිනිසා ඉදිරියට ගෙනත් ඔවුන් හඳුන්වන්නේ කෙසේදැයි දැක්වීය..." 2:18-19

6. ජෙනිසිස්හි තවත් පරිච්ඡේදයේ ඒවා සර්පයා විසින් තහනම් ගසේ ගෙඩි කන මෙන් රවටනු ලැබූ බව දකින්නෙමු. "සර්පයා කාන්තාවට කීය දෙවියන් කිසිදු ගසක ගෙඩි නොකන ලෙස කීවාද? එය කෑ විට ඔබ නොමැරෙණ බව දෙවියා දනී. එවිට ඔබගේ දෑස් විවෘත වන්නේය." 31-5

එහෙත් සර්පයෙකුට කතා කළ නොහැකි බවත් රැවටීමට හෝ පිළිගැන්වීමට හෝ බැරි බවත් අපි දනිමු. සර්පයෙකුට වචන උච්චාරණය හෝ සාකච්ජා කිරීමට තරම් මානසික ශක්තියක් හෝ නැති බවද අපි දන්නෙමු.

7. එම පරිච්ඡේදයේ ම දෙවියන්ගේ දැනුමේ සීමාව ගැන කරන ප්‍රකාශයක් අපි දකිමු.

"ඔහු ඇවිදින සිරුරකින් යුක්තය ඔහුට නෙපෙනී සැඟවී සිටිමට ආදම්ට සහ ඒවාට හැකි විය. දවසේ සෞම්‍ය වේලාවක දෙවියන් එම උද්‍යානයේ ඇවිදින හඬ ඔවුනට ඇසුණි. එවිට ඔහු සහ ඔහුගේ බිරිඳ දෙවියන් ට නොපෙනෙන සේ එම උද්‍යානයේ ගස් අතර සැඟවුහ. එහෙත් දෙවියා ඔහුට කතා කර මෙසේ කීය. ඔබ කොහෙ ද ඉන්නේ? ඔබගේ පියවර හඬ මට ඇසේ. මම නිර්වස්ත්‍රව සිටින නිසා බිය වී සැඟවුණෙමි. ඔබ නිර්වස්ත්‍ර බව කීවේ කවුරුන්ද? මා තහනම් කළ එම ශාකයේ ගෙඩි ඔබ කෑවා ද?" 3 : 8 -11

දෙවියන්ගෙන් කිසිවෙකුටත් සැඟ විය නොහැකි ය. ඔහු සෑම තැන ම සෑමවිට ම සිටී. තව ද ඔහු සියල්ල දත් අයෙකි. දෙවියන්ට ආදම්ගෙන් ඔහු ඉන්න තැන ඇසීමට හෝ ආදාම් තහනම් ගසේ ගෙඩි කෑවාදැයි අසීමට හෝ අවශ්‍ය නැත.

# විමසුම - 05

## විශ්වයේ නිර්මාතෘවරයා

විල්සන් :- ඉස්ලාමීය විශ්වාසයේ පළමු කරුණ නිර්මාතෘවරයා පිළිබඳ විශ්වාසය යි. නිර්මාතෘවරයා ප්‍රතික්ෂේප කිරීම වනාහි පුද්ගලයෙක් ඉස්ලාමයෙන් බැහැර කිරීමක් වන්නේ ය. එහෙත් නිර්මාතෘවරයාගේ පැවැත්ම පිළිබඳ ව කිසියම් ස්ථිර සාධකයක් ඉස්ලාම් ඉදිරිපත් කර තිබේ දැයි මම නොදනිමි. එසේ නොමැතිව එය නබි තුමාගේත්, අල්කුර්ආනයේත් දක්වා ඇති විශ්වාස කළ හැකි සාක්කි හා ප්‍රකාශ කෙරෙහි අනුගාමිකයන් යොමු කරනවා පමණක් ද?

ජවාඩ් චිර්රි :- ඉස්ලාම් එහි අනුගාමිකයන්ට විශ්වයේ නිර්මාතෘවරයාවූ අල්ලාහ් ගැන විශ්වාස කරන ලෙස බල කර සිටින්නේ, ඒ බව ශුද්ධ වූ කුර්ආනයේ දක්වා ඇති නිසා හෝ ශුද්ධ වූ වක්තෘන් පවසා ඇති නිසා හෝ නොවේ. අල්කුර්ආනය වැනි ශුද්ධවූ ග්‍රන්ථය හෝ මුහම්මද් නබිතුමා වැනි වක්තෘන් කෙනෙකු ගැන ඇති අපගේ විශ්වාසයේ පදනම වනුයේ නිර්මාතෘවරයා කෙරෙහි ඇති විශ්වාසයයි. ආගමික ග්‍රන්ථයක් ශුද්ධ වූ ග්‍රන්ථයක් වනුයේ එය වක්තෘන් වහන්සේ වැනි ශුද්ධ වූ අයෙකු මගින් හඳුන්වා දෙන ලද නිසාය. වක්තෘ අල්ලාහ්ගේ නියෝජිතයා ය. වෘක්තෘ කෙනෙකු ඇති වන්නේ අල්ලාහ් සිටි

විට පමණි. එහෙයින් ආගමික ග්‍රන්ථය හෝ වක්තෘන් කෙරෙහි විශ්වාස ඇති වීමට පෙර අල්ලාහ් ගැන විශ්වාසය ඇති විය යුතුය.

කිසිදු ආගමික ග්‍රන්ථයක් හෝ වක්තෘවරයෙකු සියලු මිනිසුන් විසින් ම පිළිගනු ලැබ නැත. එහෙයින් අල්ලාහ් පිළිබඳ සියලු සංකල්ප ප්‍රතික්ෂේප කරන හා ස්වර්ගය පිළිබඳ සියලු සංකල්ප ප්‍රතික්ෂේප කරන අදෙව වාදියෙකු සමඟ කටයුතු කරන විට ශුද්ධ වූ ග්‍රන්ථයක හෝ වක්තෘවරයෙකුගේ ප්‍රකාශ කෙරෙහි යැපීම අර්ථශූන්‍ය ක්‍රියාවකි.

**විල්සන් :- ඔබගේ පිළිතුර අනුව මා වටහා ගත යුත්තේ ඉස්ලාමය කියන පරිදි දෙවියන්ගේ පැවැත්ම ගැන ඇති සර්වත්‍ර සාක්කිය කිසිදු ආගමක් ප්‍රතික්ෂේප කරන අදෙව වාදියකු විසින් ද පිළිගත යුතු කරුණක් ද? එසේ නම් ඒ සඳහා ඇති සර්වත්‍ර සාධකය කුමක් ද?**

**විර්රි:-** අල්ලාහ් පිළිබඳ විශ්වාසය අනෙක් ඕනෑම ආගමික විශ්වාසයට වඩා ඉදිරියෙන් සිටීමට නම්, එම විශ්වාසයට පදනම් වන සාධකය සර්වත්‍ර විය යුතුයි. තවද කිසියම් ආගමක් විසින් ඉදිරිපත් කළ ද නොකළ ද තර්කානුකූල විය යුතුයි. තව ද නිර්මාතෘවරයාගේ පැවතීමට සාධකය වශයෙන් අල්කුර්ආනය ඉදිරිපත් කරන්නේ විශ්වයයි. එනම් භෞතික ලෝකය එහි ඇති ආකාශවස්තු, පොළව සහ අනෙකුත් ග්‍රහයන් ආදිය ශක්තියේ හා පදාර්ථවල නිර්මාතෘවරයා ගේ පැවත්මට සාධක වශයෙන් අල්කුර්ආනය දක්වයි. අදෙව වාදියාට මෙන්ම විශ්වාසවන්තයාට ද භෞතික ලෝකය දැකිය හැකි ය. අඥාණවන්තයා ට මෙන් ම විද්වතාට ද කිසිදු ආගමක් විශ්වාස නොකරන්නෙකුට වුව ද ආකාශවස්තුවල පැවැත්ම පිළිගත හැකි ය.

**විල්සන් :- අයෙක් මෙම භෞතික ලෝකයේ පැවැත්ම නිර්මාතෘවරයා සිටියි යන්නට සාධක වශයෙන් පිළිගත යුත්තේ ඇයි? නිර්මාතෘවරයෙක් හෝ මැවීම පදාර්ථ පැවතිය නොහැකි ද? අයෙක් පදාර්ථයේ ශක්තිය අනන්ත කාලයක් පැරණි බවත් කිසිදා එය නොපවතින දෙයකින් ඇති නොවූ බවක් දකී නම් එය අසත්‍ය බව ඔප්පු කරන්නේ කෙසේ ද?**

**චිර්රි** :- පදාර්ථ අනන්ත කාලයක් පැරණි බව පිළිගැනීම අසිරු කරුණකි.

පදාර්ථ හෝ ශක්තිය අනන්ත කාලයක් පැරණි බව අයෙක් කියන විට ඔහු බිලියන ගණන් තාරකා නිපදවීමට අවශ්‍ය වූ පදාර්ථ පැවතුන බව ද ඒ සමගම පිළිගන්නේ ය. සෑම තරුවක ම ටොන් බිලියන ගණන් පදාර්ථ අඩංගු බව අද අපි දනිමු. තව ද තාරකාවල හා ග්‍රහලෝකවල ඇති පදාර්ථ වලට වඩා වැඩි අමු ද්‍රව්‍ය ප්‍රමාණයක් ඉතිරි ව ඇති බව ද අපි දනිමු. එහෙයින් මෙවැනි මතයකට සම්භාව්‍යතායක් නොමැත. මෙපමණ පදාර්ථ ප්‍රමාණයක් කිසිදා එකවර පැවතිය නොහැකිවාක් මෙන් ම ඒවායින් කිසිවක් නොපවතින දෙයින් ඇති වූයේ නැති බව ද පිළිගත නොහැකි ය.

පදාර්ථවලින් කොටසක් පමණක් අනන්ත කාලයක් පැවතුන බවත් ඉතිරිවා පසුකාලයේ ඇති වූ බවත් කීම නිර්මාතෘවරයෙකුගේ අවශ්‍යතාවය පෙන්නුම් කරන්නක් වන්නේ ය. මක්නිසාදයත් පසුව ඇති වූ පදාර්ථ ස්වයංව ඉපදවීමෙන් ඇති වූවක් නොවේ. එවැනි ස්වයං බෝවීමක් ඇත්තේ සජීවී ඒවාට පමණි.

පදාර්ථ ප්‍රමාණයේ ක්‍රමවත් වර්ධනයක් සිදු වූ බව පිළිගැනීමට නම් මැවුම්කරුවෙක් සිටි යන්න පිළිගත යුතු ය.

**විල්සන් :- පදාර්ථ හා ශක්තිය නොපවතින දෙයකින් ඇති වූණා යන ඔබගේ අදහසට මම එකග වෙමි. එහෙත් සෑම මිනිසෙකු ම මෙසේ වෙන්නේ නෑ. ඉස්ලාම් ස්වභාවික සියල්ල නොපවතින දෙයකින් උත්පාදනය වූ බව සැකයෙන් තොරව ප්‍රකාශ කරනවා ද?**

**චිර්රි** : ඔව් අප හැම දෙනාම දන්නා සමහරක් දේවල් ඇත. ඒවා ඇති වූයේ පොළව ඇති වීමෙන් පසුවය. එය ජීවය යනුවෙන් හැඳින්වේ. අපගේ විද්‍යාඥයින්ගේ අදහස අනුව මුල් අවස්ථාවේ දී පෘථිවිය අධික ලෙස උණුසුම්ව පැවතුණි. එනිසා කිසිම ආකාරයෙන් ජීවයකට එහි පැවතිය නොහැකි විය. මෙහි ජීවය බිහි වීමට වසර මිලියන් දහස් ගණනක් ගත විය. ඒ අනුව ජීවය යන නව ලාබාල උප්පත්තිය විද්‍යාව අනුව බිහි වූයේ අජීවී

දෙයින් නොවේ. මෙය ලූයිපැස්චර් විසින් නිවැරදිව ඔප්පු කරන ලදී. පෘථිවිය බිහිවන අවස්ථාවේ එය කිසිවක් නූපදවන වඳ දෙයක් විය. මෙවැනි පරිසරයක වූ කාබන්, හයිඩ්‍රජන්, නයිට්‍රජන්, කැල්සියම්, යකඩ ආදිය ජීවයෙක් බවට පත් කිරීම වනාහි එක්තරා ආකාරයේ ප්‍රාතිහාර්යයකි. මෙය කළ හැකි වන්නේ අසාමාන්‍ය සැලසුම් කරුවෙකුටය.

විල්සන්: විද්‍යාඥයින් බොහෝ කාලයක් තිස්සේ ජීවයේ ප්‍රභවය ගැන හා ජීවය මෙලොව ඇති වූ ආකාරය ගැන සොයමින් සිටිති. එහෙත් ඔවුන්ට ඒ පිළිබඳ සතුටුදායක කරුණක් සොයා ගැනීමට නොහැකි වී ඇත. මිනිසාට ස්වභාව ධර්මයේ බොහෝ රහස් එළි කරගැනීමට පුළුවන් වුවත් පත්‍රයක් තරම් දෙයක් වත් තවම නිර්මාණය කිරීමට බැරි වී ඇත.

අපගේ ග්‍රහලෝකයේ ජීවය පැවතීම අල්ලාහ් සිටී යන්නට සාධකයක් වශයෙන් අල්කුර්ආනය දක්වන්නේ දැයි මම දැන ගැනීමට කැමැත්තෙමි.

චිර්රි : ඔව් පොළවේ අජීවී මූලිකාංග සජීවීන් බවට පත් වීම අල්ලාහ් සිටී යන්න ඔප්පු කිරීමට සාක්කි වශයෙන් ශුද්ධ වූ අල්කුර්ආනය ඉදිරිපත් කරයි.

**අජීවී පෘථිවිය ඔවුනට සාක්කියකි. අප එය සජීවී කළෙමු එයින් ධාන්‍ය ඇති කළෙමු. ඔවුන් එය ආහාරයට ගත්හ. අප එහි රට ඉඳි වතු හා මිදි වතු ඇති කළෙමු. එය මත දිය ඇලි ගලා යෑමට සැලැස්සුවෙමු. 36:33-34**

විල්සන් : මෙතෙක් ඔබ අල්ලාහ් සිටී යන්නට සාධක රැසක් ඉදිරිපත් කළෙහිය. එහෙත් ඔබ කතා නොකළ තවත් එක් වැදගත් ප්‍රශ්නයක් ඇත. අපට අල්ලාහ් දකින්නට බැරිව ඇත්තේ ඇයි ?

චිර්රි : අපගේ කලින් පැහැදිලි කිරීම් වල ආකාරයට මෙම විශ්වයේ මැවුම්කරුවා ඒකාන්තයා හා අසීමිතයාය. ඔහු මුළු විශ්වය පුරා

පැතිර සිටී. ඔහු කිසි තැනක නැත්තේ නැත. සෑම තැනම සිටියි. ඔහුගේ දර්ශනය ඔහුව අප පිළිගැන්වීමට සලස්වන්නේ නැත. ඔහුගේ දර්ශනය අපට විනාශකාරී එකක් වනු ඇත. ඔහුගේ සර්ව ව්‍යාපීභාවය නිසා අපි විනාශ වී යන්නෙමු. ඔහුගේ දර්ශනය අප අන්ධ කරනු ඇත.

මොහොතකට අප වාතය දැකිය හැකි යයි සිතමු. එවිට එයට වර්ණයක් තිබෙනු ඇත. වාතය අවකාශය පුරා පැතිර තිබෙන නිසා අපට එය හැර අන් යමක් නොපෙනෙනු ඇත. එසේම පෙනීම අපගේ එදිනෙදා කටයුතු වලට බධාවක් වනු ඇත. අපගේ මේ පෘථිවිය වටා පවතින වායුගෝලය නිසා මෙතරම් ප්‍රශ්න මතු වේ නම්, මෙම විශ්වයේ නිර්මාතෘවරයා විශ්වය පුරා පැතිර පවතින විට අපට කෙතරම් විනාශකාරී වන්නේ ද?

මෙය සිතන විට අපට අපගේ නිර්මාතෘවරයා නොපෙනීම කෙතරම් වාසනාවක් දැයි සිතෙනු ඇත.

**විල්සන් : සර්වබලධාරී අල්ලාහ් අදෘශ්‍යමාන වන විට ඔහුගේ පැවැත්ම අපට ස්ථිර වන්නේ කෙසේද? විශේෂයෙන්ම අදෙව වාදියෙක් ඔහුට අදෘශ්‍යමාන වන අල්ලාහ් පිළිගන්නේ කෙසේ ද?**

**චිර්රි** : යමක් පිළිගැනීමට අනිවාර්යෙන්ම එය දැකිය යුතු නැත. ඔබ විදුලිය ඇතැයි යන්න පිළිගන්නේ ය. එහෙත් එය ඔබට අදෘශ්‍යමානය. එය පිළිගන්නේ එහි ඵලයක් වන ආලෝකය ධ්වනය වැනි ඒවා ඔබට දැනෙන නිසාය. මේවා ගැන දැන ගැනීම විදුලියේ පැවැත්ම ගැන වටහා ගැනීමට සෑහෙන්නේ නම් මෙම විශ්වයේ පැවැත්ම මඟින් සර්වබලධාරියාගේ පැවැත්ම පිළිගැනීමට නොහැකි වේ ද?

**විල්සන් : විද්‍යුතය හැර වෙනත් උදාහරණයක් ඉදිරිපත් කරන්න.**

**චිර්රි** : ඔබගේ පැවැත්ම ආදම් හා හව්වා යන දෙදෙනාගේ එනම් පළමු මිනිසුන් දෙදෙනාගේ පැවැත්මට සාක්කි වන්නේය.

ඔබ ඔවුන් දැක නැත. එහෙත් එවැනි දෙදෙනෙක් සිටියහ.

මෙය තව දුරටත් පැහැදිලි කිරීම මෙසේ කළ හැක. ඔබ ඇති වූයේ ඔබගේ දෙමාපියන්ගෙනි. ඔවුන් ඔවුන්ගේ දෙමාපියන්ගෙනි මෙසේ ආදම් හා හව්වා යන දෙදෙනා හමුවන තෙක් අපට යා හැකිය. ඔබ පළමු දෙදෙනා සිටියේය යන්න ප්‍රතික්ෂේප කළේ නම් ඔබගේ පැවැත්ම ද ප්‍රතික්ෂේප කිරීමට සිදු වනු ඇත.

එහෙත් එසේ කළ නොහැකිය එම නිසා ආදම් හා හව්වා ද සිටිය යුතුයි.

**විල්සන් : ඔබගේ පහදා දීමෙන් මාගේ සැකය දුරු විය එහෙත් සෑම දෙයකටම ආරම්භයක් ඇති නිසා දෙවියන්ට පමණක් ආරම්භයක් නැතැයි පවසන්නේ කෙසේද?**

**චිර්රි** : විශ්වයේ නිර්මාතෘවරයා නොපවතින දෙයකින් ඇති විය නොහැකිය. එසේ නැත හොත් ඔහු නිර්මාණය කිරීමට තවත් නිර්මාතෘවරයෙක් අවශ්‍ය වනු ඇත. මෙසේ දිගින් දිගටම යනු ඇත. එවිට අපට විශ්වයේ පැවැත්ම ප්‍රතික්ෂේප කිරීමටත් ඒ හේතුවෙන් අපගේ පැවැත්ම ප්‍රතික්ෂේප කිරීමටත් සිදු වනු ඇත

# විමසුම - 06

## එකම නිර්මාතෘවරයා

විල්සන් : දෙවියන්ගේ ඒකීයත්වය ගැන මීට ප්‍රථම අවස්ථාවේදී ද ඔබ කරුණු දැක්වූවා. (විමසුම 02) අල්කුර්ආනයේ වැඩියෙන් අවධාරණය කරනු ලබන්නේ ද මේ ගැන ය. මේ නිසා ඉස්ලාමයට "දීන් අල් තව්හීද්" කියා ද කියනවා. (දෙවියන්ගේ ඒකීයත්වය විශ්වාස කරන ආගම). මේ අනුව විශ්වාසය පිළිබඳ ප්‍රකාශනයේ ප්‍රථම අදියරය ඔහුගේ ඒකීයත්වය පිළිගැනීමයි.

> "සර්වබලධාරී දෙවියන් හැර අන් දෙවියෙක් නැති බව මම සාක්ෂි දරමි. මුහම්මද් තුමා ඔහුගේ දූතයාය. "

**මෙම වැදගත් මූලධර්මයට ඉස්ලාම් කිසියම් සාක්කියක් ඉදිරිපත් කරනවා ද ?**

චිර්රි : විශ්වයේ කොටස් අතර පවතින සම්බන්ධතාවය එහි නිර්මාතෘවරයාගේ ඒකීයත්වයට සාක්කි වශයෙන් ශුද්ධ වූ කුර්ආනය ඉදිරිපත් කරයි. විශ්වයේ පවතින ක්‍රමානුකූල බව ගැන සොයා බලන ලෙස එය අපට අවවාද කරයි. එක් නිර්මාතෘ වරයෙකුට වඩා සිටියේ නම් එවැනි ක්‍රමානුකූල බවත් පැවතිය නොහැකි ය. විශ්වයට පාලකවරු කිහිප දෙනෙකු සිටීම නගරයකට පාලකවරු කිහිප දෙනෙකු සිටීම හා සමාන ය.

එවැනි තත්වයක් නිසා පැටළිලි රැසක් ඇති වන්නේ ය.

ඔවුහු භූමියෙන් දෙවියන් ගත්තාහුද ? ඔවුනය ඒ දෙවියන්ට මළවුන් නැඟිට්ටුව හැකි ද? එදෙතැන අල්ලාහු හැර දෙවියෝ වූහු නම් දෙකතැනම ව්‍යාකූල වන්නේමය. ඔවුන් ආරෝපනය කරන ලද දැයින් අර්ෂ්හි හිමි අල්ලාහ් සවිශුද්ධය.

අබූතාලිබ්ගේ පුත් ඉමාම් අලි තම පුත් අල්-හසන්ට මෙසේ පැවසීය. ''ඔබගේ හිමියාට සහායකයෙකු සිටී නම් එම සහායකයාගේ දූතයා ද ඔබ වෙත පැමිණිය යුතුය. එහෙත් ඔහු ඒකයාය. ඔහුට සහායකයෙක් නැත.''

(නහ්ජුල් බලාහා 3 වන කොටස 44 වන පිටුව)

විල්සන් : ත්‍රිත්වය යන ආගමික විශ්වාසය ගැන ඉස්ලාම් කුමක් පවසන්නේ ද ?

චිර්රි : ඉස්ලාම් දැඩි ලෙස ම මෙම ආගමික මතය ප්‍රතික්ෂේප කරයි. ශුද්ධ වූ කුර්ආනයේ මෙසේ පවසා ඇත.

**"අල්ලාහු ඔහු කේවල යැයි කියව. ඔහු ස්වාධීනය. සියල්ල ඔහු කෙරෙහි ආදීනය. ඔහු ජාතක නොකරන්නේය. ඔහු ද ජාතක නොකරවනු ලබන්නේය. ඔහුට සමාන වන කිසිවක් නැත". 112:1-4**

**''පරම දයාලුහු පුතකු ගත්තේය. යි'' ඔවුහු කීවෝය. තෙපි ඉතා බරපතල වූ දැයක් ගෙන හැර පෑ දෑමය. එයින් අහස් පැලෙන්නාවූද පොළව දෙකඩ පැළෙන්නාවූ ද කඳු සුනු විසුණු වන්නාවූ ද (දැයක්) පරම දයාලුහු හට පුතකු ආරෝපණය කිරීමෙන් පුතකු ගැනීම පරම දයාලුහු හට නො වියදි.** 19:88-92

විල්සන් : ඉස්ලාම් දැඩි ලෙසම ත්‍රිත්වය යන ආගමික සිද්ධාන්තය ප්‍රතික්ෂේප කරන්නේ ඇයි ?

චිර්රි : සජීවී හෝ අජීවී දෙයකට දෙවියන්ගේ දෙමාපියභාවය පිළිගත නොහැකි කරුණකි. දේවත්වය පිළිබඳ සංකල්පයට ද

ශරීරයේ ලක්ෂණවලට ද මෙය නොගැලපෙන්නේ ය. ඔහුට දේහයක් හෝ සීමාවක් හෝ නැත. එසේ ම ඔහු මුළු විශ්වය ම වටකොට සිටී. අනෙකුත් සජීවීන් මෙන් දරුවෙකු ලබන්නට ඔහුට සහායිකාවක් ද නොමැත.

කිසියම් ආත්මයක දක්වන ආධ්‍යාත්මික පීතෘත්වය යන්නෙහි අර්ථය ආත්මය හා නිර්මාතෘවරයා දෙදෙනෙකු නම් එම මතය ද පිළිගත නොහැකි එකකි.

අල්ලාහ් හා ඔහුගේ මැවුම් අතර නිර්මාතෘ හා මැවුම යන සම්බන්ධය හැර අන් කිසිදු සම්බන්ධයක් තිබිය නොහැකි ය. එසේ වූයේ නම් මැවුම් නිර්මාතෘවරයාගෙන් නිදහස් වන අතර ඒවා ද අල්ලාහ්ගේ කොටස්කරුවෝ වෙති. විස්තර කරන ආකාරයට අල්ලාහ් සමඟ පුත්‍රයා ඒකාබද්ධ වන්නේ නම් එය 'මා හා මගේ පුත්‍රයා එක්කෙනෙකි' යන්න ය. එම ප්‍රකාශය සත්‍ය නම් මම මගේම පියා හා මම මගේම පුත්‍රයා වන්නෙමි. මම මගේ පුත්‍රයා ම නිසා ඔහු ඔහුගේ ම පුත්‍රයා ද වන්නේ ය.

එසේ නම් අල්ලාහ් ඔහුගේ ම පියා ද ඔහුගේ පුත්‍රයා ද පුත්‍රයාගේ පුත්‍රයා ද වන්නේ ය.

මේ අනුව පීතෘත්වය යන්න එහි සැබෑ අර්ථයෙන් භාවිතා කළේ නම් දෙවියන් අන් කිසිදු ජීවී හෝ අජීවී දෙයක පියා වන්නේ නැත.

එම වචනය එහි උපමා ගුණයෙන් ප්‍රකාශ කළේ නම් එනම් අල්ලාහ් සිය මැවුම් සමඟ පියෙකු මෙන් සම්බන්ධ වන්නේ ය යනුවෙන් අදහස් වන්නේ නම් ඔහු එක් පුද්ගලයෙකුගේ නොව සියලු මිනිස් වර්ගයාගේ ම පියා වන්නේ ය. මෙය 'ස්වර්ගයේ සිටින අපගේ පියාණෙනි' යන ක්‍රිස්තියානි ප්‍රාර්ථනාවලින් වටහා ගත හැක.

උපමා ගුණය සලකා මෙම යෙදුම භාවිතා කළ ද එය ඉස්ලාමය විසින් අතිශයින්ම අප්‍රිය කරන භාවිතයකි. එය මිනිසුන් නොමඟ යවන හා මිනිසුනට පැටළිලි ඇති කරන භාවිතයක් නිසා මුස්ලිම්වරු එය භාවිතා නොකරති.

විල්සන් : ඔබ ඉදිරිපත් කළ කරුණු අනුව මුස්ලිම්වරු ඊසා තුමාගේ දේවත්වය පිළිනොගන්නා බව පැහැදිලි ය. එතුමාගේ දේවත්වය ට එරෙහි පැහැදිලි සාධක ඔබ සතුව තිබේ ද ?

චිර්රි : ඊසා තුමා මුහම්මද් තුමා හෝ අන් මිනිසෙකුගේ දේවත්වය නොමැති බව ඔප්පු කිරීම අවශ්‍ය නොවේ. එහෙත් අල්ලාහ් හැර අන් අයෙකුට දේවත්වය ඇති බව අයෙක් කියන්නේ නම් එය ඔප්පු කළ යුත්තේ ඔහුම ය. ''කෙනෙක් තමා සුරංගනාවියක් යැයි පවසයි නම් ඒ බව ඔප්පු කිරීම ඔහුගේ වගකීම වන්නේ ය''. ඔබ මනුෂ්‍යයෙක් බව මම ඔප්පු කිරීම අවශ්‍ය නොවේ. මක්නිසා ද යත් ඔබ මනුෂයෙකුගේ සියලු ගතිගුණ ඇති මනුෂ්‍ය ස්වරූපය ඇති අයෙකි. එහෙත් අයෙක් ඔබ සුරංගනාවියක් යැයි පවසයි නම් එය ඔප්පු කිරීම ඒ පුද්ගලයාගේ වගකීම වන්නේ ය. ඔහුගේ ඒ කීම සැබවින් ම අප දකින දෙයට හාත්පසින් ම වෙනස් වූවක් මෙන් ම එය බුද්ධිගෝචර ද නොවේ.

අයෙක් මුහම්මද් තුමා හෝ ඊසා තුමා දෙවියෙක් නොව මනුෂ්‍යයෙක් යැයි කියයි නම් ඔහු පිළිගත් නිර්වචනයන්ට එකඟ වන්නෙකි. ඊසා තුමා මිනිසකු මෙන් ජීවත් වූයේ ය මිනිස් හැඩරුව සහිත වූයේය: මනුෂ්‍යයෙකු මෙන් නිදා ගත්තේය: මනුෂ්‍යයෙකු මෙන් කෑවේය: මනුෂ්‍යයෙකු මෙන් දුක් කරදර වින්දේය. මේ කිසිදු සත්‍යයක් ඔප්පු කළ යුතු නොවේ. එහෙත් ඔහුට දේවත්වය ඇතැයි පවසන්නාගේ තත්ත්වය මීට හාත්පසින්ම වෙනස් ය. ඔහුගේ එම ප්‍රකාශය සාමාන්‍ය බුද්ධියට එකඟ නැත. ඒ නිසා ඔහුගේ ඒ ප්‍රකාශයට සාධක ඉදිරිපත් කළ යුත්තේ ප්‍රකාශය කරන්නාම ය.

මුස්ලිම්වරු ඊසා තුමාගේ දේවත්වය ප්‍රතික්ෂේප කිරීම ට කිසිදු සාධකයක් ඉදිරිපත් කිරීම අනවශ්‍ය වුව ද ඔවුන් ට පහත සඳහන් සාධක ඉදිරිපත් කළ හැකිය.

1. ඊසා තුමා දෙවියන්ට වන්දනාමාන කළේය. ඔහු ඔහුටම වන්දනාමාන කළේ නැත. මෙයින් ඔහු දෙවියෙක් නොව දෙවියන්ගේ කීකරු සේවකයෙක් බව පැහැදිලි ය.

2. ගොස්පල්වරු තිදෙනාට අනුව ඊසා තුමා විසින් අවසාන වශයෙන් උසුරන ලද වචන වූයේ ''මගේ දෙවියනි මගේ

දෙවියනි ඔබ මා තනි කළේ ඇයි'' යන්න ය. මෙසේ දෙවියෙකුට අමතන පුද්ගලයා දෙවියෙකු විය නොහැකි ය.

3. දෙවියා සැමදා ජීවත් වෙයි. එහෙත් ඊසා තුමා මරණයට පත්විය. දෙවියා සර්ව බලධාරියා ය. එහෙත් ඊසා තුමා හිංසා පීඩාවන්ට ලක් විය.

**විල්සන් : ඊසා තුමා ආධ්‍යාත්මික පැත්තෙන් දෙවියකු වශයෙන් ද ශාරීරික පැත්තෙන් මරණයට පත්වන මිනිසකු ලෙස ද සැලකිය නොහැකි ද ?**

**චිර්රි** : ආධ්‍යාත්මක හා ශාරීරික වශයෙන් පැති දෙකක් තිබීම ඊසා තුමා ට පමණක් සුවිශේෂ වූ ලක්ෂණයක් නොවේ. සෑම මනුෂ්‍යයෙකුට ම මේ පැති දෙක ම ඇත්තේ ය. ඔබ මෙන් ම මට ද මෙම පැති දෙක ම තිබේ. ආත්මයට මරණයක් නැත. අප මළ පසු ද ආත්මය පවතී. එහෙත් මේ කරුණ නිසා අප දෙවියකු වන්නේ නැත. ඊසා තුමා ද එසේය.

**විල්සන් : එහෙත් ඊසා තුමා අපට සමාන අයෙකු නොවේ. කුර්ආනයේ හා බයිබලයේ ප්‍රකාශ වන කරුණු අනුව එතුමා පියකු නොමැති ව කන්‍යාවකට දාව උපන්නේ ය. මේ අනුව එතුමා අනෙක් සාමාන්‍ය මිනිසුන්ට වඩා උතුම් කෙනෙක් නොවේ ද?**

**චිර්රි** : පියකු නොමැතිව මවකට දාව උපන් නිසා ම ඊසා තුමා අනෙකුත් සාමාන්‍ය මිනිසුනට වඩා උසස් කෙනෙකු වන්නේ නැත. ආදම් මවන ලද්දේ මවක හෝ පියකු නැතුවම ය. ඒනිසා ඔහු සාමාන්‍ය කෙනෙකුට වඩා උසස් කෙනෙකු වූයේ නැත. ශුද්ධ වූ කුර්ආනය අනුව :

> **"ඇත්තෙන් ම අල්ලාහුගේ සන්නිධානයෙහි ඊසාගේ උපමාව ආදම්ගේ උපමාව බඳු ය. ඔහු (ආදම්) මැටියෙන් ඇඹුවේ ය. පසුව එයට 'වව' යි කීවේ ය. කෙණෙහිම විය.** (3:59)

ඊසා හෝ ආදම් හෝ දෙවියෙකු නොවේ. මක් නිසා ද යත් ඔවුන් ගෙන් කිසිවෙක් විශ්වයේ මැවුම්කරු නොවේ.

විල්සන් : ඔහු විශ්වයේ මැවුම්කරුවා නොවන බව අප දන්නේ කෙසේ ද ?

චිර්රි : විද්‍යාඥයින් ට අනුව තාරකාවල වයස අවුරුදු බිලියන හතරකට වඩා වැඩි ය. එහෙත් ඊසා තුමා ඉපදුනේ වසර දෙදාහකට පෙර ය. එපමණ පැරණි විශ්වයක් මෙතරම් ලාබාල නිර්මාතෘවරයකු විසින් නිර්මාණය කරන්නේ කෙසේ ද?

විල්සන් : ඔබ සෑම ආකාරයෙන් ම නිවැරදි ය. එසේම සාධාරණ ව හිතන ඕනෑම පුද්ගලයෙකුගේ සිතෙහි සැක දුරුවන ආකාරයට ඔබ කරුණු පැහැදිලි කළේ ය. සැබවින් ම ඔබ සඳහන් කළ සෑම කරුණක් ම සෑම දෙනා ම හොඳින් දන්නා ඒවා ය.

මිනිසුන් ඒවා නොදකින්නේ ඇයි ? යන්න පුදුමයකි. ඔවුන් එසේ කරන්නේ ඔවුන්ගේ ළමා කාලයේ සිට ම ඊසා තුමාගේ දේවත්වය පිළිබඳ ව ඔවුනට කියා දෙන නිසා ය. මෙය නිවසේ ද පල්ලියේ ද නැවත නැවත මතක් කර දෙනු ලැබේ. ඔවුන් වැඩෙන විට ඔවුන්ගේ සිතුවිලිවල කොටසක් ලෙස මෙය ද වැඩෙන්නේ ය. එය උරුමයක් ලෙස ලැබුණු නිසා ඔවුන් ඒ ගැන ප්‍රශ්න කරන්නේ නැත.

මෙතෙක් ඉදිරිපත් කළ කරුණු අනුව දෙවියන්ගේ ඒකීයත්වය පිළිබඳ ඉස්ලාමීය දර්ශනය වඩා යුක්ති සහගත බව මට පැහැදිලි වේ. එහෙයින් සර්වබලධාරී දෙවියන් හැර අන් කිසිදු දෙවියෙකු නැති බව මම සාක්කි දරමි. ඔහු ඒකයාය. ඔහුට හවුල්කරුවකු හෝ සහායකයකු හෝ පුතකු හෝ නැත.

# විමසුම - 07

## ඊසා නබි තුමා සම්බන්ධයෙන් ඉස්ලාමය හා ක්‍රිස්තියානි ආගම එකඟවන හා විරුද්ධවන තැන්

විල්සන් : ඔබගේ විස්තර කිරීම් තුලින් ඉස්ලාමීය ඒකදේව වාදය ගැන මනාව පැහැදිලි විය. ඊසා තුමා සම්බන්ධ ඉස්ලාමීය ඉගැන්වීම් ද හොඳින් පැහැදිලි විය. ඊසා තුමා සම්බන්ධයෙන් ඉස්ලාමය හා ක්‍රිස්තියානි ධර්මය එකඟ වන කරුණු දැන් සංක්ෂිප්ත කර දක්වන්න.

චිර්රි : පහත කරුණු සම්බන්ධයෙන් ඉස්ලාමය ක්‍රිස්තු ධර්මය සමඟ එකඟ වෙයි.

1. ඊසා තුමා ගේ පාරිශුද්ධභාවය ගැන ඉස්ලාම් කරුණු ඉදිරිපත් කරයි. ඊසා තුමා ගේ පාරිශුද්ධභාවය පිළිගැනීමත් එතුමාගේ පූජනීයත්වය අගය කිරීමත් ඉස්ලාමීය ඉගැන්වීමේ අත්‍යවශ්‍ය කොටසකි. එසේ ම එතුමා සියලු පව් වලින් තොර ව ශුද්ධ වූ අයකු ලෙස මෙලොව ජීවත් වූ බවත් පිළිගනියි. ශුද්ධ වූ කුර්ආනය එය මෙසේ දක්වයි.

> එම්බා මරියම් මෙලොවැද අන්තිම දිනැද අති ශ්‍රේෂ්ඨයෙක් යැයි ද අල්ලාහුට ළංවූවන්ගෙන් වුත් ඔහුගෙන් වූ කලිමාවක් ගැන ඇත්තෙන්ම අල්ලාහු ඔබට ශුභාරංචි දෙන්නේය. ඔහුගේ නම මරියම් පුත් ඊසා මසීහු යයි මලකුන් කී වනම ද. 3:45

2. ඊසා තුමාගේ මව වන මරිය තුමියගේ පූජනීයත්වය ගැන ඉස්ලාම් කරුණු දක්වයි. ඇගේ පාරිශුද්ධභාවය හා විනීතභාවය ගැන කිසිවෙකුටත් සැක කළ නොහැකි ය. සියලු ජාතීන්ට අයත් කාන්තාවන් අතර ඉතාම විශිෂ්ඨ කාන්තාව ඇයයි.

**"එම්බා මරියම් ඇත්තෙන්ම අල්ලාහු ඔබ තෝරා ගත්තේ ය. ඔබ පාරිශුද්ධ කෙළේය. ලොව ඔබ තෝරා ගත්තේ යැයි මලක්කුන් කී වන මද එම්බා මරියම් ඔබගේ ස්වාමී හට (සලාත් කිරීමේ දී) කියාම් තත්වය දීර්ඝ කිරීමෙහි නිරත වව. සුජුද් කරව රුකූඋ ද කරන්නවුන් සමඟ රුකූඋ ද කරව."**
3:42-43

3. පියකු නැති කන්‍යාවක ට දාව ඊසා තුමා ප්‍රාතිහාර්යයක් වශයෙන් උපන් බව ඉස්ලාම් ප්‍රකාශ කරයි.

**පුස්තකයෙහි මරියම් ගැන කියවව. ඕ ඇගේ සිය ජනයන්ගෙන් වෙන්වැ නැගෙනහිර තැනකට ගිය බව (ගැන). ඕ ඔවුන්ගෙන් වෙන්ව තිරයක් ඇල්ලුවා. එවිට අපි අපගේ මලක්වරයා අය වෙතට යැව්වෙමු. ඔහු සම්පූර්ණ මනුෂ්‍ය විලාසයෙන් ඇය ඉදිරියට පැමිණියේ ය. ''ඇත්තෙන් ම මම මුඹගේ පරමදයාලුහූ කෙරෙහි පිහිට සොයමි. (එහෙයින් මට ළං නොවව) නුඹ බිය බැතියෙක් නම්'' යි ඕ කීවාය. ''තිට පිරිසිදු පුතකු (ගැන දැනුම්) දෙන පිණිස මම තහිමිගේ රසූල් වරයෙක් පමණෙක්මි.''යි ඔහු කීවේ යි.**

**''මිනිසෙක් මා ස්පර්ශ නොකළේ ය. මම ව්‍යාභිචාරිණී ද නොවූයෙමි. මට දරුවෙක් කෙසේ වන්නේ දැයි'' ඕ කීවා.**
19 : 16-26

4. ගොස්පල්හි සඳහන් ඊසා තුමාගේ බොහෝ ප්‍රාතිහාර්යයන් කුර්ආනය ද පිළිගනී. ශුද්ධ වූ කුර්ආනය දක්වන ආකාරයට ඊසා තුමා රෝගීන් සුව කිරීමටත් මැරුණ අය පණ ගැන්වීමටත් අන්ධයන්ට පෙනුම ලබා දීමටත් හැකි අයෙකු වශයෙන් දෙවියන් විසින් බලගන්වනු ලැබ සිටියේය.

**"ඊස්‍රායීල් දරුවන් වෙතැ ඔහු රසූල්වරයෙකු ලෙස (අපි පහළ කෙළෙමු) තොපගේ ස්වාමිහුගෙන් ආයාවක් රැගෙන තොප**

**වෙතැ ඇත්තෙන්ම මම පැමිණියෙමි. සැබවින්ම මාතොපට පක්ෂියකුගේ රූපයක් කිරි මැටියෙන් අඹා එතුළට පිඹින්නෙමි. එවිට එය අල්ලාහුගේ අවසරයෙන් පක්ෂියෙක් වෙයි. අල්ලාහුගේ අවසරයෙන් මම ජාත්‍යාන්ධයන් ද ශ්වේත කුශ්ඨ රෝගීන් ද සුව කරන්නෙමි. අල්ලාහුගේ අවසරයෙන් මළවුන් ද නැගිටු වන්නෙමි. තොපගේ ගෙවල තොප අනුභව කරන දැය ද තොප තැන්පත් කරන දැය ද ගැන තොපට මා දන්වන්නෙමි. තොපි විශ්වාසය කරන්නාහු නම් තොපට මෙහි ආයාවෝ වෙති යි මිනිසුන්ට ඊසා (අ) කීවේය".** 3:49

මෙයට අමතරව ගොස්පල්හි සඳහන් නොවන වෙනත් ප්‍රාතිහාර්යයන් ගැන ද ශුද්ධ වූ කුර්ආනය කරුණු එළිකරයි. එතුමා තොටිල්ලේ සිටින විට ම ඉතා පැහැදිලි ව කතා කළේය.

"ඕ ඔහු වඩාගෙන ඇගේ ජනතාව වෙත ආවා. "එම්බා මරියම් තී අපූර්ව දැයක් ගෙනායෙහිය'යි ඔවුහු කීවෝ ය. එම්බා හාරූන් සොහොයුරිය, තපියේ දූරට මිනිසෙක් නුවූයේ ය. තව ද තගේ මව ද ව්‍යාභිචාරිණියක් නුවූවා.

එවිට ඕ ඔහු දෙසට සන් කළා. "තොටිල්ලේ සිටින බිළින්දකුට අපි කෙසේ කථා කරමු දැ ?" යි ඔවුහු කීවෝ ය. "ඇත්තෙන් ම මම අල්ලාහුගේ වහලෙක්මි. ඔහු මට පුස්තකය දී මා නබිවරයකු කළේය"යි ඔහු කීවේ ය. "තව ද කොහි සිටියෙම් ද ඔහු මා ආශිර්වාද ලද්දෙකු කළේ ය. යාවර්ජීවයෙන් මම සලාත් හා සකාත් කරන්නට ද අණ කළේ ය. මගේ දෙමව්පියන්ට උවටැන් කරන්නකු ද කෙළේ ය. මා උඩගු කෙනෙකු ද කාලකන්නියෙකු ද නොකළේ ය. මා උපන් දිනය ද මැරෙන දිනය ද මා කෙරෙහි සාමයැ. 19:27-33

විල්සන් : ඔබගේ පැහැදිලි කිරීම් අනුව එකඟවන කරුණු අපට පැහැදිලි ය. ඊසා තුමා ගේ ප්‍රශ්න පිළිබඳ ව විවිධ ආගමිකයන් විවිධ මත දරණ බව මම දන්නවා. ඔවුන්ගේ සමහරු ප්‍රතිඊසා වාදීන්ය. ඔවුන් ඊසා තුමාගේ පූජනීයත්වය හා මවගේ පූජනීයත්වය ප්‍රතික්ෂේප කරන අතර එතුමාගේ ප්‍රාතිහාර්යයන් ද විශ්වාස නො කරති. තවත් සමහරු

මධ්‍යස්ථය. ඊසා තුමාට පක්ෂ හෝ විරුද්ධ නොවෙති. තවත් සමහරු ඊසා තුමා ට පක්ෂ ය. ඔවුන් එතුමාගේ පාරිශුද්ධත්වය පිළිගන්නා අතර එතුමාගේ ප්‍රාතිහාර්යයන් ද විශ්වාස කරති.

ඔබගේ විස්තර පරිදි මුස්ලිම්වරු ක්‍රිස්තියානීන් මෙන් ඊසා වාදීන්ය. මීළඟට ඊසා තුමා සම්බන්ධයෙන් මුස්ලිම්වරු හා ක්‍රිස්තියානිවරු එකඟ නොවන කරුණු ගැන සලකා බලමු.

විර්රි : ඊසා තුමා සම්බන්ධයෙන් පහත කරුණු පදනම් කරගෙන මුස්ලිම්වරු හා ක්‍රිස්තියානිවරු අතර මතභේද පවති.

1. ඉස්ලාම් ඊසා තුමා ගේ පූජනීයත්වය පිළිගත්ත ද එතුමාගේ දේවත්වය පිළිගන්නේ නැත. ඉස්ලාමීය ඉගැන්වීම අනුව එතුමා ට දේවත්වයක් නැත. ඔහු දෙවියෙක් හෝ දෙවියා සමඟ ඒකාබද්ධ වූවෙකු ද නොවේ. එතුමා අතිශයින් ගරු කළයුතු පූජනීය අයෙකි. එහෙත් වන්දනාමාන කිරීමට තරම් අයෙක් නොවේ. ඉස්ලාම් ඒක දේවවාදය දැඩිව පිළිගනී. දෙවියා ඒකයා ය. ඔහු හැර අන් දෙවියකු නැත. ඔහු සර්ව බලධාරියා ය. සැමදා පවතින්නේ ය. ස්වාධීන ය. ජීවය ශක්තිය හා දැනුම අතින් අනන්ත හා අප්‍රමාණ ය.

එහෙත් ඊසා තුමා සැමදා ජීවත් වන්නෙක් නොවේ. වසර 2000 ට පෙර ඔහු ඉපදුණේ ය. ගොස්පල්වරුනට අනුව කෙටි කලකින් ඔහු අභාවප්‍රාප්ත විය. ඔහු සර්ව බලධාරී නොවේ. මක් නිසා ද යත් ඔහු තාඩන පීඩන වලට ලක් විය. එතුමා අනන්ත අප්‍රමාණ නොවේ. විශ්වය වසර බිලියන හතරක් පැරණි නිසා ඔහු විශ්වයේ නිර්මාතෘවරයා වීමට ද නොහැකි ය. ඔහු ඉපදුණේ වසර දෙදාහට කලිනි. ඔහු දෙවියන්ගේ කීකරු ගැත්තෙකි. ඒනිසා ඔහු නැමදීමට සුදුස්සෙකු ද නොවේ.

2. ඉස්ලාමීය ඉගැන්වීම අනුව ඊසා තුමා දේව පුත්‍රයා නොවේ. දෙවියන්ට පුතුන් හෝ දරුවන් නොමැත. පීතෘත්වය ඔහුට අදාළ නැත. ඔහුට දේහයක් නොමැත. ආධ්‍යාත්මික පීතෘත්වය ද ඔහුට අදාළ නොවේ. මක් නිසා ද යත් සියලු ආධ්‍යාත්මික හා පදාර්ථමය දේවල නිර්මාතෘවරයා ඔහුය. ශුද්ධ වූ කුර්ආනය මේ සම්බන්ධයෙන් ඉතා පැහැදිලි ය.

**නොදැනීමෙන් ඔවුහු ඔහුට පුත්‍රයන් ද- දූහිතෘන් ද ආරෝපණය කරන්නෝය. ඔහු සවිශුද්ධ ය. ඔවුන් වර්ණනා කරන දෙයින් ඔහු අතිශ්‍රේෂ්ඨ ය. අහස් ද පොළව ද (පෙර උදාහරණයක් නැතිව) නිර්මාණය කරන්නේ ය. ඔහුට සහකාරියක් නොමැති ව සිටිය දී කෙසේ දරු සම්පත වන්නේ ද ? ඔහු සියලු දැය නිර්මාණය කළේ ය. තව ද ඔහු සියලු දෑ ගැන ඉතා දන්නේ ය. මෙයැ තොපගේ ස්වාමී වූ අල්ලාහු ඔහු හැර අන් දෙවියෙක් නැත. සියලු දැය නිර්මාණය කරන්නේ ය. එහෙයින් ඔහුම නමදිමු. තව ද ඔහු සියලු දැය කෙරෙහි පරිපාලකයා ය.** 6:100-102

3. ඊසා තුමා කුරුසයේ ඇණ ගසා මැරීම ගැන ඉස්ලාමය ප්‍රතික්ෂේප කරයි. ඊසා තුමා මරණයට පත් වූයේ කුරුසයේ නොවේ. මේ පිළිබඳ ව ඉස්ලාමය ඉතාම පැහැදිලි ය.

අල්ලාහුගේ රසූල්වරයා වූ මරියම් පුත් ඊසා අභිෂික්තකයා අපි මැරුවෙමු යි ඔවුන්ගේ වචනයෙන් ද ඔවුහු ඔහු නොමැරුවෝය. ඔවුහු ඔහු කුරුසයේ ඇණ නොගැසුවෝය. ඔහු ඔවුනට සදෘශීව පෙන්වනු ලැබුවේය. එහි විමති වූ අය එයින් සැකයෙහිම ය. අනුමානය අනුගමනය කරනු මිස ඔවුනට එයින් කිසිදු දැනුමක් නැත. ඔවුහු ඇත්තෙන්ම ඔහු නොමැරුවෝ ය. එහෙත් අල්ලාහු ඔහු නො එසෙව්වේය. අල්ලාහු නිරතුරුව බලසම්පන්නය. නුවණැතිය. 4: 157-158

විල්සන් : මෙම අදහස ගොස්පල්වරුන්ගේ අදහස්වල ට පරස්පර විරෝධීය. යේසුස් වහන්සේ කුරුසයේ මළ බව ගොස්පල්වරු හතර දෙනා ම පැහැදිලි ව සඳහන් කරති. ඊසා තුමා කුරුසයේ මළ බව පවසන එම ප්‍රකාශය මුළුමනින් ම ප්‍රතික්ෂේප කරන අල්කුර්ආනයේ අදහස් සමඟ මෙය සම්බන්ධ කරන්නේ කෙසේ ද ?

විර්රි : ගොස්පල්වරුන්ගේ ප්‍රකාශය අල්කුර්ආනීය ප්‍රකාශය සමඟ ගැලපීමට ක්‍රමයක් ඇත. මෙම ප්‍රකාශ දෙක වෙනස් වීමට හේතුව සත්‍ය දේ හා දෘශ්‍ය දේ අතර ඇති වෙනස්කම් විය හැකි ය. ඊසා තුමා කුරුසයේ ඇණ ගැසූ අවස්ථාවේ හා එතුමා කුරුසයේ

මැරුණ අවස්ථාවේ සමහර සිද්ධීන් සිදු වූ බවට සැකයක් නැත. එතුමාගේ මුළු ජීවිතය ම ප්‍රාතිහාර්ය වලින් පිරුණු එකක් විය. ඒනිසා එතුමාගේ මරණය ද ප්‍රාතිහාර්ය වලින් යුක්ත විය හැකි ය. එතුමා පාවා දුන් ජූදාස් වැනි තවත් පුද්ගලයෙක් ඔහු සමඟ අද්භූත ලෙස බැඳී කුරුසයේ දී අද්භූත ලෙස ජීවිතක්ෂයට පත් වූවා විය හැකිය.

ප්‍රාතිහාර්යයක් ගැන නොසැලකුව ද මෙම ප්‍රකාශ දෙක ම ගැලපිය හැකි තවත් ක්‍රමයක් ඇත. කුරුසයේ තබා ඇණ ගැසූ අවස්ථාවේ දී ඊසා තුමා සිහිසුන් වූවා යැයි සිතමු. එවිට ඔහු මැරී නැතත් මැරුණාක් මෙන් සිටිනු ඇත.

මෙම උපකල්පනයට ගොස්පල්වරුන්ගේ සාක්කි නැතුවා නොවේ. ඊසා තුමා වැඩි වේලාවක් කුරුසයේ නොසිටි බව ගොස්පල්වරු පවසති. කුරුසයේ තබා ඇණ ගසන්නන්ගේ පාද කඩා දැමීම සිරිතක් වුවත් එතුමා පාද නොකඩා දමා ඉක්මනින් කුරුසයෙන් බිමට බාන ලදී. යුදෙව්වන් වසන්ත උත්සවය සඳහා සූදානම් වෙමින් සිටියහ. ඊළඟ දිනය වන සෙනසුරාදා දිනය තෙක් ඊසා තුමා කුරුසයේ තබා ගැනීමට ඔවුනට උවමනා නොවූයේ ය.

එම දිනයේ භූමිදාන කටයුතු වැනි වැඩවල ඔවුන් නොයෙදෙති. වැඩි වේලාවක් කුරුසයේ නොසිටි නිසා ඊසා තුමා ජීවත්ව සිටියා විය හැකි ය. ඊසා තුමා මළාක් මෙන් සිටි අවස්ථාවේ මිනිසෙක් එතුමාට හෙල්ලයකින් ඇන්නේ ය. එවිට එතුමාගේ දේහයෙන් රුධිරය විසි විය. මළ දේහයකින් රුධිරය ගලා නොයන බව අපි දන්නෙමු. මෙයින් ඊසා තුමා ඒ අවස්ථාවේත් නොමැරී සිටි බව පෙන්නුම් කෙරේ.

ඊසා තුමාගේ දේහය මිනිවල තුළ තබා මිනිවල මත බර ගලක් තබන ලදී. එම ඉරිදා දිනයේ දී දේහය අස්ථාන ගත විය. ගල මිනිවලේ කටින් අයින් කර තිබුණි. ඔහුගේ ශිෂ්‍යයෙකු ගල ඉවත් කර එතුමා බේරා ගත්තා යැයි සිතිය හැකි ය. ඊසා තුමා ප්‍රාතිහාර්යක් ලෙස මිනීවලෙන් ඉවත් වූවා නම් ගල ඉවත් කිරීමේ අවශ්‍යතාවයක් නැත. ගල තිබියදීම ඊසා තුමා මිනී වළෙන් පිටතට ගැනීමට දෙවියන්ට පුළුවන. මේසේ ගල ඉවත් කිරීමෙන්

හැඟී යන්නේ එය මිනිසෙකුගේ ක්‍රියාවක් මිස දේව ක්‍රියාවක් නොවන බවය.

ගොස්පල්වරුන්ගේ ප්‍රකාශය අනුව කුරුසයේ තබා ඇණ ගැසීමෙන් පසුව කිහිප වතාවක් ම එතුමා තම ශිෂ්‍යයන් ඉදිරියේ පෙනී සිටියේ ය. එතුමා මෙසේ පෙනී සිටියේ ප්‍රසිද්ධියේ නොව අප්‍රසිද්ධියේ ය.

එතුමා ප්‍රාතිහාර්යයක් ලෙස යළි පණගැන්වූවා නම් සිය සතුරන්ගෙන් සැඟවීමට එතුමාට අවශ්‍ය නොවේ. මෙසේ රහසේ පෙනී සිටීමෙන් අදහස් වන්නේ එතුමා තවමත් පෙර මෙන් ජීවතුන් අතර සිටි බවයි. කෙටි සිහිසුන් වීමකින් එතුමාගේ ජීවිතයට බාධා ඇති නූවූ බව ය. තවද තම සතුරන් තමාට තාඩන පීඩන කරයි යන බියෙන් එතුමා පසු වූ බව ය.

ශුද්ධ වූ ආවර්ණ රෙදිකඩ පිළිබඳ අන්තර් ජාතික සංගමය (International society of Holy Shrud) ඊසා තුමාගේ රෙදි කඩෙහි වූ රුධිර පැල්ලම්වලට අනුව කුරුසයෙන් බාන විට එතුමා ජීවත්ව සිටි බව තීරණය කරයි. එසේ නොවූවා නම් පසුව එතුමාගේ දේහය ආවර්ණය කළ රෙදිකඩ වල රුධිර නොවදිනු ඇත.

යේසු තුමා කුරුසයේ ඇණ ගසන ලදයි විශ්වාස කරන ක්‍රිස්තියානි ආගමිකයෙක් ඔහු විශ්වාස කරන "යේසු දෙවියෙක්ය යේසු තුමා කුරුසයේදී ඇණ ගසන ලදියි යන මත දෙක ගලපා ගැනීමේ දී ඉමහත් ගැටලුවට මුහුණ පාන්නේ ය. කුරුසයේ ඇණ ගසන ලද පුද්ගලයෙක් දෙවියන් විය නොහැකි ය. මක් නිසා ද යත් ඔහුට සිය ආරක්ෂාව සලසා ගන්නට නොහැකි වී ඇත.

මුස්ලිම්වරයෙකුට මෙම පැටළිල්ල නැත. ඔහු ඊසා තුමා වක්තෘන් කෙනෙක් බව පමණක් විශ්වාස කරයි. වක්තෘන් කෙනෙකු අල්ලාහ් නොවන නිසා ඔහුට තාඩන පීඩන කිරීම හෝ කුරුසයේ තබා ඇණ ගැසීම හෝ කළ හැකිය.

ඉස්ලාමයට පැටළිලි සහිත ගැටලුවක් නොමැති වුව ද එය ප්‍රශ්නයට විසඳුමක් ඉදිරිපත් කර ඇත. එය ඊසා තුමා කුරුසයේ තබා ඇණ ගැසීම සිදු නොවන සේ අල්ලාහ් විසින් එතුමා රැක ගන්නා ලද බවය.

4. ඉස්ලාම් ධර්මය ක්‍රිස්තියානි ආගම සමග එකඟ නොවන අනෙක් කරුණ නම් ''පාපයෙන් මුදා ගැනීම'' පිළිබඳ මතයයි. මෙම මතයට පදනම් වී ඇත්තේ 'සහජ පාපය' පිළිබඳ අදහසයි. එනම් ආදම් සහ හව්වා කළ පාපය වෙනුවෙන් දෙවියන් විසින් මිනිස් වර්ගයා හෙලා දකින ලදියි යන මතයයි. එම පාපය මුල් යුවළගේ දරුවන්ටත් දරුවන්ගේ දරුවන්ටත් වශයෙන් සියලු මනුෂ්‍යයන්ට උරුම විය යන්නයි. මෙම මුළු සිද්ධාන්තය ම ඉස්ලාම් ප්‍රතික්ෂේප කරයි.

ජීවිය ආරම්භයේ යුවළක් කළ වරදක් වෙනුවෙන් මුළු මනුෂ්‍ය සංහතියට ම දෙවියන් දඬුවම් කරයි යන්න පිළිගත හැකි මතයක් නොවේ. ( එය ඊළග විමසුමේදී සැක හැර පැහැදිලි කර ඇත.)

**''සහජ න්‍යාය''** යන්නක් නොමැත. ඒ නිසා මනුෂ්‍යයන් නොමැති පාපයෙන් මුදා ගැනීමක් අවශ්‍ය නොවේ. තවද සහජ පාපයක් පැවතුනි නම් ඒ වෙනුවෙන් කිසිදු පාපයක් නොකළ ඊසා තුමා වැනි පුද්ගලයකු කුරුසයේ ඇණ ගසා මරා දඬුවම් කිරීම යුතු නොවේ. අහිංසක අයකුට තාඩන පීඩන නොකර මනුෂ්‍ය සංහතියට සමාව දීම කළ හැකිව තිබුණි. තම අනුගාමිකයන් කීකරු නොවූ පාලකයා ලෙස සලකණු ලබන අයකු කුරුසයේ ඇණ ගසා දඬුවම් පමුණුවන තෙක් දෙවියන් මනුෂ්‍ය සංහතියට ම සමාව නොදෙන බව පැවසීම සාධාරණ නොවේ.

එම දරුවන් තම පියාගේ පව් වලට සමාවන මෙන් පාලකයාගෙන් ඉල්ලා සිටි විට තම හිතවත් පුද්ගලයෙක් මරා දමන තෙක් එසේ සමාවීම ඔහු ප්‍රතික්ෂේප කළේ ය. ඔවුන් එවැනි සාපරාධී ක්‍රියාවක් කළ විට පමණක් සමාවීම යන්න දෙවියන් සම්බන්ධයෙන් පිළිගත හැක්කක් නොවේ. දෙවියා ඉතාමත් සාධාරණ යුක්තිගරුක මිනිසුන්ට තම පැරැන්නන්ගේ වැරදි වෙනුවට දඬුවම් නොකරන කෙනකු විය යුතු ය. ඔහු මිනිසුන් මහා පාපවලින් මුදවා ගැනීම සඳහා මිනිසුන්ගේ සාමාන්‍ය පව් වලට සමාවෙන කෙනෙක් විය යුතු ය.

# විමසුම - 08

## දෙවියන්ගේ යුක්තිය පසිඳලීම

විල්සන් : කරුණාබරිත වීම බුද්ධිමත් වීම අසාහය වීම පරිත්‍යාග ශීලී වීම සදාතනික වීම විශ්වයේ නිර්මාතෘ වීම යන ගුණයන් ගැන ශුද්ධ වූ අල්කුර්ආනය ඉතා පැහැදිලිව කරුණු දක්වා ඇති බව මම දනිමි. යුක්තිය පසිඳලීම ද දෙවියන්ගේ ලක්ෂණයක් බව සමහරු කියන අතර අන් අය එසේ නොවන බව පවසති.

චිර්රි : දෙවියන්ගේ යුත්ති ගරුකභාවය හා සාධාරණත්වය ප්‍රතික්ෂේප කරන කිසිදු ආගමක් තර්කානුකූල විය නොහැක. එසේ කිරීම ආගමික සංකල්පය සහමුලින්ම පහත් කොට සැලකීමක් වන්නේ ය. කිසිදු ආගමික විශ්වාසයක් එනම් පරමාධිපත්‍යයක් පවතී යන විශ්වාසය පවා ඔහුගේ යුක්තිය පසිඳාලීමේ ගුණය ප්‍රතික්ෂේප කරන්නේ නැත.

අසාධාරණ පාලකයෙක් වැරදි කරන්නාට ප්‍රශංසාවත් හොඳ දේ කරන්නාට දඬුවමත් ලබා දිය හැකි ය. ඔහුට කීකරු වන්නා අනිවාර්යෙන් ම ඔහුගේ තෘප්තියට ලක් වන්නේ නැත. එසේ ම ඔහුට අකීකරු වන්නා අනිවාර්යයෙන් ම ඔහුගෙන් උපකාර ලබන්නෙක් ද වන්නේ ද නැත.

දෙවියන් තම මිනිස් ගැත්තන්ගෙන් බලාපොරොත්තු වන දේ පැවසීමට තරම් සාධාරණ නිසා අපි දේව පණිවිඩය ද දෙවියන්ගේ දූතයන් ද විශ්වාස කරන්නෙමු. එහෙත් අසාධාරණ වූ දෙවියෙක් කිසිවක් අපට නොකියනු ඇත.

නැතහොත් ඔහු අදහස් කරන දේ නොකියනු ඇත. මෙයින් වක්තෘත්වය යන මතය මුලුමනින්ම බිඳ වැටෙනු ඇත.

අල්ලාහ් යුක්තිය පසිඳලීම ප්‍රතික්ෂේප කිරීම මඟින් මතු දිවිය පිළිබඳ මතය ද ප්‍රතික්ෂේප කරන්නේ ය. මතු දිවිය යනු වැරදි කළ තැනැත්තාට දඬුවම් ද යහපත් දේ කළ තැනැත්තාට ප්‍රශංසාද පමුණුවන අවස්ථාව වන්නේ ය.

කෙටියෙන් පැවසුවහොත් දෙවියන්ගේ යුක්තිය පසිඳලීම යන සංකල්පය දෙවියන්ගේ පැවැත්ම හා දෙවියන්ගේ ඒකීයත්වය යන සංකල්පය තරමට අපට වැදගත් ය. එය ප්‍රතික්ෂේප කිරීම ඉහත සියල්ල ම ප්‍රතික්ෂේප කිරීම බඳුය. එහෙයින් යුක්තිය පසිඳලීම යන සංකල්පය ආගමික සිද්ධාන්තවල කොටසක් ලෙස සැලකිය හැකි ය. එසේ ම එය නොමැති ව කිසිදු ආගමක් තර්කානුකූලව ස්ථාපිත විය නොහැක.

ඉස්ලාම් මුළුමනින් ම රැඳී ඇත්තේ මෙම ස්ථාවර හා තර්කානුකූල චින්තනය මතය. අල්ලාහ් ගේ ඒකීයත්වය හා පැවැත්ම ගැන සඳහන් කරන අල්කුර්ආනය අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීම ගැන විශේෂයෙන්ම අවධානය කරයි. පරිච්ඡේද ගණනාවක අසාධාරණය හෙලා දැක ඇත. බොහෝ පරිච්ඡේද වල දෙවියන් යුක්ති ගරුක සාධාරණ අයෙකු වශයෙන් හෝ ඔහුට ඔහුගේ ගැත්තන්ට කිසිදු පක්ෂග්‍රාහී බවක් දැක්වීම අනවශ්‍ය බව හෝ කිසිවකුගේ යහපත් ක්‍රියා අපතේ නොහරින බව හෝ කිසිවකුගේ අංශු මාත්‍රයක යහපත් ක්‍රියාවක් නිශ්ඵල නොකරන බව හෝ දක්වා ඇත.

**"ඔහු හැර (අන්) දෙවියකු නැතයි. අල්ලාහු ද මලක්කු ද යුක්තියේ ස්ථිර වූ දැනුමැත්තෝ ද සාක්ෂි දරති. ඔහු හැර (අන්) දෙවියෙක් නැත. ඔහු බලසම්පන්න ය නුවණැති ය".** 3:18

**"යමෙක් අංශු ප්‍රමාණක හොඳක් කළේ නම් ඔහු එය**

දකින්නේ ය. යමෙක් අංශු ප්‍රමාණයක නරකක් කළේ නම් ඔහු එය දකින්නේ ය''. 99:7-8

විල්සන් : අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීම පිළිබඳ ප්‍රකාශනය මම දන්නා ඉතාම සාධාරණ ප්‍රකාශය වන්නේ ය. යුක්තිය පසිඳලීමක් සිදු නොකරන දෙවියන් පිළිබඳ සංකල්පය අපට කිසිදු ප්‍රයෝජනයක් ලබා දෙන්නේ නැති නිසා මෙම ආගමික මතය අතිශයෝක්තියක් නොවේ. අසාධාරණ දෙවියකු විශ්වාස කිරීමට හෝ සතුටු කිරීමට නොහැක. යුදෙව් ආගම මෙන් ම ක්‍රිස්තියානි ආගම ද දෙවියන්ගේ යුක්තිය පසිඳලීම පිළිබඳ ඉස්ලාමීය මතයට සමාන මතයක් දරයි. එහෙයින් මේ මතය සම්බන්ධයෙන් මෙම ආගම් දරණ කිසිඳු මතභේදයක් නැති බව මම දනිමි.

විර්රි : ඉස්ලාම් හා අනෙක් ආගමික විශ්වාසයන් අතර යුක්තිය පසිඳලීම සම්බන්ධයෙන් කිසිදු වෙනසක් නැත. එහෙත් එය පදනම් කරගෙන ඇති කරන සංකල්පය මූල් සංකල්පයට අනුකූල නොවේ නම් එය ඉස්ලාමය පිළිගන්නේ නැත.

විල්සන් : දෙවියන්ගේ යුක්තිය පසිඳලීම පදනම් කර ගත් වෙනත් සිද්ධාන්ත ඔබට පැවසිය හැකි ද ?

විර්රි : දෙවියන්ගේ යුක්තිය පසිඳලීම පදනම් කර ගත් සිද්ධාන්ත තුනක් මම දක්වන්නම්.

1. දෙවියන් කිසිවිටෙකත් කළ නොහැකි කිසිවක් කරන ලෙස මිනිසාට අණ කරන්නේ නැත. ශුද්ධ වූ කුර්ආනයේ 2: 286 ට අනුව.

**''අල්ලාහු කෙනෙකුට ඔහුගේ තත්වයට මිස නොපටවන්නේය''.**

ඔබගේ ශක්තිය ඉක්මවන දෙයක් ඔබට කළ නොහැකි ය. එසේ නොහැකි දේ කරන ලෙස සාධාරණ වූ දෙවියන් පනවන්නේ නැත.

2. පුද්ගලයකු සිය පාලනය යටතේ ඇති දෙය හැර අන්

යමක් සම්බන්ධයෙන් වගකිව යුතු යැයි දෙවියන් බල කරන්නේ නැත.

කිසිවෙක් තවත් කෙනකුගේ ක්‍රියාවට වගකිව යුතු නැත. එය තම මිතුරන් හෝ නෑදෑයින් වුව ද ඔවුන්ගේ ක්‍රියා ඔවුන්ගේ පාලනය යටතේ නොපවතින තාක් කල් එසේ වග කිව යුතු නැත. අල්කුර්ආනයේ එය මෙසේ සඳහන් වේ.

**ඔහු සියලු දැයට ම ස්වාමිව සිටිය දී අල්ලාහ් නොවන්නකු ද මම ස්වාමියකු සේ සොයන්නෙම් දැ'යි කියව. එකෙක් ඔහුට මිස නොසපයන්නේ ය. බර උසුලන්නෙක් අන් කෙනෙකුගේ බර නොඋසුලන්නේ ය. ඉන්පසු තොපගේ ස්වාමි වෙත ද තොපගේ පුනා පැමිණීම. තොප එහි විවාද කරමින් හුන් දැය ගැන තොපට දන්වන්නේ ය.** 6 : 164

3. මෙය සත්‍ය නම් ආදම් සහ හව්වාගේ වරද වෙනුවෙන් මනුෂ්‍ය සංහතිය වගකිව යුතු නැත. ආදම් සහ හව්වාගේ ඒ නොමනා ක්‍රියාවට මුළු මනුෂ්‍ය සංහතිය ම වගකිව යුතු යැයි කීම ආදම් සහ හව්වාගේ ක්‍රියාවේ වගකීම දසදහස් පරම්පරා විසින් බෙදා ගැනීම ය. මුළු මනුෂ්‍ය සංහතිය ම තමන් ඉපදීමට පෙර සිදු වූ සිද්ධියක් සම්බන්ධයෙන් හෙළා දකිනු ලබයි. මෙය දෙවියන්ගේ යුක්තිය පසඳලීම යන ක්‍රියාවලිය හා ගැලපෙන්නේ නැත.

මනුෂ්‍යයකු වන විනිශ්චයකාරවරයෙකු තමා සම්බන්ධ නොවූ තම පියාගේ වරදට පුතෙකුට දඬුවම් නොකරයි. එසේ සර්ව සාධාරණ වූ දෙවියන් අයෙක් කළ වරදට ඔහුගේ දරු මුණුබුරන්ට වරද පටවන්නේ යැයි සිතන්නේ කෙසේ ද?

එහෙයින් ඉස්ලාම් සහජ පාපය පිළිබඳ සිද්ධාන්තය සහමුලින් ම ප්‍රතික්ෂේප කරයි. එසේ ම සෑම මිනිසකුම ඉපදෙන අවස්ථාවේ කිසිදු පාපයක් නොකළ පාරිශුද්ධ අයකු ලෙස ද පිළිගනියි. සැබවින් ම අලුත උපන් බිළිඳා සියලු පාප වලින් මිදුන පාරිශුද්ධ අයකුට උදාහරණයක් ලෙස පෙන්වා දෙයි.

සෑම මිනිස් ළදරුවෙකු ම සියලු පව් වලින් මිදුන පාරිශුද්ධ පුද්ගලයකු ලෙස ඉපදෙන බව ඉස්ලාම් උගන්වයි. තවද ඔහු

වැඩිහිටියෙකු වී පාප ක්‍රියාවල යෙදෙන තෙක් පිරිසිදු අයෙකු බව පවසයි.

වැඩිහිටි වයසේ දී පාප ක්‍රියාවල යෙදීමෙන් පුද්ගලයාගේ පාරිශුද්ධතාවය නැතිවන්නේ ය.

එහෙත් සදහම් ක්‍රියාවල යෙදීමෙන් පුද්ගලයාට නැවත පාරිශුද්ධ තත්වයකට පත්විය හැකි ය. පුද්ගලයා අවංකව තම පාප ක්‍රියා ගැන පසුතැවිලි වී එය නැවත කිරීමෙන් වැලකී දෙවියන්ට කීකරු වූයේ නම් පරම දයාබර වූ ඒ දෙවියා ඔහුට සමාවනු ඇත.

**විල්සන් : මොහොතකට මම මාතෘකාවෙන් පිට කතා කරමි. ආදම් සහ හව්වා අප හා සමාන සාමාන්‍ය මිනිසුන්ය. ඔවුන් තම වරද ගැන අවංක ව පසුතැවිලි වී සමාව ඉල්ලුවා යැයි සිතමු. එසේ නම් ඔවුන්ගේ පවට සමාව ලැබුණා ද ?**

**විර්රි** : ඔබගේ ඒ උපකල්පනය නිවැරදි ය. ආදම් තම වරද ගැන අවංකව ම පසුතැවිලි වූයේ ය. ඒ නිසා ආදම්ට සර්ව බලධාරී දෙවියන් සමාව දුන්නේ ය. මේ බව ශුද්ධ කුර්ආනයේ දැක්වේ.

**ආදම් ඔහුගේ ස්වාමිහුගෙන් වචන ස්වල්පයක් ඉගෙන ගත්තේ ය. එවිට හේ (අල්ලාහු) ඔහුට කමාව දුන්නේ ය. ඇත්තෙන් ම හේ සමාව දෙන්නේයැ. දයාලූයැ. 2 : 37**

**විල්සන්** : ආදම්ට සමාව දෙන ලද්දේ නම් ඔහු ස්වර්ගයෙන් දෙවියන් විසින් පිටමං කරනු ලැබුවේ ඇයි?

**විර්රි** : ස්වර්ගයෙන් පිටමං කරනු ලැබීම ඇත්ත වශයෙන් ම පවකට දෙන ලද දඬුවමක් නොවේ. එය ඔහුගේ තත්වය වෙනස් කිරීම ට අවශ්‍ය වූ දෙයක් විය හැකිය. මුලදී ආදම් තුමාට ඕනෑම අවස්ථාවකදී අල්ලාහ්ට කතා කිරීමට හැකියාවක් තිබුණි.

වැරදි විදිහට ක්‍රියා කිරීම නිසා විශ්වාස කළ නොහැකි තත්වයට එතුමා පත්විය. එතුමා සතුවූ වරදින් මිදීමට ඇති හැකියාව නැති විය. එමනිසා ඕනෑම අවස්ථාවක තම හිමියා සමඟ සම්බන්ධතා පැවැත්වීමට උසස් තත්වයෙන් ඔහු පහ කරන ලදි. ස්ථිර ලෙසම පාරිශුද්ධ වූ අවස්ථාවේ ඔහුට පෙර තත්ත්වයට

පත්වීමට හැකි විය. එහෙත් කලින් මෙන් ඔහුගෙන් වැරදි සිදු විය හැකි නිසා මෙම තත්වය ස්ථිර එකක් නුවූයේ ය.

**විල්සන් : පරණ තෙස්තමේන්තුව අනුව තහනම් ගසේ ගෙඩි කෑම ආදම් කළ වරද බව පැවසේ. දෙවියන් ආදම්ට කර තිබූ ඒ ගහ දැනුමේ ගහ විය. මේ සම්බන්ධයෙන් කුර්ආනය දක්වන අදහස කුමක්ද?**

**චිර්රි** : තහනම් කළ ගසක් තිබූ බවත් එම ගහේ ගෙඩි කෑම ආදම් කළ වරද බවත් කුර්ආනය පවසයි. ඒත් එම ගස කුමන වර්ගයේ ගසක් ද යන්න කුර්ආනයේ සඳහන් නොවේ. ඉස්ලාමීය දර්ශනය අනුව එය දැනුමේ ගසක් විය නොහැකි ය. දැනුම ලැබෙන්නේ ඉගෙනීමෙන් හා අත්දැකීම් ලැබීමෙනි. දැනුම ගස් වල හැදෙන්නේ නැත. අල්ලාහ් අවශ්‍ය වූයේ ආදම් සහ හව්වා තමාට කොතරම් දුරට අවනතදැයි දැන ගැනීම ය. කුර්ආනයට අනුව අල්ලාහ් දැනුම අගය කරන නිසා ඔහු දැනුම ගහ තහනම් කළ බව කීම පිළිගත හැක්කක් නොවේ.

**විල්සන් : අපි නැවතත් මුල් සාකච්ජාවට හැරෙමු. මනුෂ්‍ය සංහතියේ පාරිශුද්ධභාවය ගැන ඉස්ලාම් ස්ථිර ප්‍රතිපත්තියක් දරණ බව මට පැහැදිලි ය. මේ සම්බන්ධව ඉස්ලාමීය ඉගැන්වීම දැඩි හා ස්ථාවර ය.**

ඉස්ලාම් අල්ලාහ්ගේ යුක්තිය පසිඳවාලීම පිළිගන්නා අතර අල්ලාහ්ගේ යුක්තිය පසිඳවාලීමෙන් කිසි අයුරින් වෙන් කළ නොහැකි තනි පුද්ගලයාගේ වගකීම පිළිබඳ මූලධර්මය සහතික කරයි.

ක්‍රිස්තියානින් සහජ පාපය පිළිබඳ මතය ඉදිරිපත් කරන විට ඔවුන් පවෙන් මුදා ගැනීම යන තවත් මතයකට ද මුල පුරති. ඔවුන්ගේ මතය අනුව මනුෂ්‍ය සංහතිය සහජ පාපය නිසා හෙලා දකිනු ලබයි. එනම් ආදම් හා හව්වාගේ පාපය මුළු මිනිස් සංහතියට උරුම වී ඇත. එහෙයින් අප පාපයෙන් මිදිය යුතුය. අපගේ ඒ පව් වෙනුවෙන් කවුරුන් හෝ ගෙවිය යුතුය. ඊසා තුමා කුරුසයේ තබා ඇණ ගසනු ලැබීමෙන් පව් ගෙව්වේ ය. මෙසේ මිනිස් සංහතියේ ගැලවුම්කාරයා බව ඊසා තුමා පත්විය.

සහජ පාපය පිළිබඳ මතය ප්‍රතික්ෂේප කිරීමෙන් මුදා ගැනීම පිළිබඳ මතය පදනම් රහිත වේ. මේ පිළිබඳ කලින් ද සාකච්ඡා කළෙමු. එහෙත් මුදා ගැනීම පිළිබඳ සිද්ධාන්තය අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීම හා නොගැලපෙන සිද්ධාන්තයකි.

**චිර්රි** : සහජ පාපය පිළිබඳ සම්පූර්ණ ගැටලුව ම අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීම යන්න මුළුමනින් ම ප්‍රතික්ෂේප කරයි. කෙසේ වුව ද ඉතාමත් සාධාරණ වූ අල්ලාහ් මුළු මනුෂ්‍ය සංහතියේම පාපය වෙනුවෙන් ඊසා වැනි අහිංසකයෙකුට වන්දි ගෙවීමට සලස්වයි කියා කිසි අයුරින් සිතිය නොහැකි ය. අනික් අතට ගෙඩියක් කෑම වැනි සාමාන්‍ය වරදක් ඊසා තුමා වැනි පූජනීය පුද්ගලයෙකු ඝාතනය කිරීමෙන් මකා දමන්නේ කෙසේ ද ?

පාප ක්‍රියාවක් මකා දැමිය හැක්කේ යහපත් ක්‍රියාවකින් මිස ඝාතනයකින් නොවේ. අනෙක් අතට ඉතා ම සාධාරණ වූත් යුක්ති ගරුක වූත් පුද්ගලයා තම හිතවත් දූතයාට සමාව දීම වෙනුවෙන් ඔහුගේ රුධිරය ඉල්ලා සිටීම කෙසේ නම් පිළිගත හැකි ද?

# විමසුම - 09

## නිදහස හා දෛවය හෝ දෙවියන්ගේ කැමැත්ත

විල්සන් : දෙවියන්ගේ යුක්තිය පසිඳලීම යන සංකල්පය නිසා බිහිවුණා වු ද ආගම යන සංකල්පය තරම් දර්ශනයේ දී විවාදයට ලක්වුනා වු ද තවත් කරුණක් වනුයේ මිනිසාගේ නිදහසයි. දාර්ශනිකයින් මෙන් ම ආගමික විද්වතුන් ද මිනිසාගේ නිදහස යන කරුණ සම්බන්ධයෙන් විවිධ මත දරති. මිනිසාගේ නිදහස ගැන කරුණු දක්වන සමහරු පවසන්නේ මිනිසා කරන සියල්ල ඔහුගේ කැමැත්ත අනුව කරන බවය. අනෙක් සමහරු මේ මතය ප්‍රතික්ෂේප කරමින් මිනිසාගේ නිදහස් ක්‍රියා ලෙස දක්නට ලැබෙන සියල්ල කලින් තීරණය කළ ඒවා හෙවත් සමහර සිද්ධීන් වල හෝ ක්‍රියා දාමයක හෝ ඉරණමක හෝ ප්‍රතිඵලය වශයෙන් පැහැදිලි කරති.

මා කියවූ සමහර ඉස්ලාමීය ග්‍රන්ථ අනුව ඉස්ලාම් දෛවය හෙවත් ඉරණම යන මතය දරණ බව පෙනේ. නැතහොත් මිනිසාගේ සියලු කාර්යයන් දෙවියන් විසින් කලින් ම නිර්ණය කළ ඒවා බවත් ඔහුගේ ක්‍රියාවල දිශාව ඔහුට වෙනස් කළ නොහැකි බවත් පැවසේ. එසේ ම මා කියවූ තවත් සමහර ග්‍රන්ථ මිනිසාගේ නිදහස වෙනුවෙන් කරුණු දක්වන අතර

**මිනිස් ක්‍රියාකාරකම් සම්බන්ධයෙන් දෛවය හෝ ඉරණම හෝ කලින් ම නිර්ණය කිරීම හෝ යන සංකල්පය ප්‍රතික්ෂේප කරයි. මේ සම්බන්ධයෙන් ඔබ සමඟ සාකච්ඡා කිරීමටත් මෙම වැදගත් ප්‍රශ්නය සම්බන්ධයෙන් සැබෑ ඉස්ලාමීය ඉගැන්වීම කුමක් දැයි දැනගැනීමටත් කැමැත්තෙමි.**

**විර්රි** : අපගේ සාකච්ඡාවට බඳුන්වන කරුණු ගැන නිර්වචනය කළ හොත් මිනිසා විසින් පාලනය කළ නොහැකි රෝගී තත්ත්ව අන්ධභාවය මරණය වැනි කරුණු ගැන මෙම සාකච්ඡාවට භාජනය නොකරන බව පැහැදිලි කළ යුතුයි. මෙම අවස්ථාවන්ට පත්වීම සම්බන්ධයෙන් මිනිසාට නිදහසක් තිබෙන බව කිසිවකු තර්ක කරනු නො ඇත. මෙම ක්ෂේත්‍රය සම්බන්ධයෙන් මිනිසාට නිදහසක් නොමැත යන්න තර්කයෙන් තොරය. අපගේ සාකච්ඡාවට භාජනය වනුයේ මිනිසා සිය කැමැත්ත අනුව කරන ක්‍රියාවන් ගැනය. මේ කරුණ සම්බන්ධයෙන් කලින් සිට පැවති මතභේද නිසා ජනයා කණ්ඩායම් දෙකකට බෙදී සිටිති. ඒවා නම් මිනිසාගේ නිදහස ගැන කියන මතධාරීන් හා මිනිස් ක්‍රියාකාරකම් දෛවය අනුව නැතහොත් දෙවියන් කලින් නිර්ණය කළ පරිදි සිදුවන බව කියන මතධාරීන් ය.

ඔබ දන්නා පරිදි ඉස්ලාම් දෙවියන් විසින් පහළ කරන ලද අණපනත් ගැන අපට පවසයි. තම අණපනත් වලට කීකරු වන්නන් ට අල්ලාහ් ප්‍රසංශා කරන බවත් ඒවාට කීකරු නොවන්නන් ට දඬුවම් පමුණුවන බවත් ඉස්ලාම් තව දුරටත් පවසයි. මෙවැනි ඉගැන්වීමක් කරන ආගම පැවතිය හැක්කේ එය මිනිස් නිදහස පිළිගන්නේ නම් පමණි. එසේ නොමැති විට එවැනි ආගමක් අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීම යන සංකල්පය ප්‍රතික්ෂේප කළ යුතුයි.

අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීම හා පූර්වයෙන් නිර්ණය කිරීම යන මත දෙක ම ඉදිරිපත් කරන ආගමක් අල්ලාහ් තම අණ පනත් වලට කීකරු වූ විට ප්‍රශංසාවත් අකීකරු වූ විට දඬුවමක් පමුණුවන බව පවසන විට එය පරස්පර විරෝධී අදහස් දැක්වීමකි. මිනිසාගේ ක්‍රියාව හෝ අලසකම අල්ලාහ් විසින් පූර්වයෙන් තීරණය කරනු ලබන විට එහි අරමුණ වෙනස් කිරීමට මිනිසා අසමත් වන්නේ ය. එනම් ඔහු යම් කිසිවක් කිරීම සඳහා යොමු

කරනු ලැබ ඇති විට එයට වෙනස් කිසිවක් කිරීමට ඔහු අසමත් වන්නේ ය. විට මිනිසා යන්ත්‍රයකට සමාන වන්නේ ය. යන්ත්‍රයකට එහි අරමුණු වෙනස් කර ගැනීමට නොහැකි වේ. යන්ත්‍රයකට කිසියම් අරමුණකට යොමුවන ලෙස කීම හෝ යන්ත්‍රයකට තෑගි දීම හෝ දඬුවම් කිරීම හෝ අර්ථවත් ක්‍රියාවක් නොවේ.

මිනිස් නිදහස යන සංකල්පය අයින් කිරීම මඟින් ආගමේ සියලු සංකල්ප බිඳ වැටෙන්නේ ය. අප මිනිසාගේ නිදහස ප්‍රතික්ෂේප කරන්නේ නම් අල්ලාහ් අණ පනත් පහළ කිරීම අවශ්‍යවන්නේ නැත. තව ද මිනිසා යහ මග යැවීම සඳහා නබිවරු යැවීම ද නිෂ්ඵල කාර්යයක් වන්නේ ය.

මනුෂ්‍යයෙක් අදෛව වාදියෙකු වීමට අල්ලාහ් විසින් යොමු කර ඇත්නම් ඔහුට කිසිදා විශ්වාස වන්තයෙකු විය නොහැක. එසේ ම කිසිදු වක්තෘවරයෙකුට ඔහුගේ සිත වෙනස් කිරීම ද කළ නොහැකි ය. එසේ පෙර නියම කරනු ලැබූ අපරාධකාරයෙකු කුමන මඟ පෙන්වීමක් ලැබුව ද කිසිදා යහපත් පුරවැසියෙකු වන්නේ නැත.

සැබැවින් ම මිනිසාගේ නිදහස ආගමේ සියලු සංකල්ප වල පදනම වී ඇති අතර ඉස්ලාම් මිනිසාගේ නිදහස ගැන ඉතා පැහැදිලිව කරුණු දක්වයි.

විල්සන් : අපගේ පෙර සාකච්ඡාව අනුව ඉස්ලාම් ආගම දෙවියන්ගේ යුක්තිය පසිඳලීම යන මතය ගැන දැඩිව කරුණු දක්වන බව මම දැන ගත්තෙමි. ඒ නිසා ඉස්ලාමය මිනිසාගේ නිදහස ගැන කරුණු දැක්වීමටත් පූර්ව නියම කිරීම හෝ කරුමය දෛවය යන මතය දැඩිව ප්‍රතික්ෂේප කිරීමටත් යොමු වන බව කිව හැකිය. ශුද්ධ වූ කුර්ආනය මිනිසාගේ නිදහස ගැන පැහැදිලිව කරුණු දක්වා තිබේ දැයි දැන ගනු කැමැත්තෙමි.

**චිර්රි** : මිනිසා නිදහස් පුද්ගලයෙකු බව ශුද්ධ වූ කුර්ආනය විවිධ අවස්ථාවල පෙන්වා දී ඇත.

**"ඇත්තෙන්ම තමන් ළඟ ඇති දැය තමන්ම වෙනස් කර ගන්නා තුරු ජනතාවක් ළඟ ඇති දැය අල්ලාහු වෙනස් නොකරන්නේය".** 13 : 11

මිනිසා යම් කරුණක් සම්බන්ධයෙන් පූර්වයෙන් යොමු කරනු ලැබුවේ නම් ඔහුට එම කරුණ වෙනස් කිරීමට හැකි වන්නේ නැත.

එය වැළැක්වීමට ඔහු කුමක් කළත් එය සාර්ථක වන්නේ නැත. ශුද්ධ වූ කුර්ආනය තව දුරටත් මෙසේ ප්‍රකාශ කරයි. තමාට නොහැකි කිසිවක් කරන ලෙස පුද්ගලයෙකුගෙන් දෙවියන් බලාපොරොත්තු වන්නේ නැත. එසේ ම තම සේවකයන් අසීරු තත්ත්වයකට පත් කිරීමට ද ඔහු අකමැත්තේ ය.

**"අල්ලාහු කෙනෙකු ට ඔහුගේ තත්ත්වයට මිස නො පටවන්නේ ය."** 2 : 286

**"සර්ව බලධාරියා ඔබට අසීරු දෙයක් පැටවීමට නොව ඔබව සවිශුද්ධ කිරීමටත් ඔබ කෙරෙහි ඇති ඔහුගේ දායාදයන් සම්පූර්ණ කිරීමටත් කැමැත්තේ ය. එහෙයින් ඔහුට ඔබ කෘතඥ වන්න."** 5 : 8

උදාහරණයක් ලෙස මිනිසෙකු නැමදීම් නො කිරීමටත් මිනීමැරුම් කිරීමටත් පූර්වයෙන් ම නියම වී සිටි නම් දෙවියන් ඔහුට මිනී නො මැරීමටත් නැමඳුම් කිරීමටත් කියන විට ඔහු ඉමහත් අසීරු තත්ත්වයකට පත්වන්නේ ය. තව ද ඔහුට කියනු ලැබුවේ ඔහුට කළ නොහැකි කරුණක් මිස ඔහුට කළ හැකි දෙයක් නොවේ. මක් නිසා ද යත් ඔහුගේ උපතට පෙර ඔහු ඝාතකයෙකු හා වන්දනාමාන නො කරන්නෙකු ලෙස පූර්ව නියමය ලබා සිටින්නේ ය. එහෙයින් ඔහුට දෙවියන්ට කීකරු විය නොහැකි ය.

එසේ ම මිනිසාට වන්දනාමාන කිරීමටත් ඝාතනය නො කිරීමත් අණ කිරීමෙන් අදහස් වන්නේ දෙවියන් විසින් තම යටහත් සේවකයා ස්වාධීන පුද්ගලයෙකු ලෙස දැකීම ය. දෙවියන්ගේ අණට කීකරු වීමත් අකීකරු වීමත් මිනිසාගේ හැකියාව අනුව සිදු වන්නේ ය.

සෑම පුද්ගලයෙකු ම තම ක්‍රියාවන්ට තමා ම වග කිව යුතු බව පැවසීමෙන් ශුද්ධ වූ කුර්ආනය මිනිසාගේ නිදහස ගෙනහැර දක්වයි.

**"කවුරුන් තම ආත්මය වෙනුවෙන් ඍජු මාර්ගයේ ගියේද ඔහු ගැලවුණේය. කවුරුන් තම ආත්මය නොමඟ යැව්වේද ඔහු පරිහානියට පත් වන්නේ ය."** 39 : 41

**"බර උසුලන්නෙක් අනිකෙකුගේ බර නො උසුලන්නේය."** 53 : 38

**"එම්බල මනුෂ්‍යයනි තොපගේ ස්වාමියාගෙන් තොපට සත්‍ය පැමිණ දැය යමෙක් යහමග තෝරා ගන්නේ ද එහි යහ ඔහුටම ය. යමෙක් නොමග (තෝරා) ගන්නේ ද එහි අයහ ඔහු කෙරෙහිම යැ මම තොපට පාලකයෙක් නො වෙමි."** 10 : 108

පුද්ගලයාගේ වගකීම පිළිබඳ මෙම සංකල්පය මඟින් පුද්ගලයා ස්වාධීන අයෙකු බව මනාව පැහැදිලි වේ. එසේ නොවූවානම් ඔහු නිපදවූ කිසිවකට ඔහු වගකීම දරන්නේ නැත. වගකීම ස්වාධීනත්වයෙන් වෙන් කළ හැකි එකක් නොවේ.

විල්සන් : ඉහතින් ඔබ ගෙන දැක්වූ අල්කුර්ආනීය වාක්‍ය වලින් සැබවින් ම මිනිසාට සෑහෙන ප්‍රමාණයක ස්වාධීනත්වයක් උරුම වී ඇති බවත් ඒ අනුව ඔහු ගේ ක්‍රියාවලට ඔහුට පැසසුම හෝ දඬුවම හිමි වන බවත් පැහැදිලි ය. එහෙත් පූර්ව නිර්ණය පිළිබඳ දක්වන අල්කුර්ආන් වාක්‍ය ද ඇත. මේ වාක්‍ය අනුව මිනිසාගේ ක්‍රියා දෙවියන් විසින් පාලනය කරන බව පැවසේ. එවැනි සමහර වැකි මෙසේය.

**"ඇත්තෙන්ම මෙය (කුර්ආනය) අවවාදානුශාසනයකි. යමෙක් සිතුවේ නම් ඔහුගේ හිමි වෙතට මාර්ගයක් සොයා ගනිත්වා අල්ලාහු තආලාගේ සිතීම විනා තොපි නො සිතන්නහුය. අල්ලාහු සියල්ල දන්නේය."** 76:29-30

**"එය ඔබගේ පිරික්සුමක් මිස නැත එයින් ඔබ සිතන අය අයහමග කරන්නෙහිය. ඔබ සිතන අය යහමග කරන්නේය."** 7 : 155

ඉහතින් සඳහන් කළ වාක්‍යවලට විරුද්ධ අදහසක් මෙම වාක්‍ය මඟින් දැක්වේ. මෙය පැටළිලි සහිත උභතෝකෝටික තත්ත්වයක් ඇති කරයි.

**විර්රි** : මුස්ලිම්වරයෙකුට ඉතාමත් නිවැරදි මගපෙන්වීම ඇත්තේ අල්කුර්ආනයේ ය. එහි ඇත්තේ සත්‍ය පමණි. අල්කුර්ආනයේ අඩංගු සියලු කරුණු සැබෑ වන්නේ ය. පරස්පරව දක්වන යමක් වේ නම් එම පරස්පරතාවය මායාවක් මිස සැබෑ එකක් නොවන්නේ ය. අල්කුර්ආනයේ වාක්‍ය දෙකක් එකිනෙකට නොගැලපෙන බව දක්නට ඇති විට ඒවා කෙරෙහි ක්‍රියා කළ යුතු ආකාරයක් ඇත.

එක් කණ්ඩායමක් අනික් කණ්ඩායමට වඩා පැහැදිලිව කරුණු ඉදිරිපත් කරන විට අප පිළිපැදිය යුත්තේ වඩාත් පැහැදිලි කණ්ඩායමයි. ඒ අතර අනික් කණ්ඩායම පළමු කණ්ඩාමට විරුද්ධ නොවන ආකාරයට නිර්වචන ඉදිරිපත් කළ යුතුයි. මෙවැනි පිළිවෙළක් අවශ්‍ය වන්නේ ගැටලුවේ තර්කානුකූල පැත්ත වඩාත් පැහැදිලි කණ්ඩායම දරණ විටය. ඉහත සඳහන් කළ කණ්ඩායම් දෙක සම්බන්ධයෙන් ද මෙය ගැලපෙන්නේ ය.

මෙම කරුණු සිතෙහි දරා ගන්නා විට ඉහත කණ්ඩායම් දෙක අපට පැහැදිලිව වටහා ගත හැකි වන්නේ ය. එසේ ම පළමු කණ්ඩායම ප්‍රතික්ෂේප නොවන පරිදි දෙවන කණ්ඩායම නිර්වචනය කිරීමට ද හැකි වන්නේ ය.

දෙවන කණ්ඩායමේ වාක්‍ය දෙකේ පළමු වාක්‍ය අනුව මිනිසාට තේරීමේ හැකියාව අල්ලාහ්ගෙන් ලැබුණු දෙයක් බව අපට වටහා ගත හැකිය.

මිනිසාට මතයක් තෝරා ගත හැකි වුව ද ඔහුගේ තේරීමේ හැකියාව අල්ලාහ්ගෙන් ලැබුණ දායාදයක් වේ. මිනිසාගේ මෙම හැකියාව නැති කිරීමට හෝ මිනිසාගේ කැමැත්තට බාධා කිරීමට හෝ අල්ලාහ්ට හැකිය. එහෙත් සාමාන්‍යයෙන් අල්ලාහ් එසේ කරන්නේ නැත.

වාක්‍ය දෙකේ දෙවන වාක්‍යය ද මිනිසාගේ නිදහස ප්‍රතික්ෂේප නොකරන ආකාරයට නිර්වචනය කළ හැකිය. අල්ලාහ් විසින් පුද්ගලයෙකු නිවැරදි මාර්ගයට යොමු කළ හැකි අතර තවත් පුද්ගලයෙකු කරදරයේ දැමිය හැකි ය. එහෙත් අල්ලාහ් අහඹු ලෙස අයෙකුට මග පෙන්වීමත් තවත් අයෙකු වරදෙහි පිහිටු වීමට ත් අනුබල දීමක් කරන බව පිළිගත නො හැකිය.

එහෙත් පුද්ගලයෙක් නිවැරදි මාර්ගය සොයමින් එම මාර්ගය අනුගමනය කිරීමට කැමති විට ඔහුට පැහැදිලි මග පෙන්වීමක් ලබා දීමෙන් අල්ලාහ් ඒ මිනිසාට උදව් කරයි. එසේම තවත් අයෙක් සත්‍යය පිළිගැනීමට සූදානම් නැති විට එසේ පසු වීමට අල්ලාහ් ඉඩ හරිනු ඇත. මෙම අර්ථකථනය මඟින් උභතෝකෝටික ප්‍රශ්නය මග ඇරේ.

තව ද පළමු වාක්‍යය කාණ්ඩයට විරුද්ධත්වයක් නො පෙන්වමින් මිනිසාගේ නිදහස පැහැදිලිව පෙන්නුම් කරයි.

**විල්සන් : විශ්වයේ සියලු කොටස් වල හා එහි ඇති සියලු සිද්ධීන්හි මැවුම්කරු අල්ලාහ්ය. ලොව ඇති කිසිදු සිද්ධියක් ඔහුගේ මැවීමෙන් පරිබාහිර නොවේ. මෙලොව සිදුවන එක් සිද්ධියක් ලෙස මිනිසාගේ අභිමතය දැක්විය හැකිය. ඒ අනුව මිනිසාට නිදහස් මතයක් තිබිය නොහැක.**

**විර්රි :** මෙය සත්‍ය නම් මිනිසා විසින් සිදුකරන සියලු අපරාධ බලහත්කාරකම් හා අසාධාරණකම් වලට අල්ලාහ්ට වගකීම පැවරිය යුතු වන්නේ ය.

අල්ලාහ් විශ්වාස කරන කිසිවෙකු අප සිදු කරන කුරිරුකම් හා පව්වලට අල්ලාහ්ට වගකීම නො පවරනු ඇත. සත්‍ය නම් තෝරා බේරා ගැනීමේ හැකියාව අල්ලාහ් විසින් මිනිසා තුල ස්ථාපිත කර ඇත. මෙයින් වැටහෙන්නේ ඔහු මිනිසාට නිදහස් චින්තනය ලබා දී ඇති බවය. එහෙත් මිනිසාගේ කැමැත්ත යොමු කිරීමට අල්ලාහ්ට හැකිය. එසේම මිනිසාට අවශ්‍ය නම් කිසියම් සත්‍යයක් තෝරා ගැනීමට උදව් කළ හැකිය. එහෙත් අපගේ ජීවිතයේ කිසිවක් එය පෙන්වා දෙන්නේ නැත. ඔහු අපට තේරීමේ ශක්තිය ලබා දී ඇති නිසා ඒ සඳහා ඔහු බාධාවක් නොකර අපට ඉඩ දී ඇතැයි සිතිය හැකිය. මෙයින් අදහස් වන්නේ අප අපගේ තේරීමේ බලය භාවිතා කළ යුතු බව අල්ලාහ් බලාපොරොත්තු වන බව හා අපගේ ම තීරණ හා තේරීම් කළ යුතු බවය.

**විල්සන් : අපගේ වර්තමානය හා අතීතය මෙන් ම අනාගතය ද අල්ලාහ් දකියි. මම දැන් කරන දේවල් මෙන් ම මෑත**

අනාගතයේ කරන්නට යන දේවල් ද ඔහු දකියි. අප ඉපදෙන්නට පෙර ඉපදුනු පසු අප කරන්නට යන දේ හා අනාගතයේ කරන දේ ද ඔහු දකියි. මෙසේ අපගේ සියලු කාර්යයන් කල් ඇතිව ඔහු දන්නවා යනු අපගේ ක්‍රියාවන් අප කිරීමට බොහෝ කලින් පූර්ව නිගමනය කළ ඒවා බවය.

අපට අල්ලාහ් නොදන්නා අලුත් යමක් කළ නොහැකි අතර ඔහු විසින් කලින් දක්නා ලද කිසිවක් නොකර සිටීම ද කළ නොහැකි ය. ඔහු දන්නා එම කාර්යය කිරීමට අප අසමත් වූවානම් එය ඔහුගේ දැනුමේ අසාර්ථක වීමකි. එහෙත් දෙවියන්ගේ දැනුම කිසි විටෙකත් අසාර්ථක නොවේ.

විර්රි : සමහර සිද්ධීන් පිළිබඳ අපගේ දැනුම එම සිද්ධිය තහවුරු කරන්නේ නැත. තව ද එම සිද්ධිය සිදුවීමට අපගේ දැනුම හේතු වන්නේ ද නැත. උදාහරණයක් වශයෙන් කිසියම් කර්මාන්ත ශාලාවක සිටින සියලු කම්කරුවන් තමන්ගේ දහවල් ආහාරය ගන්නේ මධ්‍යහ්න වේලාවේ ය. මෙහි අදහස මගේ දැනුම හෝ බලාපොරොත්තුව නිසා ඔවුන් දහවල් ආහාරය එම වේලාවේ ගන්නට හේතු වූවා යන්න නොවේ. අල්ලාහ් අපගේ අනාගතය කලින්ම දුටුවත් අපගේ සියලු ක්‍රියාකාරකම් ඔහුගේ දැනුම නිසා සිදු වෙනවා නොවේ. අපගේ සෑම ක්‍රියාවට ම එයට ම අදාළ වූ හේතුවක් ඇත. එහෙත් වැදගත් කරුණ වන්නේ එම ක්‍රියාවට අදාළ අයගේ කැමැත්ත ය.

මීට අමතරව මම මගේ කැමැත්ත අනුව කිසියම් ක්‍රියාවක් කරන බව අල්ලාහ් දනී. අල්ලාහ්ගේ දැනුම නොවැරදෙන නිසා මගේ ක්‍රියාව මගේ නිදහස් කැමැත්ත මත සිදු වූ ඒවා වේ. මගේ ක්‍රියාව බලපෑමක් මත සිදුවූවා යැයි ඔප්පු කළේ නම් එහි අදහස අල්ලාහ්ගේ දැනුම වැරදුනු බවය. එහෙත් අල්ලාහ්ගේ දැනුම කිසිවිටක නොවැරදේ. ඒ නිසා මම ක්‍රියා කරන්නේ මගේ ම කැමැත්ත අනුවය.

විල්සන් : මෙම සාකච්ඡාවේ දී එම ගැටලුව මනාව පැහැදිලි කර ඇත. ඔබ සඳහන් කළ අවසාන කරුණු ඉතා වැදගත් ය. මෙම අවසන් තර්කය කිසියම් සිද්ධියක් හා එහි හේතු අතර සම්බන්ධය ව්‍යාකූල කරයි. නමුත් සාමන්‍යයෙන් සෑම සිද්ධියකටම අදාළ හේතුවක් ඇත. අපගේ සෑම ක්‍රියාවක්ම අපගේ කැමැත්තේ ප්‍රථිඵලයක් බව අල්ලාහ් දන්නා බව අපි දනිමු. තව ද අල්ලාහ් අපට තේරීමේ බලය දී ඇති විට අපගේ කැමැත්ත ඒ ශක්තියේ නිදහස් ඵලයක් විය යුතුයි. අල්ලාහ්ගේ දැනුම කිසිවිට වැරදෙන්නේ නැත. එම නිසා අපගේ ස්වාධීන කැමැත්තේ ඵලය වශයෙන් අපගේ ක්‍රියාවන් පවත්වා ගැනීමට අප අසමත් විය යුතු නැත.

මිනිසාගේ ස්වාධීනත්වය යන මතයට අප දායක වන විට මතභේද වලින් මිදී ආරක්ෂා වෙන්නෙමු. අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීමේ සිද්ධාන්තය අල්ලාහ්ගේ පූර්ව නියමය පිළිබඳ සිද්ධාන්තය හා ඒකාබද්ධ කළ නොහැකි ය. අප අල්ලාහ්ගේ සාධරණත්වය ප්‍රතික්ෂේප නොකළා නම් මිනිසාගේ ක්‍රියා අල්ලාහ්ගේ අවශ්‍යතා මත සිදු වූ බව කිව නො හැකිය. අප අල්ලාහ්ගේ යුක්තිය පසිඳලීමේ මතය ප්‍රතික්ෂේප කිරීමට අකමැති නිසාත් එයට විරෝධතා දැක්වීම විශ්වාස නො කරන නිසාත් අප දෛවය පිළිබඳ සිද්ධාන්තය පාර්ශ්වික වශයෙන්ම ප්‍රතික්ෂේප කළ යුතු වේ.

# විමසුම - 10

## වක්තෘභාවය පිළිබඳ ඉතිහාසයෙන් ලබන ආලෝකය

විල්සන් : ඒක දේව වාදය ප්‍රකාශ කරන ආගම් වල වක්තෘවරු සෙමිටික වර්ගයට අයත් වූවන් බව ඉතිහාසය සාක්ෂි දරයි. ඔවුන්ගෙන් වැඩි දෙනෙක් නම් ඉබ්රාහීම්ගෙන් පැවතෙන්නන් වෙති. එනම් ඊසාක්ගේ හෝ ඉස්මායිල්ගේ දරුවන්ගේ පරම්පරාවේ අය වෙති. මෙයින් ඉස්මායිල් ගේ පැලැන්තිය හා ඊස්‍රායිල් පැලැන්තිය ඉතිරි මිනිස් වර්ගයාට වඩා ප්‍රමුඛ තාවය ලැබූ අය බව මවාපෑමක් සිදුවන්නේ ය. එහෙත් අල්ලාහ් මෙම මිනිස් වර්ග දෙකකට පමණ දේව පණිවිඩය ලබා දුන්නා යන්න පිළිගත නොහැකි කරුණකි. අල්ලාහ් සියලු ජාතීන්ගේ හිමියාය. එහෙයින් ඔහුගේ පණිවිඩ සියලු මිනිස් වර්ගයාට ලැබිය යුතුය. ආගමික ඉතිහාසය නිවැරදි නම් වක්තෘත්වය ඉහත සමාජ දෙකකට සීමා කිරීමට හේතු තිබිය යුතුය.

විර්රි : මුල් කාලීන මිනිසාගේ අවබෝධ කර ගැනීමේ හැකියාව පසිඳුරන් මඟින් දැන ගන්න ප්‍රමාණය ඉක්මවා අවකාශීය කරුණු වටහා ගැනීමට තරම් නොවූ බව මිනිස් වර්ගයා පිළිබඳ ඉතිහාසය අපට කියයි. එකල මිනිසා තමා තම පවුල හා නෑදෑයින් යන

සීමාව ඉක්මවා ගියේ නැත. අනික් සියලු ගෝත්‍ර හෝ ජනයා ඔහුට බාහිර අය වූහ. ජාතික හෝ මානුෂික සංකල්ප ඔහුගේ චින්තනයට ලක් වූයේ අහම්බෙනි.

කෙසේ වුව ද සහජ දක්ෂතා ඇති පුද්ගලයින් ද ඒ අතර වූහ. ඔවුන්ට ඉහත සඳහන් ආකාරයේ පසිඳුරන්ගේ සීමාව ඉක්මවා කරුණු කාරණා වටහා ගැනීමට හැකි විය. ඔවුන් තම ජනයාට ඉගැන්වීමේ හා මගපෙන්වීමේ වගකීම භාර ගත්හ. ඔවුන්ගේ මෙම සුවිශේෂී හැකියාව වටහා ගත් සර්වබලධාරී අල්ලාහ් විසින් ඔවුනට සත්‍යය පහළ කර ජනයා යහමග යැවීම සඳහා වක්තෘභාවය පවරන ලදී.

මෙම පුද්ගලයන් තෝරා ගනු ලැබුවේ ඔවුන්ගේ කුසලතා මත මිස ඔවුන් කිසියම් ජාතියකට හෝ සමාජයකට නෑකම් කී නිසා නොවේ. බලාපොරොත්තු වූ ආකාරයට මෙම පුද්ගලයන්ට විස්තර කළ නොහැකි ආකාරයේ දරුණු වද හිංසා වලට මුහුණ දීමට සිදු විය. ජනයා ඔවුන්ගේ මත පිළි නොගත්හ. ඔවුන්ගෙන් බොහෝ දෙනකුට සිටියේ අනුගාමිකයන් සුළු සංඛ්‍යාවකි. නැතහොත් ඔවුන් ඉබ්රාහීම් මෙන් කිසිම අනුගාමිකයෙක් නොමැතිව කල් ගෙවූහ.

සමාජය වෙනස් වීමට සූදානම් නොවූ නිසා ඉබ්රාහීම් වැනි වක්තෘවරයෙකුට තම ආගම තම දරුවන් වන ඉස්මායීල් හා ඊසක් මාර්ගයෙන් පවත්වා ගෙන යෑමට සිදුවිය. ඔවුන් තම පියාගේ දහම විශ්වාසනීයව පිළිගෙන එය තම දරුවනට භාර කළහ. එහෙයින් ආගමික විශ්වාස පැතුරුණේ එම ගෝත්‍රය ඔස්සේ පටු ආකාරයට ය. ශතවර්ෂ ගණනාවක් ගත වුව ද බාහිර ලෝකයේ අය විසින් එම ආගම වැළඳ නොගන්නා ලදී.

තව ද ඉබ්රාහීම්ගේ සියලු පැවතෙන්නන් විසින් එය අනුගමනය නො කරන ලදී. අල්ලාහ් බලාපොරොත්තු වූයේ එම ආගමික විශ්වාසය ගෝත්‍රික මට්ටමට සීමා කිරීම නොව ලෝක වාසීන් සියල්ලන්ට ම නිවැරදි මාර්ගය පෙන්වා දීම ය. සර්ව බලධාරියා සාමාන්‍ය හා ස්වාභාවික සිද්ධීන් මඟින් විශ්වය පවත්වා ගෙන ගිය අතර ලොව සියලු සිද්ධියක්ම හේතුඵල න්‍යායට නතු විය. පහළ කරන ලද විශ්වාසය ආරක්ෂා කිරීමට සර්ව බලධාරි අල්ලාහ් තම ශුද්ධ වූ පියාගෙන් විශ්වාසය ලබා ගැනීමට තරම්

වාසනාවන්ත වූ සුළු සංඛ්‍යාවක් වූ මිනිසුන් මඟින් එය රැක ගත්තේ ය.

අදාළ සමාජය ශක්තිමත් ව දියුණු ව තම විශ්වාසය පැතිරවීමට ප්‍රබල වූ විට ඔවුන් මඟින් ලොව නන් දෙසට විශ්වාසය පතුරවන ලදී. එම කුඩා සමාජය ඊශ්‍රායිල්වරු හා ඉස්මායිල්වරු යන වංශ දෙක ඔස්සේ වර්ධනය වූහ. එසේ ම එම දේව විශ්වාසය සඳහා පරීක්ෂා කරනු ලැබ ආශිර්වාද ලදහ. එම විශ්වාසය සුරැකීම සහ පැතිරවීම යන උතුම් කාර්යය සඳහා බලය ලදහ. එහෙත් එම වංශ දෙක සමාන පරීක්ෂණ වලට භාජනය නො වූහ. ඊසාක් මෙන් විශ්වාසය හා ආශිර්වාදය උරුම කරනු ලැබුව ද ඉබ්රාහීම්ගේ පළමු පුත්‍රයා වූ ඉස්මායීල්ගේ පැවතෙන්නන් සඳහා ශත වර්ෂ ගණනාවකට අල්ලාහ්ගේ පරීක්ෂාවන් කල් තැබිණි.

ඊසාක්ගේ පැවත එන්නන් ආරම්භ කළ මෙහෙය තව දුරටත් පවත්වා ගෙන යෑම සඳහා ඔහු විසින් ඔවුන් සූදානම් කරනු ලැබූහ. ඊසාක්ගේ වංශය සමඟ ආරම්භ කිරීම සඳහා සර්ව බලධාරී අල්ලාහ් ඔහු සමඟ ප්‍රඥාප්තියක් ඇති කර ගත්තේය.

පරණ තෙස්තමේන්තුවේ එය මෙසේ දැක්වේ:

> **ඉස්මාඊල් වරුනි මම ඔබට සවන්දෙමි. මම ඔබට ආශිර්වාද කරන්නෙමි. එලදායි හා බෙහෙවින් බෝ වීම සලස්වමි. ඔහු කුමාරවරු දොළොස් දෙනෙකුගේ පියා වනු ඇත. මම විශිෂ්ට ජාතියක් බවට පත් කරමි. එහෙත් මම ඊසාක් සමඟ මගේ ප්‍රඥාප්තිය ඇති කරගන්නෙමි. සාරා ඔහුට දාව ලබන වසරේ මෙම සෘතුවේ දී දරුවන් ලබනු ඇත.**

ජෙනේසිස් 21 වන පරිච්ඡේදය

විල්සන් : ඔබගේ ප්‍රකාශයේ පරිදි අල්ලාහ්ට අවශ්‍ය වූයේ මෙම විශ්වාසය එක ජාතියකට හෝ එක මිනිස් වර්ගයාට හෝ සීමා කිරීම නොව, මුලු මිනිස් සංහතියට ම පැතිරවීම ය. එහෙත් පරණ තෙස්තමේන්තුව අනුව දෙවියන්ගේ වරම් ලද ජනයා, ඊශ්‍රායිල්වරු බව පුනපුනා පැවසේ. එය, අනිත් ජනයා යුදෙව්වන් නො වන්නන් ලෙස දක්වයි. මෙයින් පෙනී යන්නේ දේව පණිවිඩය ප්‍රධාන වශයෙන් ඊශ්‍රායිල් වරු සඳහා වන බවය.

**චිර්රි :** අල්ලාහ් හා ඊසාක් අතර ඇති කර ගත් ප්‍රඥාප්තිය අනුව ඊස්‍රායිල්වරුන්ගේ දරුවන් විසින් අවංකවත් නිවැරදිවත් අල්ලාහ්ගේ අණපනත් පිළිපැදිය යුතු බවත් ඔවුන් අනෙක් ජනයා එම මාර්ගයේ මෙහෙයවිය යුතු බවත් පැහැදිලි ය. එහෙත් ඊස්‍රායිල්වරු මෙම බලාපොරොත්තුව නිසි පරිදි ඉටු නොකළහ. ඔවුන්ගෙන් ඉතා සුළු කොටසක් පමණි එම ඉගැන්වීම් වලට අනුව ක්‍රියා කළේ. එම සුළු කොටසට ලෝක වාසී ජනයා නිවැරදි මාර්ගයේ යොමු කිරීමට නොහැකි විය.

මෙහි ප්‍රතිඵලය වශයෙන් ඉන්පසු පැමිණි වක්තෘවරුන්ට ඊස්‍රායිල්වරු ඔවුන්ගේ වැටහීම අනුව කතා කළහ. එහෙයින් එම විශ්වාසය ශ්‍රෝත්‍රයකට සීමා විය. දෙවියා ඊස්‍රායිල්වරුන්ගේ දෙවියා වූ අතර ඊස්‍රායිල්වරු ඔහු තෝරා ගත් ජනයා බවට පත් වූහ. හීබෲ සමාජය එම විශ්වාසයේ දැඩිව බැඳී සිටීමට වක්තෘවරු සැලස්වූහ. ඊස්‍රායිල්වරුන්ගේ සෑම වක්තෘවරයකු විසින්ම සැලකිල්ලට ගනු ලැබුවේ ඔවුන්ගේ සමාජය පමණි. යුදෙව්වන් නොවන කිසිදු ජාතියක් ඔවුන් විසින් සැලකිල්ලට නො ගන්නා ලදී. ඊසාතුමා ද මෙම මතයේ ම පිහිටි බව මැතියු හි දැක්වේ. "ඉන්පසු යේසු තුමා එතැනින් පිටත් විය. එතුමා ටයර් හා සිඩන්හි වෙරළ වෙතට ගියේය. එවිට කනාඅන් යන කාන්තාවක් එම වෙරළට ආවාය. ඇය එතුමා වෙත මෙසේ අඬමින් කීවාය. මට කරුණාව දක්වන්න මගේ ස්වාමීනි... ඩේවිඩ්ගේ පුත්‍රය, මගේ දුව අවතාරයක් විසින් පීඩා කරනු ලබයි".

*එවිට එතුමා මෙසේ පැවසූහ. "මගේ ඊස්‍රායිල් වරුන්ගේ නැතිවූ බැටළුවන් වෙතට යවනු ලැබුවෙමි. එවිට ඇය මගේ ස්වාමීනි මට පිහිට වන්න යැයි කියමින් වැඳ වැටුණාය. මෙම හමුවීම දරුවන්ගේ පාන් රැගෙන බල්ලන්ට දීම සඳහා නොවේ.*

මැතියු 15 වන පරිච්ඡේදය

**විල්සන් :** බයිබලයට අනුව ඉබ්රාහීම්ට දෙවියන් තම බිරිඳට කන්දෙන ලෙස පවසනවා. තව ද ඔහුට ඇය හා පුත් ඉස්මායීල්ව වතුර හෝ කෑම හෝ නොමැති කාන්තාරයක තනි කරන ලෙස පවසනවා. මෙය මහත් අකාරුණාවන්ත කෲර ක්‍රියාවක් බව අයෙක් දුටුව ද එහි වෙනත් අදහසක් තිබෙනවා ද ?

**චිර්රි** : අල්ලාහ් තම කීකරු සේවක ඉබ්රාහීම්ට තම බිරිඳ හා පුත් කාන්තාරයේ අතරමං කරන ලෙස කීමත් සමඟම ඉස්මායීල්වරු සූදානම් කිරීම ආරම්භ වන්නේය. පරණ තෙස්තමේන්තුව කියවන අයකු කෲර හා අකාරුණාවන්ත වූ අල්ලාහ්ගේ ක්‍රියාව ගැන පුදුම වනවා ඇත. එහෙත් ඉන්පසු ඉතිහාසයේ වූ සිද්ධීන් දෙස බලන අයකු අල්ලාහ්ගේ ප්‍රඥාව ගැන වටහා ගන්නවා ඇත.

ජාතීන්ගේ ජීවන ක්‍රම හා පුද්ගලයන්ගේ චර්යාව වෙනස් කිරීමේ කාර්‍ය්‍යයයේ අරමුණ සත්‍ය වූ ආගම පැතිර වීමයි. මෙම කාර්‍ය්‍යයේ ප්‍රථම අදියරය වන්නේ එම ප්‍රතිපත්තිය පැතිර වීමට වෑයම් කරන ගුරුවරයා සහ එය පතුරවනු ලබන අය අතර හට ගන්නා මතභේදයයි.

මෙම වෑයමට සාමාන්‍යයෙන් විරෝධතාවයක් පැණනගී. එම විරෝධතාවය යුදමය ගැටුමක් දක්වා වර්ධනය විය හැකිය. එවිට විශ්වාස කිරීමට ඇති නිදහස දේශන කිරීමට හා අනුගමනය කිරීමට ඇති නිදහස ආදිය ද තර්ජනයට ලක්වේ. ඒවා ආරක්ෂා කළ හැකි වන්නේ එම ප්‍රතිපත්තිය පතුරවන කණ්ඩායම තමනට එල්ලවන අභියෝගය බාර ගැනීමටත් ප්‍රචණ්ඩකාරීත්වයට ප්‍රචණ්ඩකාරීත්වයෙන්ම පිළිතුරු දීමටත් සූදානම් වන විටය. මෙම කාර්යභාරයට එම දේව දූතයාණන්ට වීරෝධාර ජාතියක සහාය අවශ්‍ය වේ. එම වර්ගය ශක්තිමත් ධෛර්යවත් හා කීකරු පිරිසක් විය යුතුය. එසේම ඔවුන් ඕනෑම ආකාරයක කැප කිරීමක් කිරීමට ද සූදානම් විය යුතුය.

මැද පෙරදිග වාසය කරන ජාතීන් අතර අරාබි ජාතිය ශතවර්ෂ ගණනාවක් මුළුල්ලේ සුවිශේෂ වූ ජාතියක් වූ නිසා ඔවුන් මෙම කාර්යයට සුදුසු අය වූහ. අරාබි අර්ධද්වීපය විදේශ ආක්‍රමණිකයන්ට යටත් නොවූ ප්‍රදේශයක් ලෙස බොහෝ කාලයක් පැවතුණි. පාලකයන්ගේ බලපෑම් සාමාන්‍ය අරාබි ජාතිකයෙකුට එල්ලවූයේ කලාතුරකිනි. ඔහු ආත්ම ශක්තිය ඇති අයෙකු විය. ඔහුට තම ශක්තියෙන් ම තම නිදහස රැක ගැනීමට ද තම අදහස ක්‍රියාවට නැංවීමට ද හැකිවිය. මෙවැනි ගති ලක්ෂණ

සහිත පුද්ගලයන් සිටින ජාතියකට මෙවැනි භාරදූර කාර්යයක් පවත්වා ගෙන යෑමේ සුදුසුකම ඇත. තව ද එය දිව්‍යමය වූ ද උතුම් වූ ද නායකයෙකු විසින් ක්‍රියාශීලිව සූදානම් කරනු ලැබූ විට ඉතාම අපූරු ලෙස ඉටු කිරීමට හැකි වන්නේ ය.

ඉබ්රාහීම්ගේ ආගම එම ශක්තිමත් එඩිතර ජාතිය තුළ ස්ථාපිත කිරීම සඳහා හා එම ජාතිය මෙම උතුම් වූ කාර්යය ට සූදානම් කිරීම සඳහා අල්ලාහ් ඉබ්රාහීම්ට තම බිරිඳට කන්දීමටත් තම පුත් ඉස්මායීල් ඈතට යැවීමටත් සලස්වන ලදී. ඉස්මායීල්ගේ පරම්පරාව විසින් අරාබිවරු සමඟ මිශ්‍ර විවාහ සම්බන්ධතා ඇති කර ගැනීමෙන් අනාගතයේදී එම උතුම් වූ මෙහෙය ඉටු කිරීමට සුදුසු ජාතියක් බිහි කරන ලදී.

**"දෙවියන් එම දරුවාගේ හඬට කන් දුන්නේය. දෙවියන්ගේ දේව දූතයා ස්වර්ගයේ සිට හාජරා ඇමතුවේය. මෙය කුමන වේදනාවක් ද ? හාජර් බිය නොවන්න. ශුද්ධ වූ දෙවියන් මෙම දරුවාගේ හඬ ඇසුවේය. දරුවා ඔබගේ දෑතින් අල්ලා ගන්න. ඔහුව ශ්‍රේෂ්ඨ ජාතියක් බවට මම පත් කරමි. දෙවියන් දෑස් විවෘත කළ විට ඔහු ඉදිරියේ ජල ළිඳක් විය. ඇය එතැනට ගොස් බෝතලය ජලයෙන් පුරවා ගත්තාය. එය පානය කිරීමට දරුවාට දුන්නාය. දෙවියන් දරුවා සමඟ විය. ඒ නිසා ඔහු වැඩුණේය. ඔහු ඒ දුෂ්කර ප්‍රදේශයේම පදිංචිව සිටියේය".**

ජෙනේසිස් 21 වන පරිච්ඡේදය

ඉස්මායිල් අරාබි අර්ධද්වීපයේ තැබීමෙන් ඉබ්රාහීම් තම විශ්වාසයේ බීජය අරාබි පොළවේ පැළ කළේය. එහි ශුද්ධ වූ නිවසක් ඉදි කිරීමෙන් එම විශ්වාසයේ අඩිතාලම දැමුවේය. ලොව ප්‍රථම දේවාස්ථානය වූ එය අරාබියේ මධ්‍යයේ පිහිටි කෑබා නම් විය. අල්ලාහ් ඉබ්රාහීම්ට පූර්වකථනය කළ පරිදි හා ඉබ්රාහීම් බලාපොරොත්තු වූ ආකාරයට අරාබිය වාසස්ථානය කර ගත් ජනයා වන්දනාමාන කිරීම සඳහා එම ස්ථානයට ළං වූහ. එහෙයින් එය අරාබියේ ශුද්ධ වූ මධ්‍යස්ථානය විය. මක්කා යන නගරය එය වටා ඉදිවුණි. ඉබ්රාහීම්ගේ කැඳවීමට පිළිතුරු

වශයෙන් අවුරුදු පතා සිය දහස් ගණනින් වන්දනාකරුවන් එහි එක්රැස් වූහ. ශුද්ධ වූ අල්කුර්ආනයේ එය මෙසේ සඳහන් වේ.

"මා හා කිසිවක් සමාන නොකරවූ. තව ද මගේ ගෙය පැදකුණු කරන වුනට ද නැඟිට සිටින්නාවුනට ද රුකූඋ ද කරන්නවුනට ද සුජුද් කරන්නවුනට ද පිරිසිදු කරව'' යි කියමින් අපි ඉබ්රාහීම්ට ගෙහි පොළ පාදා දුන් කල (සිහිකර) මනුෂ්‍යයන්ට හජ් කිරීමට අඬ ගාව. ඔවුහු පයින් ද සෑම දුරස්ථ වූ මාර්ගයෙන් එන අනේක වැරුණු ඔටුවන් පිට ද මුබ වෙතැ පැමිණෙන්නෝය."

**ඔවුනට වන ප්‍රයෝජන සියැසින් දකින පිණිස ද ගවේලක ක්‍රමේලක සතුන්ගෙන් ඔවුන්ට අල්ලාහු දුන් දෙය මත නියමිත දවස් හි ඔහුගේ නාමය උසුරවන පිණිස ද එහෙයින් එයින් අනුභව කරනු. ඉතා දුප්පත් වූවන් ද අනුභව කරවවු."**
22:26-28

තම කුළුඳුල් පුතා ආහාර පාන හෝ ලබා ගත නොහැකි කාන්තාරයක පදිංචි කරවීම ඉබ්රාහීම්ට හද කම්පා කරවන කරුණක් විය. එහෙත් ඔහුට අරමුණු දෙකක් විය.

ප්‍රථම අරමුණ වූයේ එම ශුද්ධ වූ නිවස වහාම ඉදිකිරීම සහ එහි භාරකාරයා වශයෙන් තම පුතා පත් කිරීමයි. එහි ඔහු සැබෑ දෙවියන්ට වන්දනාමාන කරමින් සත්‍ය වූ තම ආගම තම දරුවන්ට හා රටේ ජනයාට ඉගැන්වීය. මෙයින් ඔහු තම විශ්වාසය පුළුල් කර ගත්තා පමණක් නොව එය දිගින් දිගට පවත්වා ගෙන යෑමට ද හැකි විය. ඊසාක් ගේ පරම්පරාව තම ආගමික වගකීම ඉටු කිරීමට අසමත් වුව ද අරාබියේ ඉස්මායීල් දරුවෝ එම ආගම දිගින් දිගට ගෙන ගියහ. ශුද්ධ වූ කුර්ආනය එය මෙසේ දක්වයි.

"අපගේ ස්වාමීනි ඔවුන් සලාත්හි නිරත වනු පිණිස ඔබගේ පාරිශුද්ධ ගෘහය ආසන්නයේ අකරභ (බිම්වූ) මිටියාවතක් හි අපගේ ස්වාමීනි ! මගේ පරපුරෙන් (කොටසක්) නිවාස ග්‍රහණය

**කෙරෙව්වෙමි. ඔවුන් ස්තුති කරනු පිණිස මිනිසුන්ගෙන් (කොටසක) සිත ඔවුන් කෙරෙහි පක්ෂපාත වන්නට සලස්වව. ඔවුන්ට පලතුරු වලින් බොජුන් ද දෙව." 14:37**

ඉබ්රාහීම්ගේ විශ්වාසය අරාබි පොළවේ වැඩුණු ආකාරය අපි නොදන්නෙමු. ඉබ්රාහීම්ගේ කාලයේ පටන් පස් වන ශතවර්ෂය අවසානයේ දී ක්‍රිස්තියානි ආගමේ යුගය තෙක් වූ දීර්ඝ කාලයක් මුළුල්ලේ අරාබියේ ආගමික තත්වය ගැන ඉතිහාසය අපට කිසිදු කරුණක් නොදක්වයි. හය වන ශතවර්ෂයේ දී අරාබි ජාතිකයන්ගෙන් බහුතරයක් පිළිම වන්දනාකරුවන් වූහ.

එසේ වුව ද එම කාලයේ දී ම ඉබ්රාහීම් විසින් උගන්වන ලද සමහර පිළිවෙත් හා හුරු පුරුදු සමහරක් අරාබීන් විසින් අනුගමනය කරන ලදී. ඒවා අතර මක්කාවේ වූ ශුද්ධ වූ නිවසට වන්දනාමාන කිරීමත් චර්මච්ඡේදනය කිරීමත් ක්‍රිස්තියානි නොවන ගෝත්‍ර විසින් අනුගමනය කරන ලදී. ඒ අතර අරාබින්ගේ සුළු සංඛ්‍යාවක් අල්ලාහ් විශ්වාස කරමින් ඔහුට වන්දනා මාන කරමින් පිළිම වන්දනාව ප්‍රතික්ෂේප කළහ.

අරාබි භාෂාව කතා කරන ජනයා ප්‍රමුඛතාවය ලැබූ අවසන් නබිතුමා ඔවුනතරින් පහළ වීම නම් දුරස්ථ වූත් දීප්තිමත් වූත් අනාගතය සඳහා ඉස්මායීල්ගේ දරුවන් සහ එම ජාතිය සූදානම් කිරීමේ මහඟු කාර්යය ඉබ්රාහීම්ගේ දෙවන අරමුණ විය. එම ජනයා අවසන් නබිතුමාගේ පණිවිඩය බාර ගැනීමටත් එය ලොව පුරා පැතිර වීමටත් සූදානම් වූහ. එය ශුද්ධ වූ අල්කුර්ආනයේ මෙසේ දැක්වේ.

**අපගේ ස්වාමීනි අපගෙන් (මේ යහකම) පිළිගනු මැනවි. ඇත්තෙන්ම ඔබ ඔබම අසන්නේය. දන්නේ යැයි කියමින් ඉබ්‍රාහිම් ද ඉස්මාඊල් ද ගෙහි (කඅබා) අත්තිවාරම නැංවූ වනම ද අපගේ ස්වාමිනී අප දෙදෙනා ඔබට කීකරුවූවන් කරනු මැනව අපගෙන් පැවතෙන්නන් ඔබට කීකරු වූ**

**ජාතියක් කරනු මැනව. අපට අපගේ අදහන විධි පෙන්වනු මැනව. අපට කමා වුව මැනව. ඇත්තෙන්ම ඔබ ඔබම ක්ෂමාව දෙන්නේ යැ දයාලුයැ. අපගේ ස්වාමීනි ! ඔබගේ ආයාවෙන් ඔවුනට ප්‍රකාශ කරන්නා වූ ද පුස්තකය ද අණපනත් ද හදාරවන්නා වූ ද ඔවුන් පිරිසිදු කරන්නා වූ ද රසූල් කෙනෙකු ඔවුනතුරෙන් පහළ කළ මැනවි. ඇත්තෙන්ම ඔබ ඔබම බල සම්පන්නය. නුවණැතිය.** 2:127-129

ඉබ්රාහීම් නබිවරයාගේ යාඥාවට හත්වන සිය වර්ෂයේදී සාර්ථක පිළිතුරු ලැබුණි. බලාපොරොත්තු වූ පරිදි එම නබිවරයා සත්‍යය තහවුරු කරන අයුරින් කලින් නොදන්වා පැමිණියේය. මෙමඟින් අවශ්‍ය වූ නිදහස සහතික වීමත් අල්ලාහ්ගේ ප්‍රතිපත්ති දැන ගැනීමට අවස්ථාව උදා වීමත් සිදු විය. අවසානයේ හත්වන සියවසේ දී අරාබියේ මධ්‍යයේ පිහිටි මක්කා නගරයේ දී අවසාන හා විශ්ව වක්තෘ වූ මුහම්මද් තුමා ලොවට ම ආශිර්වාදයක් ලෙස පහළ විය. එතුමා නිසා පෙරදිග හා අපරදිග ලෝකය දීප්තිමත් විය.

# විමසුම - 11

## අපට වක්තෘවරයෙක් අවශ්‍ය වන්නේ ඇයි ?

විල්සන් : මිනිසාට හොඳ හා නරක කරුණු වෙන් කර තෝරා බේරා ගැනීමේ මානසික හැකියාව ඇත. එසේ නම් මිනිස් වර්ගයාට වක්තෘවරයෙක් හෝ අල්ලාහ්ගේ දූතයෙක් අවශ්‍ය වන්නේ ඇයි ? තමා කළ යුතු දේ අතර හොඳ හෝ නරක තෝරා බේරා ගැනීමට මිනිසාට හැකියාව ඇති නිසා අල්ලාහ්ගේ මගපෙන්වීම මේ සම්බන්ධයෙන් අවශ්‍ය නොවන බව අයෙක් කියනු ඇත. සාමාන්‍ය පුද්ගලයෙකුට තම කටයුතු බුද්ධිමත්ව කරගත හැකිය. එසේම අන් අය සමග ද සිය පවුල් මට්ටමේ ද අල්ලාහ්ගේ නීති රීති නොමැතිව වුව ද යුක්ති සහගත ආකාරයට සම්බන්ධතා පවත්වා ගෙන යා හැකිය.

විර්රි : වක්තෘන් වරයෙකු අවශ්‍ය වීමට හේතු කිහිපයක් ඇත. ඒවා නම්

1. ජනයාට අල්ලාහ් සිහිපත් කිරීම.

2. විවාදාත්මක නොවන අධිකාරියක් අවශ්‍යය වීම.

3. වැඳුම් පිදුම් කිරීමට සුදුසු දෙවියෙකු අවශ්‍ය වීම.

4. ආවේග වළක්වා ගැනීමේ අවශ්‍යතාවය තිබීම.

5. මරණයෙන් මතු ජිවිතය පිළිබඳ තොරතුරු දැන ගැනීමට අවශ්‍ය වීම.

**01. ජනයාට දෙවියන් සිහිපත් කිරීමේ අවශ්‍යතාවයක් පැවතීම.**

න්‍යායාත්මකව සිතන විට හා ලොව ඇති මැවුම්කරුවාගේ නිර්මාණ දෙස නිරික්ෂණය කරන අයෙකුට නිර්මාණකරුවාගේ පැවැත්ම අනුමාන කළ හැකිය. නිදහසේ සිතන මිනිස් මනස සමස්ත විශ්වයේ ම නීති හා තර්කාන්විත කරුණු ග්‍රහණය කළ හැකි මට්ටමක පවතී. අපගේ ජීව විද්‍යාත්මක අවශ්‍යතා නිසා අපි භෞතික ලෝකය සමඟ දැඩිව බැඳී සිටිමු. භෞතික දේවලට ඇති අපේ කැමැත්ත නිසා අපගේ බොහෝ දේවල් භෞතික ලෝකය විසින් ආකර්ෂණය කෙරේ. සාමාන්‍ය පුද්ගලයකු අනික් සියලු කරුණු වලින් මිදී තම නිර්මාතෘවරයා කෙරෙහි යොමු වේ යැයි සිතිය නොහැක. ඔහු සියලු භෞතික ලෝකයෙන් වෙන්ව අල්ලාහ් කෙරෙහි බැඳේ යැයි බලාපොරොත්තු වීම ද නොහැකිය.

එහෙත් විශ්වයේ පුදුම සහගත ක්‍රමවත්භාවය නිර්මාතෘවරයෙකු එනම් සර්ව බලධාරී අල්ලාහ් සිටී යන්න මනාව තහවුරු කරයි. එහෙත් මිනිසා මේ ස්වාභාවික නීති ගැන එතරම් සලකන්නේ නැත. එහෙත් ඔහු සලකන්නේ එහි උත්පත්තිය ගැන පමණි. ඉර නැගෙනහිරෙන් උදාවන බව දකින මිනිසා එය එසේ වන්නේ ඇයි සිතන්නේ නැත. මිනිස් වර්ගයා තම නිර්මාතෘවරයා ගැන සිතීම වැදගත් කොට නොසලකයි. නිර්මාතෘවරයා ගැන මිනිස් වර්ගයා සිතීමට පෙළඹී ඇත්තේ මේ ගැන ජනතාව සිතීමට යොමු කළ දායාද ලත් සමහර පුද්ගලයින් නිසාය.

**02. විවාදාත්මක නොවන අධිකාරියක අවශ්‍යතාවය**

අධ්‍යාපන මට්ටම් අතින් හැකියා අතින් හැඟීම් අතින් හා පසුබිම අනුව මිනිසා වෙනස් වන්නේය. ඒ නිසා මිනිසාගේ දෘෂ්ටිය ද පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් ය. මිනිසාගේ ක්‍රියාකාරකම් පිළිබඳ සාකච්ඡා වන විවිධ වැදගත් කරුණු ද පුද්ගලයින් අනුව

ද කණ්ඩායම් අනුව ද මතභේද වලට තුඩු දෙන ආකාරයේ ඒවාය. සාරධර්ම හා ආචාරධර්ම බෙහෙවින් වෙනස් වන ඒවාය. මේ ඕනෑම කරුණක සාධාරණීකරනය කිරීමට දාර්ශනික මත පවතී. එහෙයින් ගැටලුව ගැන බුද්ධිමත්ව සිතා බලනවා වෙනුවට අයෙක් අවස්ථානුකූලව යමක් තෝරා ගනිති. අවස්ථානුකූල දර්ශන නිසා තත්වය තවදුරටත් බරපතල වේ. මේ නිසා සාරධර්ම හා ආචාරධර්ම පිළිබඳ ප්‍රශ්න වලට පිළිතුරු දීමට හා හේතු දැක්වීමට දර්ශනය අපොහොසත් වී ඇත. එහෙයින් මතභේද වලට තුඩු නොදෙන ආකාරයේ අධිකාරියකින් අපගේ ගැටලුවලට පිළිතුරු ලැබිය යුතුයි. එම අධිකාරිය සෑම දෙනා විසින්ම පිළිගත හැකි එකක් වීම වැදගත්ය. එවැනි අධිකාරිය වන්නේ අල්ලාහ් ය.

3. අල්ලාහ්ට වන්දනා මාන කිරීම සඳහා පිළිගත් ක්‍රමයක් තිබිය යුතුයි.

නිදහස් චින්තකයෙකුට අල්ලාහ් හඳුනා ගැනීමටත් ඔහුගේ ශ්‍රේෂ්ඨත්වය වටහා ගැනීමටත් හැකි වුවත් ඔහු වන්දනා මාන කිරීමේ ක්‍රමය එතරම් වැදගත් කොට සලකන්නේ නැත. එසේ එහි වැදගත්කම තේරුම් ගත්ත ද එය කළ යුතු ආකාරය ඔහු නොදනී. සමහරු සතුන් බිලි දීමත් ඔවුන් පිළිස්සීමත් වැදගත් කොට සිතති.

අන් සමහරු අල්ලාහ්ගේ නාමයෙන් සතුන් පසුපස යති. තවත් සමහරු තපස් ජීවිතයට අල්ලාහ් කැමති යැයි සිතති. අන් සමහරු ජීවිතයට අකමැති බවත් ඒ නිසා ජීවිතය විනාශ කරන බවත් කල්පනා කරති. තවත් සමහරු සින්දු කියමින් නටමින් අල්ලාහ්ට වන්දනාමාන කරති. ඒ අතර තවත් සමහරු දණ ගැසීමත් අවනත වීමත් ඔවුන්ගේ වන්දනාමාන කිරීමේ ක්‍රමය වශයෙන් විශ්වාස කරති. එහෙත් කැපවීමේ නියම ක්‍රමය වනුයේ අල්ලාහ් කැමති වන ක්‍රමය මිස අපගේ ආශාව හා මතිමතාන්තර නොවේ. ඔහුගේ කැමැත්ත අපට ඔහුගේ දූතයාණන් හෙවත් වක්තෘවරයා මඟින් දන්වා ඇත.

4. අපගේ ආවේග වළක්වා ගැනීමේ අවශ්‍යතාවයක් ඇත.

පුහුණු නොකරන ලද හා මගපෙන්වීම නොකරන ලද මිනිසා සහජයෙන් සත්ත්වයන් පිළිබිඹු කරයි. ඔහුගේම ආවේග පාලනය

කරන මූලිකාංග ලැබෙන තෙක් මේ ආකාරයෙන්ම ක්‍රියා කරයි. අපගේ මෙම හදිසි ආශාවන් තෘප්තිමත් කිරීමට දර්ශණය ඉවහල් වන්නේ නැත. සමහරුන්ගේ මතය නම් අපි අපගේ සහජ ආශාවන් තෘප්තිමත් කිරීමට කටයුතු කළේ නම් එය සෑහෙන බවය. මෙවැනි භෞතික වාදී මතවාදය නිසා ලෝකය අද විවිධ ප්‍රශ්නවලට මුහුණ දෙන්නේය. සැබවින් ම සියලු සදාචාරාත්මක හා ආචාරධර්ම මට්ටමට තීරණය කිරීම අල්ලාහ් සිදු කරන්නේය. ඔහුගේ වක්තෘවරු ඔහුගේ තීරණය දැන්වූ විට එය මෙවැනි කරුණු පිළිබඳ අපගේ මතභේද ඉවත් කර ගැනීමට සෑහෙන්නේ ය.

5. මරණයෙන් මතු ජීවිතය ගැන දැනුම් දීමේ අවශ්‍යතාවයක් ඇත.

අල්ලාහ් විශ්වාස කරන මනුෂ්‍යයෙකු තම මරණයෙන් පසුව ද කිසියම් ආකාරයක ජීවිතයක් ඇතැයි විශ්වාස කරයි. එසේම තමා කළ ක්‍රියාවන් අනුව තමාට දඬුවම් හෝ ප්‍රශංසා කරන කිසියම් දිනයක් ගැන ද විශ්වාස කරයි. එවැනි මරණයෙන් මතු දිවියක් සඳහා මිනිසා මෙම ලොවේහි දී සූදානම් විය යුතුය.

මේ පිළිබඳ නිශ්චිත වශයෙන් දන්නේ අල්ලාහ් පමණි. මෙලොවදී මිනිසා ලත් අත්දැකීම් වලින් මෙවැනි ජීවිතය පිළිබඳ තීරණය කිරීමට බැරිය. එසේම දර්ශනය ද මෙහිදී ප්‍රයෝජනවත් නොවනු ඇත. මේ පිළිබඳ කරුණු අල්ලාහ් විසින් තම වක්තෘන් මාර්ගයෙන් මිනිසාට කියා දී ඇත. මේ පිළිබඳ ප්‍රශ්නවලට පිළිතුරු දන්නේ අල්ලාහ් පමණි. මෙසේ වීමට පහත සඳහන් කරුණු හේතු වන්නේය.

(අ) විශ්වයේ පවතින අතිවිශාල ක්‍රමවත්භාවය ගැන මිනිසාගේ අවධානය ලබා ගැනීම. මිනිසා මෙම භෞතික පරිසරයට අනුහුරු වීම නිසා ඔහුට මේ ගැන හැඟීමක් නැත. සැබවින් ම විශ්වය අසීමිතය. විවිධ ආකාරයේ ආශ්චර්යමත් කරුණුවලින් ගහණ ය. මේ පිළිබඳ දැන ගැනීමෙන් අල්ලාහ් කෙරෙහි ඇති මිනිසාගේ විශ්වාසය දැඩි වන්නේය. වක්තෘවරුන්ගේ ඉගැන්වීම් හා මග පෙන්වීම් තුළින් මේ ගැන දැන ගත හැකිය.

(ආ) සදාචාරය හා ආචාරධර්මවල මට්ටම තීරණය කිරීම මෙ මඟින් පවතින මතභේද රැසකට විසඳුම් ලැබේ.

(ඇ) අත්‍යවශ්‍යයෙන්ම ඉටු කළ යුතු දෙවියන් නැමදීමේ ක්‍රියාව ඉටුකළ යුතු ආකාරය කියාදීම.

(ඈ) අපගේ පහත් ආශාවන් මර්ධනය කරමින් පාරිශුද්ධවීමටත් උත්තමයෙක් වීමට අප තුළ ඇති හැඟීම් වර්ධනය කර සුරදූතයන්ගේ තත්වයට පත්වීමටත් අවශ්‍ය නීති රීති අපට ලබා දීමට.

(ඉ) මරණින් පසු ජීවිතයක් තිබේ යන්න හෝ නැත යන්නෙන් ස්ථිරව දැක්වීම මෙවැන්නක් දැක්විය හැකි වන්නේ ඒ ගැන හොඳින් දන්නා මවාලූ නිර්මාතෘ වරයාට පමණි.

**විල්සන් : අප තවමත් ආචාර ධර්ම හා සාරධර්ම පිළිබඳ මතභේද වල ගිලී සිටින නිසා මේ සියලු කරුණු අප ඉගැන්වීමට අල්ලාහ්ගේ ඉගැන්වීම නොසෑහේ. නිර්මාතෘවරයාට වන්දනාමාන කළ යුතු ආකාරය ඔහුගේ කැමැත්ත හා මරණින් මතු ජීවිතය වැනි කරුණු රාශියක් ගැන අප තුළ තවමත් එකඟතාවයක් ඇති වී නැත.**

**චිර්රි** : ලෝක වාසි මිනිසුන්ගෙන් විශාල සංඛ්‍යාවක් නිර්මාතෘවරයෙකුගේ පැවැත්ම ගැනත් මරණින් මතු ජීවිතය ගැනත් පිළිගන්නා නිසා ඉහත කරුණු මනාව උගන්වා ඇති බව කිව යුතුයි. ලෝකය යම් තරමක හෝ සදාචාරාත්මකව පවතින්නේ මෙම සත්‍ය පිළිගත් පිරිස නිසාය.

තව ද ඉහත සඳහන් කිසිදු අරමුණක් ඉටු නොවූවද අල්ලාහ් පිළිබඳ තොරතුරු අවශ්‍යය. මිනිසා සහ අනෙක් සතුන් අතර පවතින වෙනස වන සදාචාරය වැඩිදියුණු කිරීමටත් නිර්මාතෘවරයා ගැන දැන ගැනීමටත් අපට අවස්ථාවක් ලැබෙන්නේ එවිටය. අල්ලාහ් මැවූ අනෙක් ලෝකය ගැන මිනිසා දැනුවත් වන්නේ ඒ ගැන මිනිසාට දේව පණිවිඩය මඟින් දැනුම් දුන් විටය.

අප ඒ ගැන දැනුවත් නොවූ විට අපට ඒ කටයුත්තෙන් වැළකී සිටිය හැකිය. එසේම ඔහු අනෙක් ලොවක් නිර්මාණය

කර එය අපට නොදැනුවත් කළේ නම් එහි අරමුණ ඉටු නොකරන නිශ්ඵල දෙයක් වනු ඇත.

දේව ඉගැන්වීම පිළිබඳ අවශ්‍යතාවය ඉතිහාසය සහතික කරයි. මිනිස් ඉතිහාසයේ මුල් කාලයේ පටන්ම මිනිසාට අල්ලාහ්ගේ මඟ පෙන්වීම අවශ්‍ය වී ඇත.

ඒ අනුව නිර්මාතෘවරයා ශ්‍රේෂ්ඨ වූ මිනිසුන් තෝරාගෙන මිනිසාට ඉගැන්වීම හා මඟ පෙන්වීම යන උතුම් වූ කාර්ය සඳහා යොදා ගත්තේය.

**විල්සන් : වක්තෘවරයා යන්නෙන් අප වටහා ගන්නේ වක්තෘවරයාට අල්ලාහ් සමඟ සෘජුවම කතා කිරීමටත් ඔහුගේ පණිවිඩ ලබා ගැනීමටත් හැකිය යන්න ය. මිනිසා තොරතුරු සංනිවේදනය කරනුයේ භෞතික ක්‍රමයන් වන ඇසීමෙන් හෝ බැලීමෙනි. වක්තෘවරයා අප මෙන් මනුෂ්‍යයෙකි. ඔහුට ඇසීමට බැලීමටත් පුළුවන. එහෙත් අල්ලාහ් භෞතික නොවේ. එනිසා ඔහු හඩ නිපදවන්නේ හෝ ලියන්නේ හෝ නැත. එසේනම් වක්තෘවරයා අල්ලාහ් සමඟ සංනිවේදනය කරනුයේ කෙසේද ?**

**විර්රි** : වක්තෘවරයෙක් අල්ලාහ් සමඟ පහත සඳහන් අයුරින් සංනිවේදනය පවත්වයි.

(අ) ඔහුට මානසිකව පහළවනු ඇත. සමහර සත්‍ය කරුණු මානසික වශයෙන් ඔහුට පහළවනු ඇත. එමඟින් එම සත්‍ය කරුණු පිළිබඳ ඔහුට පැහැදිලි දැනුමක් ලැබේ.

(ආ) සමහර කතා නොකරන ද්‍රව්‍ය මඟින් සමහර වචන නිර්මාණය කර වක්තෘන්ට අසන්නට සලස්වනු ඇත. මූසා නබිතුමාට පළමු වචන කිහිපය පහළ කරනු ලැබුවේ මේ අයුරින්ය. අල්ලාහ්ගේ වචන ගසකින් නිකුත් විය.

(ඇ) වක්තෘවරයාට පැහැදිලි පණිවිඩයක් සුර දූතයෙකු මාර්ගයෙන් ලැබෙන්නේය. නබි මුහම්මද් (සල්) තුමාට ශුද්ධ වූ කුර්ආනය පහළ කරනු ලැබුවේ ජිබ්රීල් නම් සුර දූතයාගේ මාර්ගයෙනි.

මෙය ශුද්ධ වූ කර්ආනයේ මෙසේ දැක්වේ.

වහී (මාගී) යෙන් හෝ තිරයකට පිටින් හෝ ඔහුගේ අවසරයෙන් ඔහු සිතූ දෙය ප්‍රකාශනය කරන දූතයෙකු එවීමෙන් හෝ මිනිසෙකුට අල්ලාහු සම්භාෂණය නොකළේය. ඇත්තෙන්ම ඔහු අති උත්කෘෂ්ටය. නුවණැතිය. 42 : 51

මෙම කිසිදු ක්‍රමයක් වක්තෘවරයෙකුට මිස අන් සාමාන්‍ය අයෙකු නොගැලපෙන්නේය. එසේ සාමාන්‍ය පුද්ගලයින් ඒ සඳහා සුදුස්සෝද නොවෙති. නිර්මාතෘ වරයාට තම අභිමතය පරිදි ඕනෑම ක්‍රමයක් තම සේවකයා සමඟ සංනිවේදනය කළ හැකිය. එහෙත් දේව පණිවිඩය ලබන්නා ඒ සඳහා සුදුසු පුද්ගලයෙකු විය යුතුය. එමඟින් ඔහු මිනිසුන්ට වඩා අධ්‍යාත්මික වශයෙන් ඉහළ මට්ටමක සිටිනු ඇත.

විල්සන් : වක්තෘත්වය ගැන අයිවාසිකම් කියූ බොහෝ පුද්ගලයින් ගැන ඉතිහාසය සාක්ෂි දරයි. විවිධ කාල වකවානු වලදී මෙම පුද්ගලයින් මතු වූහ. එවැනි සමහරු අද ද ජීවත් වේ. ඔවුන්ගෙන් සමහරු සැබෑ වක්තෘන් වන අතර අන් අය ව්‍යාජ වක්තෘ වෙති. සැබෑ වක්තෘ හා ව්‍යාජ වක්තෘ වෙන් කර හඳුනා ගන්නේ කෙසේ ද ?

චිර්රි : වක්තෘවරයා අල්ලාහ්ගේ දූතයාය. ඔහු මිනිස් වර්ගයාට අල්ලාහ් එවූ තානාපති වරයා යි. තනාපතිවරයා සතුව ඔහුගේ අව්‍යාජ බව ඔප්පු කිරීමට සාධක තිබිය යුතුය. කිසිවෙකු තමා විසින් තනාපති වරයෙකු විය නොහැකිය. එහෙයින් වක්තෘ ලෙස හඳුන්වන අය සතුව අන් සාමාන්‍ය පුද්ගලයෙකු සතුව නැති කිසියම් අසාමාන්‍ය ශක්තියක් තිබිය යුතුයි.

නබි මූසාතුමාට තමාගේ හැරමිටිය සර්පයෙකු කිරීමටත් ජලය රුධිරය බවට පත් කිරීමටත් තම හැරමිටියෙන් මුහුදට වරක් ගැසීමෙන් මුහුදු ජලය දෙබෑ කිරීමටත් හැකියාව තිබුණි. බෙහෙත් නොමැතිව රෝගීන් සුවපත් කිරීමේ හැකියාව ඊසා (නබි) තුමාට තිබුණි. අන්ධයින්ට පෙනීම ලබා දීමත් මළ අය පණ ගැන්වීමත් එතුමාට හැකි විය. ශුද්ධ වූ අල්කුර්ආනයේ සඳහන් පරිදි තොටිල්ලේ සිටියදී ම එතුමා කතා කළේය. මුහම්මද් තුමාට දක්ෂ කථිකත්වයක් තිබුණි. ශුද්ධ වූ කුර්ආනය එයට සමාන දෙයක් අරාබි බසින් ඉදිරිපත් කරන ලෙස අභියෝග කලේ ඒ නිසා ය.

**විල්සන් : වක්තෘවරයා වශයෙන් එවනු ලැබුවේ මනුෂ්‍යයෙක් ද නැත්තම් අල්ලාහ් මිනිසෙකු නොවන දූතයෙක් මිනිසුන් අතරට එවන්නේ ද?**

**විර්රි :** වක්තෘවරයා මිනිස් වර්ගයාට ආදර්ශයකි. ඔහු අන් මිනිසුන් සමඟ එකම ස්භාවධර්මයත් එකම හැකියාවත් සහ එකම සීමාවත් බෙදා ගත්තේය. ඉතා ආකර්ෂණීය උදාහරණ මිනිසාට ලැබිය හැකි විය. ඒ අනුව එතුමන් අනුගමනය කරන ලෙස මිනිසුන් පොළඹවන ලදහ. වක්තෘවරයා වෙනත් ආකාරයක කෙනෙක් වූවානම් එතුමාගේ ආදර්ශයත් මිනිසුන් නොපිළිගනු ඇත. වක්තෘවරයෙකු කළ ක්‍රියාවන් එතුමා අනුගමනය කරන්නන්ටද හැකි විය යුතුය. මනුෂ්‍යයකු උසස් මට්ටමේ ගුණවත් ජීවිතයක් පෙන්වූවානම් මම ද එම මට්ටමට ළඟා වීමට වෑයම් කරන්නෙමි. මක්නිසා ද යත් මම ද ඔහු මෙන් මනුෂ්‍යයෙක් මි. ඔහුට හැකි දේ මටද හැකිවන්නේ ය. එහෙත් මලායිකාවරයෙක් උතුම් සදාචාරයක් දැක්වූ වා නම් මම ඔහුගේ ඒ ගුණය පිළිපැදීමට වෑයම් නොකරනු ඇත. මන්ද යත් ඔහුට හැකි ඒ ක්‍රියාව මට නොහැකි වනු ඇත.

මක් නිසාද යත් ඔහු මට සමාන ලක්ෂණ ඇති කෙනෙකු නොවේ. මිනිසකු වක්තෘවරයකු ලෙස මිනිස් වර්ගයාට ලැබිය යුතු බව සිතීමට තවත් හේතුවක් ඇත. එනම් වක්තෘවරයා සිය අව්‍යාජ භාවය ඔප්පු කිරීම ට සමහර අසාමාන්‍ය හැකියාවන් ගෙන් සමන්විත විය යුතු බව අපි සිතා ගත්තෙමු.
මෙසේ ප්‍රාතිහාර්යක් දැක්වීම තුලින් ඔහුව අල්ලාහ් අන් සාමාන්‍ය මිනිසුන්ට වඩා කිසියම් හැකියාවක් සහිත අයකු ලෙස මවා ඇති බව වටහා ගත්තෙමු.

වක්තෘවරයා මිනිසෙකු නොව මැලක් වරයෙක් යැයි සිතමු. එහෙත් මැලක් වරයෙක් එසේ කළේ නම් එය ඔහුගේ අව්‍යාජ තත්වය දැක්වීමක් හෝ ඔහුගේ අසාමාන්‍ය ක්‍රියාවක් හෝ නොවේ.

**විල්සන් : ඉස්ලාමීය දෘෂ්ටිය අනුව වක්තෘත්වයට අදාළ විශ්වාසයන් මොනවාද ?**

**විර්රි :** ඉස්ලාමීය දෘෂ්ටිය අනුව වක්තෘත්වයට අදාළ විශ්වාසයේ පහත සඳහන් කරුණු ඇතුළත්.

01. මුහම්මද්තුමාගේ වක්තෘත්වය ගැන සැලකුවේ නම් එතුමා එක් මිනිස් වර්ගයාට නොව ලෝකවාසී සියලු මිනිසුන්ටම එවනු ලැබූ වක්තෘවරයාය. ශුද්ධ වූ අල්කුර්ආනයේ එය මෙසේ විස්තර කරයි.

**එම්බල මනුෂයෙනිල ඇත්තෙන්ම මම තොප සියල්ල වෙත අල්ලාහ්ගේ රසුල්වරයෙක්මි. ඔහුටයැ අහස්හිද පොළවෙහිද රජය. ඔහු හැර දෙවියෙක් නැත. ඔහු ජීවය දෙන්නේය. මරණය පමුණුවන්නේය. එහෙයින් අල්ලාහු ගැනද ඔහුගේ කලීමා ගැනද විශ්වාස කරන උම්මු නබි වූ රසුල්වරයා ගැනද විශ්වාස කර තොප යහමග වනු පිණිස ඔහු අනුගමනයද කරවුයි කියව.** 7:158

2. අල් කුර්ආනයේ විස්තර කරන මුහම්මද් තුමාට පෙර පහළ වූ සියලුම වක්තෘවරු ගැන විශ්වාස කිරීම.

**අප අල්ලාහු ගැනද අප වෙත පහළ කළ දැය ගැනද ඉබ්රාහිම් ඉස්මාඊල් ඉස්හාක් යාකූබ් හා ගෝත්‍රිකයනට පහළ කළ දැය ගැනද මූසාටත් ඊසාටත් (ඒ නබිවරුන් ) කිසිදු කෙනෙකුන් අතර වෙනසක් නොමැත. අපි ඔහු කීකරු වූවෝ වෙමුයි කියමු.** 2:136

3. මුහම්මද් (නබි) තුමා අවසන් වක්තෘ ලෙස පිළිගැනීම. එය අල්කුර්ආනය මෙසේ දක්වයි.

**මුහම්මද් තොපගේ මිනිසුන්ගෙන් කිසිවෙකුගේ පියේ නොවේ. එහෙත් ඔහු අල්ලාහ්ගේ රසූල්වරයා ද නබි වරයාගේ මුද්‍රව ද වේ. අල්ලාහ් සියළු දැය ගැන සදා දන්නේය.** 33:40

මුද්‍රාව යන වචනයේ අර්ථය වන්නේ පණිවිඩයක හෝ ලේඛනයක අව්‍යාජ බව තහවුරු කිරීමය. යමක් සහතික කළ පසු හෝ අවසන් කළ පසු මුද්‍රාව තබයි. ශුද්ධ වූ නබි මුහම්මද් තුමා තම ඥාති සොහොයුරු වූ අලීට මෙසේ කීය

මම සම්බන්ධයෙන් ඔබගේ තත්වය මූසා නබිතුමා සම්බන්ධයෙන් හාරූන්ගේ තත්වයට සමානය. එහෙත් මගෙන් පසුව නබිවරයෙක් නොමැත.

# විමසුම - 12

## ශුද්ධ වූ නබි මුහම්මද් තුමා

විල්සන් : ඉතිහාසය අපට දන්වන පරිදි මුහම්මද් නබිතුමා තම හතලිස්වන වියේදී හිරා නම් ගුහාවේ අල්ලාහ්ට නැමදිමින් සිටින විට අල්ලාහ්ගේ ආලෝකය එතුමා මත වැටුණු බවත් සත්‍යයේ හඬ ඇසුණු බවත් පැවසේ. එම මොහොතේදී මිනිසාට වක්තෘවරයා වශයෙන් එතුමාට බලය දෙනු ලැබුණි. හිරාහිදී මුහම්මද් තුමා ලැබූ පණිවිඩය කුමක් ද ?

චිර්රි : නව වෘක්තෘවරයාට හිරාහිදී පහළ කරනු ලැබූ පණිවිඩය වූයේ අල්ලාහ් පිළිබඳ සත්‍යය වන්නේ ය. නිර්මාණය කිරීමේ බලය මැටියෙන් මිනිසා මැවීමේ බලය හා එම සිද්ධිය සවිඥාණ බවට පත් කිරීමේ බලය හා ඒ පිළිබඳ ව ලොවට දැනුම් දීම.

ලෝක සංස්කෘතියේ අඩිතාලම වූ මිනිසාගේ ලිවීමේ හැකියාව මිනිසාගේ දැනුම ප්‍රදර්ශනය කිරීමෙන් එම සිද්ධිය සවිඥාණ කිරීමේ බලය මනාව පැහැදිලි වේ. මෙය ශුද්ධ වූ අල්කුර්ආනයේ මෙසේ දැක්වේ.

> නිර්මාණය කළා වූ මුඹ හිමිගේ නාමයෙන් හදාරව. ඔහු මිනිසා ඝන ලේ කැටියකින් නිර්මාණය කෙළේය. හදාරව මුඹගේ හිමි උදාරය. ලේඛනියෙන් උගැන්වූවාවූ ඔහු ඔහු නොදන්නා දැය ඔහුට උගැන්නුවේය. 96:1-5

**විල්සන් : අන්වක්තෘවරු අතර මුහම්මද් තුමාගේ ස්ථානය කුමක් ද?**

**චිර්රි :** ප්‍රධාන නබිවරු පිළිබඳ වාර්තාවේ විශිෂ්ඨ තත්ත්වයක් එතුමාට හිමි ය.

1. ආගමික ඉතිහාසයේ හා ලෝක ඉතිහාසයේ ඔහු කොටස් කරුවෙකි. ලෝක ඉතිහාසය වෙනස් කිරීමෙහි ලා එතුමාගේ පණිවිඩය ඉතා වැදගත් විය. ලෝක ඉතිහාසය සම්බන්ධයෙන් එතුමන්ගේ පැවැත්ම හා භූමිකාව ගැන කිසිදු ඉතිහාසඥයෙක් සැක පහළ කරන්නේ නැත.

2. තම ජීවිත කාලය තුළම තම ආගම මුළු ජාතියක්ම වැළඳ ගන්නා තෙක් වර්ධනය වීම සිය දෑසින් දුටු එකම වක්තෘවරයා එතුමාය.

3. එතුමා හිබෲවරු හෝ අරාබිවරු වැනි සීමිත එක් ජාතියක් සඳහා එවනු ලැබූ වක්තෘවරයෙකු නොව විශ්වයට පොදු වූ වක්තෘවරයෙකු ලෙස පැහැදිලිය.

මේ පිළිබඳව අල්කුර්ආනය පවසයි.

> **"එම්බල මනුෂ්‍යයෙනි ඇත්තෙන්ම මම තොප සියල්ල වෙතැ අල්ලාහ්ගේ රසූල්වරයෙක්මි. ඔහුට යැ අහස්හිද පොළවෙහි ද රජය. ඔහු හැර දෙවියෙක් නැත....."** 7:158

4. සියලුම ආකාරයේ ගෝත්‍රික වාද භේද වලට විරුද්ධව එතුමාගේ පණිවිඩය ඉදිරිපත් කර ඇත. සියලුම ආකාරයේ සමාජයීය බාධක වලින් ඉවත් වීම එතුමාගේ පණිවිඩයේ ප්‍රධාන කොටස වේ.

සුදු කළු රතු හා කහ යන සියල්ල සමානය. කිසිදු ජාතියක් අන් ජාතියකට වඩා උසස් නොවේ. මිනිසා වගකිව යුත්තේ ඔහු සිය කැමැත්තෙන් කරන හොඳ හෝ නරක ක්‍රියාව සඳහා පමණි. ජාතියකට හෝ වර්ගයට අයත් වීම අපගේ අභිමතය පරිදි සිදුවන්නක් නොවේ. අපගේ ශ්‍රේෂ්ඨත්වය රැඳී ඇත්තේ අපගේ ක්‍රියාවන් මතය.

ශුද්ධ වූ අල්කුර්ආනය එය මෙසේ දක්වයි.

**ඇත්තෙන්ම අල්ලාහුගේ සන්නිධානයෙහි තොපෙන් ඉතා ගෞරව ඇති තැනැත්තා තොපෙන් බිය බැතියාය. අල්ලාහු සර්වඥය. සවිඥානය. 49:13**

5. ඉතාමත්ම ආදර්ශමත් වූ බලවත් රාජ්‍යයක් ගොඩනැගීමට එතුමාට තම ජීවිත කාලය තුළ හැකි විය. මෙම ඉස්ලාමීය රාජ්‍යය උදාවූයේ රජයක් යන්න පාලක පක්ෂයක් යැයි සලකනු ලැබූ යුගයකය. එකල රජය ජනතාවගේ සුභ සිද්ධිය ගැන නොසලකා තම අභිමතයන් ක්‍රියාවට නැංවීය. ජනතාවගේ සමානාත්මකතාවය පාලකයන් විසින් කිසිවිටෙක පිළිගනු ලැබුවේ නැත. ඉස්ලාමීය ඉගැන්වීම අනුව සත්‍ය වූයේ මෙහි පරස්පරය.

6. එතුමාට තමනට විරුද්ධ වූ සියල්ලන්ම ජයගත හැකිවිය. එහෙත් එතුමා ජය ගැනීමට කිසිවෙකුටත් නො හැකි විය.

7. තමා බලයේ සිටිය දී ආගමික නිදහස ප්‍රකාශයට පත්කළ එකම වක්තෘවරයා එතුමාය. එතුමා සහ එතුමාගේ සහායකයින් වසර 13ක්ම රටින් පිටුවහල් කරනු ලැබූහ. එම අවස්ථාවේ දී එතුමා ආගමික නිදහස ගැන කතා නොකළේය. එහෙත් තම සතුරන් ජයගෙන බලයට පත් වූ අවස්ථාවේ දී එතුමා ආගමික නිදහස ගැන මෙසේ කීය.

**"ඉස්ලාම් හි බල කිරීමක් නැත. ඇත්තෙන්ම දුර්මාර්ගයෙන් සත් මාර්ගය පැහැදිලිය..." 2:256**

8. අවසන් වක්තෘවරයා තමා බව ප්‍රකාශ කළ එකම රසූල්වරයා ඔහුය. වක්තෘන්ගේ දීර්ඝ ඉතිහාසය තමා සමඟ අවසන් වන බව එතුමා දන්වා සිටියේය. ඔහුගෙන් පසුව ද බොහෝ දෙනෙක් නබිත්වය ගැන අයිතිවාසිකම් කීවද ඔවුන් කිසිවෙකුගේ නබිත්වය සාර්ථක නොවීය.

9. මිනිසාගේ නිර්මාණය නොවූ එකම වචනයක්වත් නැති ග්‍රන්ථයක් ලොවට දායාදය කළ එකම වක්තෘවරයා ඔහුය. ශුද්ධ වූ අල්කුර්ආනය අල්ලාහ් සහ මිනිසා අතර වූ දෙබසක් නොව මුහම්මද් තුමා මාර්ගයෙන් ලොවට හිමි කළ අල්ලාහ්ගේ වචන වේ.

**විල්සන් : මුසා නබි හා ඊසා නබි යන පෙර සිටි නබිවරු සැලකිය යුතු ආකාරයේ ප්‍රාතිහාර්ය දැක්වීමට බලගැන්වී සිටිය ද මුහම්මද් නබිතුමාට සිය වක්තෘත්වය ඔප්පු කිරීම සඳහා තිබුණේ කුර්ආනය පමණි. මුසා නබි හෝ ඊසා නබි මෙන් නබි මුහම්මද් (සල්) තුමා ප්‍රාතිහාර්ය නොපෑවේ ඇයි ?**

**විර්රි :** මුහම්මද් තුමාගේ ප්‍රාතිහාර්යයන් හා එතුමාට කලින් සිටි නබිවරුන්ගේ ප්‍රාතිහාර්යයන් අතර වෙනස්කම් වලට හේතු දෙකක් ඇත.

1. පෙර සිටි නබිවරුන්ගේ ප්‍රාතිහාර්ය සත්‍ය වුව ද ඒවා හේතුවෙන් එතුමන්ට තම නබිත්වය ජනයාට පිළිගැන්වීමට හෝ තම ඉගැන්නුම් වලට නම්මවා ගැනීමට හෝ නො හැකි විය. මුසා නබිතුමා සියලුම ප්‍රාතිහාර්යයන් දැක්වීමෙන් පසුව වුව ද ඊස්රායීල්වරු එතුමා පිළිගත්තේ නැත. ඔවුන් පයින් ඇවිද මුහුද තරණය කළ පසුව ද මුසා නබිතුමාගේ ඉගැන්වීම් වලට නම්‍ය වූයේ නැත. එතුමා දසපනත ලබා ගැනීම සඳහා කන්දට ගොස් පැමිණි අවස්ථාවේ ඉස්රායීල්වරු  දෙවියන්ගේ මාර්ගයෙන් බැහැරව දඩාවතේ යමින් සිටිනු දැක ගත හැකි විය. ඊසා නබිතුමා බොහෝ අය විසින් අනුගමනය කරනු ලැබුව ද අර්බුද අවස්ථාවේ දී එතුමාගේ ගෝලයින් පවා එතුමා අතහැර ගියහ.

සාමාන්‍යයෙන් ජනයා ප්‍රාතිහාර්යය දැක දෙවියන්ගේ ඉගැන්වීම් කෙරෙහි යොමු වන්නේ නැත. ප්‍රාතිහාර්ය පානු දකින ජනයා පවසන්නේ ප්‍රාතිහාර්ය පාන්නන් මැජික්කරුවන් හෝ වංචනිකයන් ලෙසය. මුහම්මද් තුමාගේ කාලයේ ද කලින් වක්තෘවරු කළ ආකාරයේම ප්‍රාතිහාර්යයන් පෑවානම් එතුමාට ලැබෙන්නේ කලින් වක්තෘවරුන්ට ලැබුණු ප්‍රතිඵලයමයි. එම නිසා අවශ්‍ය වෙනස්කම් කිරීමක් අවශ්‍ය විය.

2. මුසා තුමාගේත් ඊසා තුමාගේත් ප්‍රාතිහාර්යයන් සාර්ථක වූවානම් ඔවුන්ගේ සත්‍යතාවයට එය සාක්කියක් වන්නට ඇත. එහෙත් ඔවුන්ගේ ප්‍රාතිහාර්ය තාවකාලිකය. අන්ධයෙකුට බැල්ම ලබා දීම හෝ මළ අයෙකුට ජීවය ලබා දීම වැදගත් කාර්යයක් වුව ද එම ක්‍රියාව කළ වහාම එය නැතිව යන්නේය. ඒ ක්‍රියාව ඉවර වූ වහාම එය ඉතිහාසයකි. එය නොදුටු අය එය දුටු අයගේ සාක්කිය මත යැපෙති.

වක්තෘවරයෙකු ගෙන් පසුව තවත් වක්තෘවරයෙකු පැමිණෙන විට පළමු වක්තෘවරයා සැලකිලිමත් වන්නේ තම සමකාලීනයන් ගැනය. අනාගත පරම්පරා ගැන සොයා බැලීමට ඔහුට අවශ්‍ය නො වනු ඇත. මක් නිසා ද යත් එම පරම්පරාව යහමග යැවීම සඳහා පසුව එන වක්තෘවරයා වෙහෙසෙනු ඇත. පසුව පැමිණෙන වක්තෘවරයා තමාගේම ප්‍රාතිහාර්යයන් පාන අතර එතුමා විසින් කලින් සිටි වක්තෘවරයා සහතික කරනු ලබනු ඇත.

එහෙත් මුහම්මද් තුමා අවසාන වක්තෘවරයා වූ නිසා එතුමාගේ තත්වය මීට වෙනස්ය. එතුමාට කිසිදු ප්‍රාතිහාර්යයක් කෙරෙහි යැපිය නොහැක. මක් නිසා ද යත් එවැනි කිසිදු ක්‍රියාවක් තවත් පරම්පරාවකට දැකීමට හැකි වන සේ දීර්ඝ කාලයක් නො පවතිනු ඇත. එතුමා අවසාන වක්තෘන් වන නිසා ඉන් පසුව පහළ වන තවත් වක්තෘවරයෙකු මත ද යැපිය නොහැකිවනු ඇත. එතුමාට යැපිය හැකි වන්නේ අලුත් ආකාරයක ප්‍රාතිහාර්යයන් මතය. එය සමකාලීනයන්ට මෙන්ම මතු පරම්පරා වලට ද දැකිය හැකි සාධකයක් වන ප්‍රාතිහාර්යයක් විය යුතුයි.

කැමරාවක් හෝ චිත්‍රපටියක් මඟින් අයෙකුගේ ක්‍රියා විවිධ අවස්ථා වල සාක්කි වශයෙන් පෙන්විය නොහැකිව තිබුණු යුගයක දේශනා වැනි දිගටම පැවතිය හැකි සාක්කි හැර වෙනත් සාක්කියක් මත අපට යැපීමට නො හැකිය. දේශනාව අති විශිෂ්ඨ වන විට හා එය පොතක වාර්තා වන විට එහි අද්විතීය බව ඕනෑම වේලාවක ඕනෑම පරම්පරාවක් විසින් පරීක්ෂා කර බැලිය හැකිය. එය අද්විතීය නම් එය සදා පවතිනු ඇත.

එසේම ඒ බව සෑම පරම්පරාවකටම අත්විඳිය හැක. අවසාන වක්තෘවරයෙකුට සුදුසු එවැනි ප්‍රාතිහාර්යයකි. මුහම්මද් නබිතුමා තම සත්‍යභාවයට සාක්කි වශයෙන් ශුද්ධ වූ අල්කුර්ආනයෙන් සන්නද්ධ වූයේ මේ නිසා ය.

# විමසුම - 13

## එතුමාගේ වක්තෘත්වයට තව දුරටත් සාක්කි: අල්කුර්ආනයේ අනාගතය පිළිබඳ පූර්ව කථනය හා සබැඳි කරුණු

විල්සන් : ශුද්ධ වූ අල්කුර්ආනය කෙරෙහි අරාබි කතා කරන ජනතාවගේ ඇති ගරුත්වය හා ඇගයීම නිසා එහි ශ්‍රේෂ්ඨත්වය ගැන විශ්වාස කිරීමට මම ද නැඹුරු වුනෙමි. අල්කුර්ආනයට සමාන වූ නිර්මාණයක් ඉදිරිපත් කිරීමට තනි පුද්ගලයෙක් හෝ කණ්ඩායමක් කළ සාර්ථක වෑයමක් ගැන ඓතිහාසික සාධක නැත. ආරාබි බස කතා කරන සියලු ජනයා කිසි විටෙක මුස්ලිම් නොවූ බව අපි දනිමු. මුහම්මද් නබිතුමාගේ කාලයේ විසූ ආරබිවරු දක්ෂ කවිකයන් බව අපි දනිමු. එසේම ඔවුන්ගේ බහුතරයක් ඉස්ලාමයට දැඩිව එරෙහි වූහ. අල්කුර්ආනය එයට සමාන වූ නිර්මාණයක් ඉදිරිපත් කරන කාලය ඔවුනට ද අනාගත පරපුරට ද අභියෝග කළ ද එය භාර ගැනීමට ඔවුන් කිසිදා සමත් වූයේ නැත.

අල්කුර්ආනයේ විශිෂ්ඨත්වය සැබවින්ම සැකයෙන් තොර සත්‍යයකි. මුහම්මද් තුමා අල්ලාගේ දූතයා බව දැක්වීමටත්

**අල්කුර්ආනය අල්ලාහ් විසින් සැබවින්ම පහළ කරන ලද්දක් බව දැක්වීමටත් එහි අලංකාර රටාව හා විශිෂ්ඨත්වය හැර අන් යමක් එය සතු වේ ද ?**

**පිළිතුර** : අල්කුර්ආනයේ අනාගතය ගැන පුරෝකථනය කරන අවස්ථා රැසක් ඇත. ඒ පුරෝකථනයන් සියල්ල ඒ අයුරින්ම ඉටු වී ඇත. අල්ලාහ් හැර අන් කිසිවෙකුට අනාගතය පිළබඳ දැනුමක් නැත.

නොසිතූ විරූ ආකාරයට අද මිනිසා විද්‍යාත්මක හා තාක්ෂණික දියුණුවක් ලබා සිටී. එහෙත් ඔහුට තවම අනාගතය ගැන කිසිවක් කිව නොහැකිය. දියුණු රටවල් එකිනෙක සමඟ කුලල් කා ගත්ත ද ඔවුන්ගේ කිසිවෙකුටත් ජයග්‍රහණය සහතික විය නොහැකිය. අනාගතය දැකීමේ හැකියාවක් සතු වූවානම් මෙම විනාශකාරී යුද්ධයන් මඟ හැරීමට ඔවුන්ට අවස්ථාව තිබුණි. තමාට පරාජයක් අත්වන යුද්ධයකට පැටළීමට කිසිදු ජාතියක් සූදානම් වන්නේ නැත.

මිනිසාගේ නො හැකියාව ගැන තේරුම් ගැනීමට ඇති හොඳම අවස්ථාව අපගේ මැතිවරණ බව පැවසිය හැක. නවීන විද්‍යාත්මක ක්‍රම හා නවීන මාධ්‍ය තුළින් සියලු ආකාරයේ දත්ත හා තොරතුරු තිබුණ ද කිසිදු අපේක්ෂකයෙකුට තම දැනුම හෝ පරාජය ගැන ඡන්ද ගණන් කිරීමට පෙර කිව නොහැකි වන්නේය. එහෙත් මිනිසා විසින් පුරෝකථනය කළ නොහැකි අනාගතය පිළිබඳව පවසා ඇති බොහෝ කරුණු අල්කුර්ආනයේ අඩංගුය. එම පුරෝකථනයන් සාර්ථක වී ඇති අතර එමගින් අල්කුර්ආනය අල්ලාහ් සැබැවින්ම පහළකළ ග්‍රන්ථයක් බවත් මුහම්මද් නබි (සල්) තුමා අල්ලාහ් විසින් සැබවින්ම පහළකරන ලද දූතයා බවත් සහතිකය.

මෙම අනාවැකි වලින් කිහිපයක් ශුද්ධ වූ අල්කුර්ආනයේ අනාගතය ගැන කරුණු කියයි. ඒවායින් එකක් පහත දැක්වේ.

**1. ඇත්තෙන්ම අපයැ සිහිපත් කිරීම (අල්-කුර්ආන්) පහළ කෙළේ. ඇත්තෙන්ම අපයැ එය ආරක්ෂා කරන්නේ. 15:9**

මෙම වාක්‍යයෙන් අපට වැටහෙන්නේ අල්කුර්ආනය විනාශ

නොවන බවය. එසේම මෙ ලොවින් එය තුරන් නොවන බවය. එය හැමදා පවතින බවය.

මෙම අනාවැකිය මිනිසා විසින් බලාපොරොත්තු වූ කරුණට හාත්පසින්ම විරුද්ධ වූවකි. අල්කුර්ආනය ලිවීමට හෝ කියවීමට බැරි වක්තෘවරයෙකු විසින් හඳුන්වා දෙන ලදී. එතුමා සාක්ෂරතාවය ඉතා අඩු ජාතියක භාෂාවකින් එය ඉදිරිපත් කළේය. මුහම්මද් තුමාගේ කාලයේ අරාබි ජනයාගෙන් මිලියනයකට සිය දෙනෙක් හෝ උගත් අය නුවූහ. ඊටත් වඩා ජනතාවගෙන් බහුතරයක් නබිතුමාට හා එතුමාගේ මෙම ග්‍රන්ථයට විරුද්ධ අය වූහ. මෙම තත්ත්වයන් යටතේ එම ග්‍රන්ථය විනාශ වී. නැති වී යනු යැයි බලාපොරොත්තු වීම යුක්ති සහගතය. මෙතරම් පරම්පරා ගණනක් එය පැවතීමට ඇති අවස්ථාව ඉතා අල්පය.

2. එය පහත වාක්‍යයේ විස්තර කර ඇත.

**ඇත්තෙන්ම සිහිපත් කිරීම ( අල්කුර්ආන්) ඔවුන් වෙත පැමිණි කල්හි එය විශ්වාස නොකළ අය දඬුවම් කරනු ලබන්නේ ය. ඇත්තෙන්ම අතියුත්කෘෂ්ට පුස්තකයෙකි. ඉදිරිපසින් හෝ පිටුපසින් හෝ අසත්‍ය එය ලං නොවෙයි. ප්‍රශංසාර්හය ප්‍රාඥයා කෙරෙන් පහළ වූවකි. 41:41-42**

එනම් අල්කුර්ආනය පහළ කරනු ලැබීමට පෙර පවසන ලද වචන එයට ඇතුළත් නොකළ බව හා එය පහළ කරනු ලැබීමෙන් පසු පවසන ලද වචන එයට එකතු නොකරනු ලබන බව ද මෙම වාක්‍යයෙන් අපට දැනුම් දෙනු ලැබේ.

මිනිසා ගැන බලාපොරොත්තු වන දෙයට මෙය පරස්පර වෙනස් කරුණකි. වර්තමාන දියුණුව හා සසඳන විට එවැනි පුරාණ යුගයක පහළ කරන ලද ග්‍රන්ථයට අලුතින් කිසිවක් එකතු නොකර තිබේ යැයි බලාපොරොත්තු විය නොහැකිය. අල්කුර්ආනය පහළ කරන අවස්ථාවේ දී මුද්‍රණ යන්ත්‍ර නොවී ය. මුහම්මද් තුමාගෙන් ශතවර්ෂ ගණනාවක් යන තෙක් මුද්‍රණ යන්ත්‍රය සොයා ගනු ලැබුවේ ද නැත.

කිසිදු පූජනීය පොතක් අලුතින් එකතු වීම් නොමැතිව පිරිසිදු ලෙසම පැවැති බවට ඓතිහාසික සාධක ද නැත. අන් එවැනි පොත් ශත වර්ෂ ගණනාවක් මුළුල්ලේ විවිධ වෙනස්කම් වලට

භාජනය විය. අල්කුර්ආනය ද මේ තත්වයටම පත්වේ යැයි සලකන ලදී.

එහෙත් අනාවැකි දෙකම සම්පූර්ණයෙන්ම සාර්ථක විය. ප්‍රථම සාර්ථකත්වය ස්වයං ප්‍රත්‍යක්ෂ භාවයයි. කෙසේ වුවද ශුද්ධ වූ අල්කුර්ආනය විනාශ වූයේ නැත. එය ජීවමාන හා සජීවී ග්‍රන්ථයක් ලෙස පවතියි. අල් කුර්ආනයේ ජීවයෙන් පොහොසත්ය ලොව ඇති වැඩියෙන්ම කියවන පුස්තකය එය වේ. සෑම මුස්ලිම් වරයෙකුම දිනකට පස් වතාවක් නැමදුමේ යෙදිය යුතු අතර සෑම නැමදුමකටම අල් කුර්ආනයේ කිසියම් පරිච්ඡේදයක් උපුරිය යුතුය. මේ අනුව දිනපතාම මිලියන වතාවක් මුස්ලිම් වරු නැමදුමෙහි යෙදෙන අතර මිලියන වතාවක් අල්කුර්ආනය පරායනය කරනු ලැබේ.

දෙවැනි අනාවැකියද ඉතා හොඳින් ඉටු වී ඇත. එනම් ශුද්ධ වූ කුර්ආනය නොවෙනස්ව පවතියි. එකද මිනිස් වචනයක් වත් එහි ඇතුළත් කර නොමැත.

අප අද කියවන අල් කුර්ආනයේ වචන අඩුවක් වැඩියක් නොමැතිව එදා නබිතුමා සහ සහභාවරු කියවූ අල්කුර්ආනයම වන්නේ ය..

03) ශුද්ධ වූ කුර්ආනය එහි බොහෝ ප්‍රකාශ තුළින් ඉස්ලාමිහි විරුද්ධවාදීන්ට කුර්ආනයට සමාන නිර්මාණයක් ඉදිරිපත් කරන ලෙස අභියෝග කරයි.

එවැනි ප්‍රකාශනයක් පහත පරිදි දැක්වේ.

> **මෙම ප්‍රකාශනයන් අල්කුර්ආනය එයට සමාන කථාවක් හෝ ලේඛනයක් ඉදිරිපත් කරන ලෙස මිනිස් වර්ගයාට අභියෝග කරනවා පමණක් නොව. එවැනි වෑයමක් අසාර්ථක වන බවද පුරෝකථනය කරයි. එහෙත් ශුද්ධ වූ කුර්ආනය අනෙක් ඕනෑම අරාබි දේශනාවකට වඩා ශ්‍රේෂ්ඨ ය. 17 : 88**

මෙම ප්‍රකාශනය අනුව ශුද්ධ වූ කුර්ආනය වර්තමානයේ මෙන්ම අනාගතයේ ද අසම සම බව පැවසේ. මෙම ප්‍රකාශනය බලාපොරොත්තු නොවන ආකාරයේ ප්‍රකාශයකි. මක් නිසාද

යත් මිනිස් හැකියාව හා දක්ෂතා දිනපතා වර්ධනය වේ. මෙය ඕනෑම ක්ෂේත්‍රයක් සම්බන්ධයෙන් සැබෑය.

එය කොතරම් සුළු විද්‍යාත්මක ගවේශණයක් වුවත් ඒ හේතුවෙන් මිනිසාගේ අමතර දැනුම හා තාක්ෂණය දියුණු වේ. උදාහරණයක් ලෙස අහසට නැග්ග ප්‍රථම අහස් යානාව එය කොතරම් වැදගත් වුවත් වර්තමාන අහස් යානා වලට බෙහෙවින් වෙනස් වේ.

එසේ පළමු අහස් යානාවේ ගවේෂකයා එයට සමාන එකක් අනාගතයේ නිර්මාණය නොකෙරෙන බව ප්‍රකාශ කරන්නට ඇත. එහෙත් එම ප්‍රකාශනය වුව ද දශකයක් තුළ බොරු බව ඔප්පු වී ඇත.

එහෙත් මුහම්මද් තුමාගේ ප්‍රකාශනය ශත වර්ෂ 14 ක් පැරණි වුව ද එය අදට ද සත්‍යය. තව ද එය කවරදාටත් වඩා අද සත්‍ය බව පැහැදිලි ය. අනාවැකිය පැරණි වන තරමට එහි සත්‍ය භාවය ද වඩ වඩාත් තහවුරු වන්නේ ය.

විශේෂ විද්‍යා ක්ෂේත්‍රයක් වැනි සෑම දෙනාටම ළඟා විය නොහැකි ක්ෂේත්‍රයක සිටින කිහිප දෙනෙකුට අභියෝග කිරීම තේරුම්ගත නොහැකි දෙයකි. එනම් අන් අයට සොයා ගත නොහැකි විද්‍යාත්මක කරුණක් සොයා ගන්නා විද්‍යාඥයෙක් ගැන හිතමු. එවැන්නෙක් අභියෝග කරන්නේ විශේෂ පංතියක සිටින සීමිත පිරිසකට ය.

අල්කුර්ආනය සම්බන්ධයෙන් මෙම තත්වය වෙනස් ය. එය සෑම දෙනාම දන්නා වචවලින් හා වාක්‍ය වලින් සෑදී ඇත. එහි අන් අය නොදන්නා රසයක් නොමැත. එහෙයින් එය අභියෝග කරන්නේ සීමිත පිරිසකට නොව සෑම පරම්පරාවක සිටින මිලියන සංඛ්‍යා ජනයාට ය. මෙවැනි සර්වත්‍ර අභියෝගයකදී එයට සමාන දෙයක් ඉදිරිපත් කිරීමට බැරි වීම විශේෂයෙන් සැලකිය යුත්තකි.

කිසිදු විද්‍යාත්මක රසයන්ගේ හෝ ගවේෂණයක් අසම සම

වූයේ නැත. මෙම ශත වර්ෂයේ වැදගත්ම සොයා ගැනීම වූ පරමාණු බෝම්බය ගැන සිතමු.

එහි වැදගත්කම නිසා එහි රහස එය සොයා ගත් රට රැක ගත නොහැකි විය. අන් රටවල් ද එයම නිෂ්පාදනය කිරීමට වෙහෙස වී සාර්ථක වූහ.

එසේ නම් ශුද්ධ වූ කුර්ආනය අනෙකුත් අරාබි නිර්මාණයන්ට වඩා ශ්‍රේෂ්ඨ වුයේ කෙසේ ද ? මිනිස් වර්ගයා මෙම අභියෝගය භාර ගැනීම ප්‍රතික්ෂේප කළේ කෙසේ ද?.

එක්කෝ අල්කුර්ආනය සැබවින්ම ශ්‍රේෂ්ඨ එකකි. එය කිසිදු පරම්පරාවක කිසිදු දක්ෂ අයෙකුට ළඟාවිය නොහැකි ආකාරයේ ප්‍රාතිහාර්යයක් වූ ග්‍රන්ථයකි. එසේ නොමැතිව මිනිසුන්ට ළඟා විය හැකි තත්වයක වූවා නම් අල්ලාහ් එයට සමාන යමක් ඉදිරිපත් කිරීමෙන් මිනිසා වළක්වා ඇත. කෙසේ වුව ද අල් කුර්ආනයේ අනාවැකිය සාර්ථක වී ඇති අතර අල් කුර්ආනය තව දුරටත් අද්විතීය ලෙස වැජඹෙයි.

# විමසුම - 14

## ඉස්ලාමයේ අනාගතය පිළිබඳ පුරෝකථනය

විල්සන් : ඉස්ලාම් ආගම පහළ කරනු ලැබූ අවස්ථාවේ දී එහි හා එය අනුගමනය කරන්නන්ගේ අනාගතය අඳුරු එකක් වූ බව ඉස්ලාමීය ඉතිහාසයෙන් කරුණු දැක්වේ. පසු කාලයේ ඉස්ලාමය සාර්ථක වීම හා අනුගමය කරන්නන්ගේ සංඛ්‍යාත්මක වර්ධනය අසාමාන්‍ය දෙයකි. මෙම බලාපොරොත්තු නොවූ සාර්ථකත්වය හා වේගය වර්ධනය නබි තුමා විසින් කලින්ම දැන සිටීම හා අල්කුර්ආනය පුරෝකථනය කිරීම ආශ්චර්යමත් දෙයකි.

මෙම පුරෝකථනයෙන් මුහම්මද් තුමාගේ අව්‍යාජ බව පැහැදිලි වේ. මක් නිසාද යත් අල් කුර්ආනය පහළ කරන අවස්ථාවේ දී එහි අනාගතය හා එය අනුගමනය කරන්නන්ගේ අනාගතය දැඩි අඳුරු එකක් විය.

විර්ච් : ඉස්ලාම් ධර්මයේ ආනාගතය හා එහි අනුගාමිකයන් ගැන ශුද්ධ වූ කුර්ආනයේ ස්ථිර වූ පූර්ව කථනයන් දක්වා ඇත. මෙයින් එකක් මුස්ලිම්වරුන්ගේ අනාගතය ගැන කරුණු දක්වයි. එය අනාගතයේ මුස්ලිම්වරුන්ට ආගමික නිදහස මෙන්ම ශ්‍රේෂ්ඨ රාජ්‍යයක් ද සහතික කරයි.

**මිනිසුනේ ඔබගේ කවුරුන් හෝ ඇත්තෙන්ම විශ්වාස තබා දැහැමි ක්‍රියාවක් කළහොත් ඔවුන්ට පෙර ඉකුත් වූවන් භූමියට අධිපති කළාක් මෙන් ඔවුන් ද නියත වශයෙන්ම භූමියට අධිපති කරන බවද ඔහු කැමති ධර්මයක මොවුන්ට ස්ථිර කර තබන බවට ද නියත වශයෙන්ම අල්ලාහ් පොරොන්දු වී ඇත්තේ ය. ඔවුන් මා හට කුමක් හෝ දෙයක් සාමන්‍ය වශයෙන් නොතබා මාවම නමදිනු. මින් පසුව ඔබගෙන් කවුරුන් හෝ ප්‍රතික්ෂේප කරන්නන් බවට පත් වුවහොත් නියත වශයෙන්ම ඔවුන් ඉමහත් පාපතරයන් ය. 24:55**

මෙම අනාවැකිය ප්‍රකාශයට පත් කළ අවස්ථාවේ දී ඉස්ලාම් ධර්මයේ අනුගාමිකයන් අල්හිජාස්හි වාසය කළ සුළු ජනගහනයක් වූහ. මෙය හිජ්රතයෙන් වසර කිහිපයකට පසු සිදු විය. ඒ අවස්ථාවේ දී මුස්ලිම්වරු හිජාසයේ වාසය කළ අයගේ මෙන්ම අරාබි අර්ධද්වීපයේ සෙසු ජනයාගේ විරෝධතාවයට භාජනය වී සිටියහ.

ඒ අවස්ථාවේ දී මුස්ලිම්වරු කිසි කෙනෙකුට ආරක්ෂාව පිළිබඳ බාලාපොරොත්තුවක් තිබුණේ නැත. තවද ඔවුන්ගෙන් කිසි කෙනෙකුට තම ආගම නිදහසේ ඇදහිය නොහැකි විය. මෙවැනි විරෝධතාවයකට භාජනය වූ සුළු ජන සංඛ්‍යාවක් දිගටම පවතී ද යන්නට එම අවස්ථාවේ දී කිසිදු සාධකයක් නොවී ය.

මේ සියලු කරුණු කාරණා මධ්‍යයේ මෙම පුරෝකථනය ස්ථිර හා ඒකාන්ත එකක් විය.

පහත වාක්‍ය වල මේ ආකාරයේ තවත් පුරෝකථන දැක්වේ.

**අල්ලාහුගේ ආලෝකය ඔවුන්ගේ මුවින් නිවන්නට ඔවුහු අදහස් කරන්නෝ ය. විශ්වාස නොකරන අය නොමැති වුව ද අල්ලාහු ඔහුගේ ආලෝකය පරිපූර්ණ නොකර නො හරින්නේ ය. 9 :32/ 61:8**

**සමානයන් තබන්නන් නො කැමති වුව ද සියලු මාර්ගයන් මත එය ප්‍රකාශ කරන පිණිස යහමග හා සත්‍ය මාර්ගය සමඟ ඔහුගේ රසූල්වරයා එව්වේ ඔහු ය. 9:33 / 61:9**

ප්‍රථම වාක්‍යය අනුව ඉස්ලාමයේ සතුරන් අල්ලාහ්ගේ ආලෝකය නිවා දැමීමට තරම් නොවන බව පවසයි. එසේම ඔවුන්ගේ පහර දීම ඉස්ලාමයේ වර්ධනයට බාධාවක් ද නොවනු ඇත. අල්ලාහ් ඔහුගේ ආගම වන ඉස්ලාමය නම් ආලෝකය නිසි පරිදි සකසයි.

ඉස්ලාමයේ සතුරන් එයට කෙතරම් දැඩි ලෙස විරුද්ධ වූවත් අල්ලාහ් ඔහුගේ ආලෝකය වන ඉස්ලාමය යථා පරිදි සකසනු ඇත. ඉස්ලාමය නැති කිරීමේ අදහසින් ඔවුන් වාද විවාද කළත් සටන් කළත් විරුද්ධ කම් පෑවත් තමන්ගේ බුද්ධිමය හා ද්‍රව්‍යමය ශක්තීන් යෙදෙව්වත් ඉස්ලාමයේ ආලෝකය නිවා දැමීමට තරම් ඔවුන් ශක්තිමත් නොවනු ඇත. නැතහොත් එය පිරිපුන් වීම වළක්වීමට සමත් නොවනු ඇත.

මෙම වාක්‍ය දෙකෙන්ම ස්ථිර වශයෙන් හා ඒකාන්ත වශයෙන් ඉස්ලාමය එහි විරුද්ධවාදීන් ජය ගන්නා බව සහතික වශයෙන්ම  පවසයි.

මෙම අනාගත වාක්‍යය පහළ කරනු ලැබූ අවස්ථාවේ දී එම කුඩා මුස්ලිම් සමාජය අරාබියේ එකල සිටි බහු දේවවාදීන්ට හා අනෙකුත් විරුද්ධවාදීන් ගෙන් ආරක්ෂා වීම සඳහා වෙහෙසමින් සිටියේ ය. පසු කාලයේ එම සාමාජයට ප්‍රබල පර්සියානුන් (බයිසන්ටයින් වරුන්ගෙන්) හා නැගෙනහිර රෝම අධිරාජ්‍යයෙන් ආරක්ෂා වීම සඳහා වෙහෙසෙන්නට සිදු විය.

මේ සියලු බලවතුන් මුස්ලිම් වරුන්ට වඩා අසාමාන්‍ය ලෙස ප්‍රබල හා පොහොසත් රාජ්‍යයන්  වූහ. පර්සියානු හා නැගෙනහිර රෝම අධිරාජ්‍ය ලොව විසූ ඉතා ප්‍රබල ශක්තීන් විය. මෙම බලයන් ජය ගැනීම ලොව තිබෙන සියලු ශක්තීන් ජය ගැනීම හා සමානය. එසේම එසේ කළ හැකි වන්නේ ලොව ඇති අතිප්‍රබලම ශක්තීන්ට පමණි. මේ පිළිබඳ අනාගත වාක්‍යයේ සඳහන් වූව ද කිසිදු අයුරකින් එය ඉටු කිරීමට හැකියාවක් නොවී ය.

සාමාන්‍යයෙන් දුර්වල හමුදාවක් එකකට වඩා වැඩි පෙරමුණු වල තමනට වඩා ප්‍රබල හමුදා සමඟ සටන් කරන විට බලාපොරොත්තු වූයේ දුර්වල හමුදාවේ පරාජය යි. මෙවැන්නක් 20 වන ශත වර්ශයේ දී ජර්මානු හමුදාවට දෙවතාවක්ම සිදු වනු අප දුටුවෙමු. ඒ ඔවුන් පෙරමුණු කිහිපයකම තමනට වඩා ප්‍රබල හමුදා සමඟ ගැටුණු නිසාය.

ශ්‍රේෂ්ඨ වක්තෘන් වූ මුහම්මද් තුමාගේ අභාවයෙන් පසුව මක්කා සහ මදීනා වාසීන් වූ සංඛ්‍යාවෙන් කිහිප දහසක් වූ මුස්ලිම්වරුන් ආගම හැර ගිය අයගේ පහරදීම් වලින් ආරක්ෂාවීම ගැන ඉතිහාසයේ සිදු වූ අතිවැදගත් හමුදාමය සිද්ධිය වන්නේ ය.

ඉහත නගර දෙකෙහි ජනයා හැර අරාබි ජාතීන් සියල්ලම වාගේ නබි (සල්) තුමාගේ අභාවයෙන් පසු ඉස්ලාමය හැර ගියහ.

ඒ නිසා මුස්ලිම් රාජ්‍යයට ප්‍රබල පර්සියානු හා නැගෙනහිර රෝමානු අධිරාජ්‍යයන් සමඟ යුධ වදින්ට සිදු විය. එම කාල වකවානුවේ දී මේ ප්‍රබල රාජ්‍යයන් දෙක දුර්වල මුස්ලිම් රාජ්‍යය සමඟ පෙරමුණු දෙකකදී සටන් කළේය. සුළුතර වූ මුස්ලිම් හමුදාවට තම ආරක්ෂාව උදෙසා පෙරමුණු දෙකේ දී දෙපාර්ශවයට බෙදී සටන් කිරීමට සිදු විය.

එහෙත් මෙහි ප්‍රතිඵලය ආශ්චර්යමත් හමුදාමය සිද්ධියක් විය. මෙම ප්‍රබල අධිරාජ්‍යයන් දෙකම අභිබවීමටත් පර්සියාව මුළුමනින්ම පරාජය කිරීමටත් මුස්ලිම්වරු සමත් වූහ. ව ස ර 100 ක් පමණ කාලයක් තුළ අත්ලාන්තික් සාගරයේ සිට ඉන්දියාව දක්වා පැවති අතිමහත් භූමි ප්‍රදේශයක් ඉස්ලාමීය පාලනයට යටත් විය.

එම අනාගත වාක්‍ය පහළ කරනු ලැබූ අවස්ථාවේ දී දුප්පත් අසරණ ව සිටි ජනතාවක් හදිසියේ ලොව අති ප්‍රබලම ශක්තිය බවට පත් විය. තම අභාවයෙන් පසු සිදු වන මෙම විශිෂ්ඨ ජයග්‍රහණය පිළිබඳ දෙවියන්ගේ දැනුම් දීම මත යැපුණු ශුද්ධ වූ නබි තුමා කලින්ම දැනුම් දී තිබුණි.

හාතම් ගේ පුත්‍ර ඔඩේ වෙත පහත අදහස මුහම්මද් වක්තෘන් වහන්සේ පැවසූහ.

ඔබ ඉස්ලාමය පිළිගන්නේ නැත. මක් නිසාද ඔබ අපව දුප්පතුන් වශයෙන් දකියි. සැබෑ විශ්වාස වන්තයන්ට තමනට පාලනය කිරීමට පවා බැරි ප්‍රමාණයේ ධනයෙන් පිරෙන කාලයක් ඇති වන්නේ ය. ඔවුන්ගේ සතුරන්ට සාපේක්ෂව මුස්ලිම්වරු කුඩා සංඛ්‍යාවක් වීම ඔබට තර්ජනයක් වනවා ඇත. දෙවියන්ගේ සහයෝගයෙන් ඉතා ටික කලකින් ඉරානයේ සිටින මුස්ලිම් කාන්තාවකට තම ඔටුවා පිටින් මක්කමට හජ් වන්දනාවේ යෙදීමට අවස්ථාවක් උදා වනු ඇත. අද බලය අවිශ්වාස වන්තයන් සතුව තිබුණද ඉතා මෑතකදීම එය අප අතට පත් වනු ඇත.

# විමසුම - 15

## වක්තෘතුමාගේ හා වක්තෘත්වයේ අනාගතය පිළිබඳ තොරතුරු

විල්සන් : අප මෙතෙක් කුර්ආනීය ප්‍රකාශන ආකාර දෙක ගැන එනම් බලාපොරොත්තු නැති අනාගතය ගැන කියන අනාගත වාක්‍ය ගැන සාකච්ඡා කළෙමු. එයින් එකක් කුර්ආනයේ ඉරණම ද අනික ඉස්ලාමයේ අනාගතය ද වේ. කුර්ආනයේ වක්තෘවරයාණන්ගේ අනාගතය ගැන කියන කිසියම් අනාගත වාක්‍යයක් තිබේ ද ?

විර්රි : මුහම්මද් වක්තෘ තුමාගේ ආරක්ෂාව පිළිබඳ පැහැදිලි තොරතුරක් ශුද්ධ වූ කුර්ආනයේ අඩංගුය.

> **ශුද්ද වූ වක්තෘතුමණි. ඔබ හිමියා ඔබට පහළ කළ දෙය මිනිසුනට ලබා දෙන්න ඒ සඳහා සියළු ආරක්ෂාවන් ඔහු ඔබට ලබා දෙන්නේය. 5:70**

මේ වාක්‍යයෙන් සහතික වන්නේ මුහම්මද් නබිතුමාට සියලු ජනයාගේ පූර්ණ ආරක්ෂාව සලසා දී ඇති බවය. මෙම අනාගත වාක්‍ය අනුව කිසිදු මිනිස් බලයකට එතුමාගේ ජීවිතය විනාශ කළ නොහැකිය. එතුමා යුධ බිමේ දී ඝාතනය කරනු ලැබුවා නම් හෝ මරණයට පත් වූ නම් මෙම අනාගත වාක්‍ය බොරු

වන අතර එතුමාගේ වක්තෘත්වය ද බොරු වන්නේ ය.

එතුමා ජීවත් වූ තත්ත්වය යටතේ සලකන විට එම අනාගත වාක්‍ය සාමාන්‍ය මිනිසාට බලාපොරොත්තු විය නොහැක්කකි. ඉස්ලාමය ප්‍රසිද්ධියට පත් කළ මොහොතේ සිට මුහම්මද් නබිතුමා සතුරුකම්වලට පොදු වේ මුහුණ දුන්නේ ය.

මක්කම ජනයා එතුමා පොදු සතුරෙකු ලෙස සැලකූහ. එතුමාගේ ජීවිතය අනතුරු වලින් පිරී පැවතුණි. වසර බොහෝ ගණනක් අඛණ්ඩව තර්ජනය යටතේ එතුමා ජීවත් විය. එතුමාට කිසිදු භෞතික ආරක්ෂාවක් නොවීය. එතුමාගේ ආරක්ෂකයා වූ අබුතාලිබ්ගේ වියෝවෙන් පසු යාත්‍රිකයන්ට තම පණිවිඩය ලබා දීම සඳහා ආරක්ෂිත තැනක් හෝ සොයාගත නොහැකි විය.

එහි වූ වැදගත් ප්‍රධානින් එතුමා දඩයම් කොට ඝාතනය කරන බව සහතික කර සිටියහ. එතුමා බේරී ගිය විට එතුමා පණපිටින් හෝ මරා හෝ අල්ලා ගත් අයෙකුට විශාල තෑග්ගක් දෙන බව පොරොන්දු වූහ. එතුමා මදීනාවට යාමට පෙර එතුමා අනිවාර්යයෙන්ම ඝාතනය කිරීමට බලාපොරොත්තු වූහ. ඉස්ලාමය එහි ලාබාල අවධියේම මුලිනුපුටා දැමීමට ඔවුහු බලාපොරොත්තු වූහ.

මදීනාවට ළඟාවීමෙන් පසුව සටන් ආරම්භ විය. මුස්ලිම්වරු අනාරක්ෂිත වුත් විවෘත වූත් සටනට තල්ලු කරනු ලැබූහ. ඒ සෑම අවස්ථාවකදීම ඔවුන්ට තමනට වඩා විශාල සංඛ්‍යාවක් සමඟ සටන් කිරීමට සිදු විය. කාන්තාරයේ විසූ සෑම ගෝත්‍රයක්ම මුස්ලිම්වරුනට විරුද්ධව හැරවීමට මක්කාවාසින් සමත් වූහ. අරාබින් නොවන ජාතීන්ගේ පාලකයින් මුහම්මද් තුමා ඉස්ලාමීය ආගම වැළඳ ගන්නා ලෙස තමාට ආරාධනා කිරීම ගැන අමනාප වූහ.

**කරුණාබර වූ ද පරිත්‍යාගශීලී වූ ද අල්ලාහ්ගේ නාමයෙන් අබ්දුල්ලාගේ පුත්‍රයා ද අල්ලාහ්ගේ දූතයාණන් වූ ද මුහම්මද් වන මම රෝමන් වරුන්ගේ ශ්‍රේෂ්ඨයා වූ හේර්ක්‍යුලස් වෙත ලියමි. සැබවින්ම මම ඉස්ලාමයට ආරධනා කර ඔබ වෙත පණිවිඩය යවමි. මුස්ලිම් වෙන්න එවිට ඔබ සුරක්ෂිත වනු ඇත. අල්ලාහ් ඔබට දෙගුණයක් දායාද දෙනු ඇත. ඔබ ඉස්ලාමයෙන්**

**ඉවත් වූයේ නම් ඔබ කළ වැරදි වලට දඬුවම් විඳිනු ඇත. දේව ධර්මය පිළිගන්නා ජනතාවෙනි ඔබ හා මා අතර සමාන වූ තත්වයක් පවතීයි. අප අල්ලාහ් හැර අන් කිසිවෙකු නමදින්නේ නැත. අල්ලාහ් අන් කිසිවෙකුට සමකොට සලකන්නේ ද නැත. එසේ නොමැතිව ඉවතට හැරුනේ නම් අපි මුස්ලිම් බව සාක්ෂි දරමු.**

මුහම්මද් තුමා ජීවිතය මුහම්මද් හුසයින් හෙයිකල්
3 වන සංස්කරණය පිටුව 371.

මේ තරම් තර්ජන මධ්‍යයේ වුව ද මුහම්මද් (සල්) තුමා සාමාන්‍ය අයෙකු මෙන් ජීවත් වූයේ ය. එතුමාට ආරක්ෂක භටයින් සිටියේ නැත. සමහර අවස්ථාවලදී එතුමා සටන් පෙරමුණ ඉදිරියෙන් යුධ වැදුණහ. රාත්‍රී කාලයේදී අඳුරු මහමාර්ග වල තනිව ගියහ. මුරකාවල් නැති නිවසේ තනිව නිදාගත්හ. එතුමා ඝාතනය කරනු ලැබීමට අනන්තවත් අවස්ථාවන් වූ අතර අවස්ථා කිහිපයකදීම එසේ ඝාතනය කිරීමට වෑයම් කරන ලදි. එවැනි අවස්ථා කිහිපයක් පහත දැක්වේ.

දිනක් කඳවුරට තරමක් දුරින් වූ ගසක් මුල එතුමා තනියම නිදා උන්හ. හදිසියේ ඇති වූ හඬක් නිසා ඇහැරුණු එතුමා තමා ඉදිරියේ කඩුව ඔසවාගෙන සිටින සතුරු භටයා දුටුහ. ''ඕ මොහොමඩ්'' යැයි කෑ ගැසූ ඔහු ''ඔබගේ ආරක්ෂාවට දැන් කවුරු සිටී දැයි'' ඇසුවේ ය. ''අල්ලාහ්'' යන්න මුහම්මද් තුමාගේ පිළිතුර විය. කිසියම් අද්භූත හේතුවක් නිසා සතුරු භටයාගේ අතින් කඩුව ගිලිහිණි. වහාම ඉදිරියට පැන කඩුව තම අතට ගත් මුහම්මද් තුමා ''ඔබගේ ආරක්ෂාවට දැන් සිටින්නේ කවුරුන්දැයි'' ඇසීය.

''අයියෝ! කිසිවෙක් නැතැයි'' ඔහු පිළිතුරු දුන්නේ ය. ''එසේනම් කරුණාවන්ත වීමට මාගෙන් ඉගෙන ගන්න'' යි කියමින් නබිතුමා කඩුව සතුරු භටයා අතට දුන්හ. මෙයින් සතුරු භටයාගේ සිත මොළොක් වුණි. නබිතුමා සැබෑ වක්තෘවරයා ලෙස පිළිගත් ඔහු වහාම ඉස්ලාමය වැළඳ ගත්තේ ය.

තවත් අවස්ථාවක මුහම්මද් නබිතුමා මුස්ලිම් නොවන

ගෝත්‍රිකයන් හමුවීම සඳහා තම සහායකයන් කිහිප දෙනෙකු සමඟ ගියහ. එම ගෝත්‍රයේ නායකයාගේ නිවෙස ඉදිරියේ ආහාර පිළියෙල වෙමින් තිබුණි. තමා අනතුරකට මුහුණ දීමට යන බව නබිතුමාට ඉවෙන් මෙන් හැඟුණි. නබිතුමා වහාම එතැනින් ඉවත්ව මදීනාවට ගියහ. එම නිවසේ වහලේ සිට ගලක් පෙරලා නබිතුමා ඝාතනය කිරීමේ සැලැස්මක් තිබුණු බව පසුව එළිවිය.

කිහිප වතාවක්ම මුහම්මද්තුමා සටන් බිමේ දී තම සගයන්ගේ ආවරණය නොලබා තනිවූහ. එවැනි සමහර අවස්ථාවල දහස් ගණන් සතුරන් මැද එතුමා තනි වූහ. එවැනි අවස්ථාවල සතුරු හමුදාවේ ඉලක්කය වූයේ නබිතුමාය. එහෙත් ඒ සියලු අවස්ථාවන්හිම නබිතුමා සතුරන්ගෙන් ආරක්ෂා කරනු ලැබූහ.

එහෙයින් අල්ලාහ්ගේ සත්‍ය දූතයා මුහම්මද් යන්නත් එතුමා සියලු සතුරන්ගෙන් ආරක්ෂා කරන ලබන බව පැවති අනාගත වාක්‍යය සත්‍ය වීමත් මෙයින් මනාව පැහැදිලිය.

**විල්සන් :** අල්කුර්ආනය සාමාන්‍යයෙන් වක්තෘත්වයේ අනාගතය පිළිබඳ අදහස් දක්වා තිබේ ද?

**චිර්රි :** මුහම්මද් නබිතුමා සමඟ වක්තෘත්වයේ අවසන් බවට දන්වා සිටීම වක්තෘත්වයේ අනාගතය පිළිබඳ කරන දැනුම් දීම වන්නේ ය.

**(මුහම්මද් ඔබ කිසිවෙකුගේ පියා නොවේ. එහෙත් ඔහු දෙවියන්ගේ දූතයා ය. එසේම වක්තෘවරුන්ගේ "කාතම්" ද ඔහුය. සෑම විටම සියල්ල දන්නේ දෙවියන් පමණි.** 33:40

කාතම් යන වචනයේ තේරුම භාජනයක් වසන මුද්‍රාව යන්නය. නැතහොත් කිසියම් ලේඛණයක් අවසන් වූ බව දන්වන සහතික කිරීමේ මුද්‍රාව යන්නය.

නබි මුහම්මද් තුමා තම ඥාති සොහොයුරාට මෙසේ කීවේ ය. හාරූන් හා මූසා අතර පැවති සම්බන්ධයට සමාන සම්බන්ධයක් මා හා ඔබ අතර පවතියි. එහෙත් මාගෙන් පසු කිසිදු වක්තෘවරයෙකු පැමිණෙන්නේ නැත.

මුහම්මද්ගෙන් පසු වක්තෘවරයෙක් නැතැයි යන ප්‍රකාශනය

වක්තෘත්වය පිළිබඳ කරනු ලබන දීර්ඝ කාලීන ප්‍රකාශනයකි. එයින් දක්වනු ලබන්නේ මුහම්මද් තුමාගේ මරණින් පසුව ලෝකයා තවත් වක්තෘවරයෙකු නොදකින බව ය. නැතහොත් ඔහුගෙන් පසුව දෙවියන් මිනිසා වෙත දූතයෙකු නොඑවන බවය. මේ අනුව වක්තෘත්වය යන දීර්ඝ ඉතිහාසය මුහම්මද්තුමා ගේ මරණයත් සමඟ අවසන් වන බවය. මෙම අනාගත වාක්‍ය බලාපොරොත්තු නොවූ ආකාරයේ එකකි. අප බලාපොරොත්තු වනුයේ දෙවියන් තම දූතයන් දිගින් දිගටම මිනිසා වෙත එවයි යන්නය. නබි මුහම්මද් තුමාට කලින් ද ඔහු එසේ වක්තෘවරු එව්වේ ය. ඒ අනුව අපගේ සාමාන්‍ය බලාපොරොත්තු වනුයේ එය දිගින් දිගටම කෙරේ යන්න ය. මුහම්මද්ගෙන් පසුව පැවැති ජනයා මෙන් එතුමාට කලින් සිටි ජනයා ද පරලොව පිළිබඳව කරුණු දැන සිටියේ නැත. වර්තමානයේ භෞතික වාදය අන් කවරදාටත් වඩා ප්‍රබල වී ඇත. එහෙයින් ආධ්‍යාත්මික ප්‍රතිසංස්කරණයක් අන් කවරදාටත් වඩා අද අවශ්‍ය වී ඇත.

මෙම ක්ෂේත්‍රය පවතින සංකීර්ණත්වය හා එයට හේතූන් මිනිසාගේ බුද්ධියෙන් වටහා ගැනීමට බැරි තරම් සංකීර්ණය. මේ පිළිබඳ සම්පූර්ණ දැනුම පවතින්නේ සර්වබලධාරී දෙවියන්ට පමණි.

**විල්සන් : අනාගත වාක්‍යයක් වඩා වැදගත් වන්නේ එයින් කිසියම් කාලයක සිදුවන කිසියම් සුවිශේෂී කරුණක් ගැන දැනුම් දුන් විටය. එහෙත් මා මේ අනාගත වාක්‍යයෙන් දන්වා සිටින්නේ සිදු නොවන දෙයක් ගැනය. එය ඍණාත්මක තොරතුරකි.**

විර්රි : ධනාත්මක තොරතුරක් ඉදිරිපත් කිරීම ඍණාත්මක තොරතුරක් පැවසීමට වඩා පහසුය. එයට උදාහරණයක් කියමි. ස්මිත් මහතා වාහනයක් එලෙව්වේ යැයි කීම ජොන්සන් මහතා කිසිදා වාහනයක් නොඑළෙව්වේ යැයි කීමට වඩා අපහසුය. ධනාත්මක ප්‍රකාශනය සත්‍ය වීමට ස්මිත් මහතා වරක් වාහනය එළවනවා දැකීම සෑහේ. එහෙත් ජොන්සන් මහතා කිසිදා වාහන එළවා නැතැයි කීමට නම් ඒ මහතාගේ මුළු අතීතයම දැන ගත යුතුය.

ඊළඟට අනාගත තොරතුරක් ගැන සලකා බලමු. ඊළඟ 50ක් වසර තුළ ඩෙට්රිට් හි අවංක විද්‍යාඥයකු බිහිවේ යැයි කිව හැකිය. මෙය අවංක විද්‍යාඥයකු මීළඟ වසර 50 තුළ ඩෙට්රිට්හි බිහි නොවේ යැයි කීමට වඩා පහසුය. එවැන්නක් කීමට ඩෙට්රිට්හි ජීවත් වන දහස් සංඛ්‍යාත මිනිසුන් ගැන සම්පූර්ණ දැනුමක් අවශ්‍ය වනු ඇත.

මෙයටත් වඩා පුළුල් උදාහරණයක් සලකමු. ඇමරිකාව හෝ මුළු ලෝකය වසර 50ක් තුළ කිසිදු අවංක විද්‍යාඥයකු නොලබනු ඇතැයි පැවසුවා නම් එය ඉතා මෝඩ ප්‍රකාශයක් වනු ඇත.

මුහම්මද් තුමා සමග වක්තෘත්වය අවසන් වීම යන්න ද මේ හා සමාන එකකි. එය එක්තරා ජාතියක සීමිත අනාගතය සමග පමණක් සම්බන්ධ එකක් නොව මුළු ලෝකයේම අසීමිත අනාගතය සමග සම්බන්ධ එකකි. ලෝක අවසානය වනතෙක් ලෝකයාට මුහම්මද් නබිතුමාගෙන් පසුව අන් නබිවරයෙක් මුණනොගැසෙන බව මෙයින් පැවසේ. මිනිසෙකු වූ නිසා මුහම්මද් නබිතුමාට එය පූර්වයෙන් දැකිය නොහැකි විය. එය සියල්ල දත් ඒකයාගේ ප්‍රකාශයකි.

එම අනාගත වාක්‍ය සම්පූර්ණ කෙරී ඇත. අද දක්වා ගත වී ඇති ශත වර්ෂ 13 ක කාලය තුළ ලෝකයා කිසිදු නබිවරයෙක් දුටුවේ නැත.

**විල්සන් : මුහම්මද් නබිතුමාගෙන් පසු බොහෝ පුද්ගලයන් නබිත්වය සඳහා අයිතිවාසිකම් කීහ. ඔවුන්ගෙන් සමහරු මෙම ශතවර්ෂයේ ජීවත් වූ අතර තවත් සමහරු අද ද ජීවත් වෙති. ඔවුන්ගේ එම අයිතිවාසිකම් කීම අනාගත වාක්‍යයේ සත්‍යභාවය බලපෑවේ නැද් ද?.**

**චිර්රි :** එවැනි අයිතිවාසිකම් කීමක් තිබූ පමණින් එය ඉහත සත්‍යතාවයට බලපාන්නේ නැත. එසේ වනුයේ එම ඉල්ලීම සනාථ කෙරුණොත් පමණි. සිය ගණන් පුද්ගලයින් නබිත්වයට අයිතිවාසිකම් කියා ඇත. ඔවුන්ගෙන් සමහරු එතුමාගේ සමකාලීනයෝ ද වූහ. එහෙත් ඒ කිසිවෙකුට තම ප්‍රකාශය සහතික කිරීමට නොහැකි විය. මෙසේ ඔවුනට ඔප්පු කිරීමට බැරි වීම

මෙම අනාගත වාක්‍යයේ සත්‍යතාවය සනාථ කරන සාධකයක් වන්නේ ය.

**විල්සන් : පසුගිය ශත වර්ෂ 13ක් මුළුල්ලේ නබිත්වයක් නොමැති වීම නබිත්වය අවසන් වූ බවට ඇති අවසන් සාධයක නොවේ. මෙවැනි කාල පරාසයක් තිබීමෙහි අදහස මින් මතු කවදාවත් නබිවරයෙක් නොපැමිණේ යන්න ද ? යම් කිසි දිනෙක නබිවරයෙක් පහළ වූවා නම් එදින මෙම ප්‍රකාශය බොරු වන්නේ ය.**

**චිර්රි :** මුහම්මද් තුමාගේ අභාවය සමඟ වක්තෘත්වය අවසන් වීම යන්න එතුමා අභාවයට පත් වූ කාල වකවානුවේ දී පිළිගැනීම අසීරු කරුණක් වූයේ ය. එසේම එතුමාගේ අභාවයෙන් පසුව පැමිණි ශත වර්ෂ තුන හතර ගැන ද කිව හැකිය. එහෙත් එතුමාගේ අභාවයෙන් පසු වසර දහස් ගණනකට එවැනි නබිවරයෙක් නොමැති වීම සමඟ තව දුරටත් නබිවරු පහළ වීම යන්න අසීරු සිද්ධියක් බවට පත් කර ඇත. මුහම්මද් තුමාගේ කාලයට පෙර කිසිම අවස්ථාවක නබිවරු දෙදෙනකු අතර කාල පරාසය අවුරුදු දහයක් හෝ 700ක් වූයේ නැත. ඉබ්රාහිම් හා මූසා අතර කාල පරාසය අවුරුදු හාරසීයකි.

නබි මූසා හා නබි ඊසා අතර කාලය තුළ සියගණන් නබිවරු පහළ වූහ. නබි ඊසා හා නබි මුහම්මද් අතර කාල පරාසය අවුරුදු හයසීයකට ආසන්න කාලයකි.

ලෝකයට නබිවරයකුගේ අවශ්‍යතාවය සැමදාම පවතියි. එහෙත් වසර දහසක් පමණ කාලයක් නබි වරයෙක් පහළ නොවීම යනු ඉමහත් අසාමාන්‍ය සිද්ධියකි. එහෙයින් මෙම දීර්ඝ නොපැමිණීම හා නබීත්වය අවසන් වීම කරුණ අතර කිසියම් සම්බන්ධයක් පවතින බව සිතිය හැකිය. දශ වර්ෂ 13ක් තිස්සේ නබිවරයෙක් නොමැතිකම මෙම සත්‍යය තහවුරු කරන තවත් කාරණයක් වී ඇත.

මෙම අනාගත වාක්‍යය පැරණි වන තරමට එහි සත්‍යභාවය තහවුරු වන්නේ ය. එම සත්‍යය ගැන සැකකළ හැකි සාධාරණ කාල සීමාව ඉක්මගොස් බොහෝ කල්ය. අනාගත වක්තෘවරයෙකු පහළ වීමට ඇති සම්භාව්‍යතාවය දැන් නැති තරම් ය.

විල්සන් : ඔබගේ පහදා දීම් සමඟ මම එකඟ වෙමි. එහෙත් අද භෞතිකවාදයට බෙහෙවින් බරවූ යුගයක් නිසා මිනිසාට අධ්‍යාත්මක මගපෙන්වීම අතිශයින් අවශ්‍යව ඇත. මෙවැනි අවස්ථාවක මුහම්මද් තුමාගේ අභාවයත් සමඟ වක්තෘත්වය අවසන් කිරීමට හේතු දැනගැනීමට මම කැමැත්තෙමි.

චිර්රි : වක්තෘත්වය අවසන් කිරීම සඳහා වන නිවැරදි හේතුව මම නොදනිමි. නබි මුහම්මද් තුමා මුළු ලොවටම නබිවරයා වශයෙන් පහළ කරනු ලැබීම එයට හේතු වූවා විය හැකිය. මීට කලින් එවනු ලැබූ සෑම නබිවරයෙක්ම එවනු ලැබුවේ කිසියම් ජාතියක් හෝ ප්‍රජාවක් සඳහාය. ඊස්රායීල් වාර්ගික වක්තෘවරුන් පහළ කරනු ලැබුවේ හිබෲවරු වෙනුවෙනි. ඔවුන්ගේ කිසිවෙකු මුළු මිනිස් වර්ගයා වෙනුවෙන් පහළ කරනු ලැබුවේ නැත. ගෝස්පල් වරයා අනුව ශ්‍රේෂ්ඨයාණන් වූ යේසු තුමා මෙසේ පවසා ඇත.

"මම එවනු ලැබුවේ ඉස්රායීල්වරුන්ගේ නිවසේ සිටින නැතිවූ බැටළුවන් වෙනුවෙනි"

එහෙයින් මුළු විශ්වයම වෙනුවෙන් පහළ කරනු ලැබූ එකම වක්තෘවරයා මුහම්මද් තුමාය. ශුද්ධ වූ කුර්ආනය මෙසේ පවසයි.

**පවසන්න ඕ මිනිසාණෙනි සත්‍ය වශයෙන්ම දෙවියන්ගෙන් ඔබ සෑම වෙතට පැමිණි දූතයා මම වෙමි. ස්වර්ග රාජ්‍ය හා පොළව ඔහුගේ ය. 7:158**

විශ්ව වක්තෘ යන තත්වයට පත් වීමත් සමඟම වක්තෘත්වය එහි ඉහළම ශ්‍රේණියට උසස් වූයේ ය. එය එම තත්වයෙන් අවසන් වනවා විය හැකිය. එහි පණිවිඩය මුළු මහත් මිනිස් වර්ගයාටම දිනා ගත හැකි වෙනවා ඇත. මිනිස් වර්ගයාට අධ්‍යාත්මික මග පෙන්වීම නොමැති වුණා නොවේ.

එම මාර්ගෝපදේශය සියලු මිනිස් වර්ගයාට ද සෑම පුද්ගලයාට ද හිමිය. මිනිස් වර්ගයා කළයුතු වන්නේ අලුත් මාර්ගෝපදේශ සෙවීම නොව පවතින මාර්ගෝපදේශ පිළිගෙන අනුගමනය කිරීමයි.

# විමසුම - 16

## ක්‍රිස්තියානින් ජය ගැනීම පිළිබඳ අනාගත වාක්‍යය

විල්සන් : 30 වන පරිච්ඡේදයේ සඳහන් සමහර කුර්ආන් වාක්‍ය ගැන මට නිතර පුදුම සිතේ. එහි රෝමන්වරුන්ගේ අනාගතය ගැන ද ඔවුන් තම සතුරන් ජය ගත්ත ආකාරය ගැනද කරුණු කියැවේ.

**"අලිෆ් ලාම් මීම් (නබිතුමණි) රෝමවාසීන් සමීපයේ ඇති භූමියෙහි (දැනටමත්) පරාජයට පත් වී ඇත. ඔවුන් අද දින පරාජයට පත් වූව ද ඉතාමත් ඉක්මනින් ඔවුන් ජයග්‍රහණය කරනු ඇත. (එයද) වසර කිහිපයක් ඇතුළතදීම (ජය පැරදුම ලබා දෙන) බලය මීට පෙරත් පසුවත් අල්ලාටම අයත් ය. ඔවුන් ජයග්‍රහණය කරන එදිනයේ දී විශ්වාසවන්තයන් අල්ලාහ්ගේ උදව්ව දැක සතුටු වන්නාහ. ඔහු තමන් කැමති අයට උදව් කරන්නේ ය. ඔහු (සියල්ලන්ටම) බල සම්පන්නයකු හා කරුණාවන්තයකු වශයෙන් සිටින්නේ ය.** මෙය අල්ලාහ්ගේ පොරොන්දුවයි. අල්ලාහ් තමන්ගේ පොරොන්දුවෙන් වෙනස් වන්නේ නැත. එහෙත් මිනිසුන්ගෙන් බොහෝ දෙනකු (මෙය) දැන ගන්නේ නැත". 30:1-6

**මේ පිළිබඳව ඔබගේ විවේචන දැන ගැනීමට කැමැත්තෙමි. එහි ඉතාමත් ස්ථිර අනාගත වාක්‍යයක් අඩංගුය. එම අනාගත වාක්‍ය ඉටු වී තිබේදැයි දැන ගැනීමට මම කැමැත්තෙමි.**

**විර්රි :** හත්වන ශත වර්ෂයේ පළමු දශකයේ දී එම යුගයේ විසූ බලවත් ජාතීන් දෙකක් වූ බයිසන්ට්‍රියාව හා පර්සියාව අතර යුද්ධයක් ඇති විය. මෙම යුද්ධය වසර 20ක්ම පැවතුණි. මෙහි ජයග්‍රහණය පර්සියාවට ලැබුණි.

බ්‍රිතාන්‍ය විශ්ව කෝෂය එය මෙසේ විස්තර කරයි.

"පර්සියානු හමුදාව සිරියාව හා සුළු ආසියාවම කොල්ල කෑහ. 608 දී ලෙඩන් දක්වා ඉදිරියට ගියහ. 613 හා 614 දී ඩමස්කසය හා ජෙරුසලම සහ බොරාස් යන සෙනවියා විසින් අත්පත් කර ගන්නා ලදී. ජයග්‍රහණය වශයෙන් ශුද්ධ වූ කුරුසය පැහැර ගන්නා ලදී. ටික කලකින් ඊජිප්තුව ද ජයග්‍රහණය කරන ලදී. රෝමන්වරුන්ට (බයිසන්ට්‍රියානු අධිරාජ්‍යයේ ජනයා) තම සතුරන්ට විරුද්ධව සටන් කළ හැකි වූයේ මද වශයෙනි. ඔවුන් අභ්‍යන්තර ආරවුල් නිසා භේද බින්නව සිටියහ".

මුහම්මද් නබි (සල්) තුමාට අල්ලාහ්ට ප්‍රථම පණිවිඩය පහළ කරනු ලැබීමෙන් වසර 6ක් හෝ 7කට පසුව මෙමෙ පණිවිඩය පහළ කරන ලදී. එනම් ක්‍රි:ව: 615 දී හෝ 616 දී මෙය පහළ විය. මෙහි අඩංගු අනාගත වාක්‍ය ස්ථිර හා කොන්දේසි රහිත වූවකි. මෙය පහළ කිරීමෙන් වසර 9 කින් එදා පරාජයට පත් වූ රෝමන්වරු පර්සියානුවරුන් පරදා තීරණාත්මක ජයග්‍රහණයක් ලබන බව මෙහි දැක්වේ.

මෙහිදී ද මෙම අනාගත වාක්‍ය පවසා ඇත්තේ ගැටුමේ දී බලාපොරොත්තු වන ප්‍රතිඵල වලට ප්‍රතිවිරුද්ධ වූ ආකාරයටය. එම අවස්ථාවේ බලාපොරොතු වූයේ පර්සියානුන් විසින් රෝමන් වරු මුළුමනින්ම ජය ගනු ලබන බවය. ඒ අවස්ථාව වන විට පර්සියන්වරු කොන්ස්තන්තිනෝපල් නගරයේ දොරටුව අසලටම පැමිණ සිටියහ. සැබවින්ම ඒ අවස්ථාවේ දී ජයග්‍රහණය පිළිබඳව රෝමන්වරු තුළ වූයේ මද බලාපොරොත්තුවකි.

රෝමන්වරුන්ගේ නායකයන්ට ඔවුන් සතු වූ සියලු යුධමය දක්ෂතා හා තොරතුරු සහිත වු ද ඔවුන්ගේ ජයග්‍රහණය ගැන බලාපොරොත්තු ඇති කර ගත නොහැකි විය. මේ කරුණු පිළිබඳ කිසිදු පැහැදිලි තොරතුරක් නබි (සල්) තුමාට ලබාගත නොහැකි වූයේ එම කාලයේ රේඩියෝව දුරකථනය හෝ රූපවාහිණිය වැනි කිසිදු පහසුකමක් නො තිබුණ නිසාය. එහෙත් කොන්ස්තන්තිනෝපල් වල සිට බොහෝ ඈතින් ජීවත් වූ මුහම්මද් තුමාට මේ ජයග්‍රණය පිළිබඳ නිවැරදි තොරතුරු කීමට හැකි විය.

එම අනාගත වාක්‍ය ප්‍රකාශයට පත් කර වසර 9ක් තුළ එය ඒ අයුරින්ම සිදු විය. හර්කියුලිස් යන රෝමානු අධිරාජ්‍යයා තම හමුදා මෙහෙයවා උතුරු ප්‍රදේශයේ තිබුණු විශාල ගිනිදෙවියන්ගේ දේවාලය වන ගොන්ඩාස් ක්‍රිːවː 623 දී විනාශ කර තම ජනයා පැරදුනු මුළුරාජ්‍යම නැවත අත්පත් කර ගත්තේ ය.

**විල්සන් : ඉහත කරුණු අනුව රෝමන්වරු පර්සියන්වරු අතින් පරාජයට පත් වීම ගැන මුස්ලිම්වරු බෙහෙවින් කණගාටු වූ බව පැහැදිලිය. මෙම අනාගත වාක්‍ය මුස්ලිම්වරුන්ට කණගාටුව ප්‍රකාශ කිරීමක් වශයෙන් පහළ කරන ලද්දක් බව පැහැදිලි වන්නේ රෝමන්වරුන්ගේ ජයග්‍රහණය ගැන අසා මුස්ලිම්වරු සතුටුවන බව පැවසීමෙන් ය. මෙමඟින් රෝමන් වරු කෙරෙහි මුස්ලිම්වරු ගැන තිබූ සැබෑ හිතවත් කම පැහැදිලි කෙරේ.**

**චිර්රි :** මුස්ලිම්වරු සැබවින්ම ක්‍රිස්තියානුවරුන්ගේ පරාජය ගැන අසා කණගාටු වූ බව කියන ඔබගේ කතාව සැබෑ වූවකි. ක්‍රිස්තියානිවරු දෙවියන්ගේ ශුද්ධ වූ ග්‍රන්ථය පිළිපදින අය වන අතර මුස්ලිම්වරු ද නව ශුද්ධ වූ ග්‍රන්ථය වන කුර්ආනය අනුගමනය කරන අය වෙති. එහෙයින් මුස්ලිම්වරු තමන් හා ක්‍රිස්තියානිවරුන් අතර කිට්ටු සම්බන්ධයක් පවතින බව පිළිගනිති.

රෝමන්වරුන්ගේ පරාජය පිළිම වන්දනාකරුවන් එකට බැඳ තබන දැඩි බන්ධනයක් විය. රෝමන්වරුගේ පරාජය ගැන බෙහෙවින් සතුටු වූ පිළිම වන්දනාකරුවන් රෝමන්වරුන් තම අනිත් සතුරන් වූ මුස්ලිම්වරු සමඟ එකට සැලකූහ. ඔවුන් එසේ කළේ මෙම දෙපිරිසම පිළිම වන්දනාව ප්‍රතික්ෂේප කරමින් දේව ග්‍රන්ථය පිළිගන්නා අය වූ නිසාය.

මුස්ලිම්වරු හා ක්‍රිස්තියානින් අතර පැවති මේ සම්බන්ධය ස්වාභාවික වූවකි. මුස්ලිම්වරු ඊසා නබිතුමාගේ සත්‍ය පිළිගෙන සහෝදරත්වයෙන් සැලකුවා සේ ක්‍රිස්තියානිවරු ද මුහම්මද් නබිතුමාගේ සත්‍ය පිළිගෙන සැලකුවා නම් මේ ආගමිකයන් අතර සහෝදර සම්බන්ධකම දිගටම පවතින්නට ඉඩ තිබුණි.

එහෙත් අවාසනාවකට මෙන් ක්‍රිස්තියානිවරු නබි මුහම්මද් තුමාගේ නබිත්වය පිළිගැනීම ප්‍රතික්ෂේප කළහ. මෙය හා මුහම්මද් නබි (සල්) තුමාගේ මරණින් පසුව සිදු වූ සිද්ධීන් නිසා මුස්ලිම්වරු හා ක්‍රිස්තියානිවරු අතර පැවති ස්වාභාවික හිතවත්කම පලුදු විය.

# විමසුම - 17

## වෙනත් සාධක :
## කලින් නොදත් සාධක පහළ වීම

විල්සන් : මුහම්මද් තුමාගේ කාලයේ ලොව නොදැන සිටියා වූ ද එහෙත් වර්තමානයේ ඇත්තා වූ ද කිසිවක් පිළිබඳව අල්කුර්ආනයේ සඳහන් වන්නේ ද ? මෙවැනි දේ පිළිබඳව කිසියම් තොරතුරක් වේ නම් එය මුහම්මද් තුමාගේ වක්තෘත්වය පිළිබඳ අමතර තොරතුරක් වනු ඇත. 7 වන සියවසේ විසූ සාක්ෂරතාවයක් නොලද මුහම්මද් වැනි අයෙකුට නවීන විද්‍යාවේ ගවේෂණ කෙසේ වේ දැයි සිතාගැනීම අසීරු කරුණකි. මේ පිළිබඳ ඇති කිසියම් තොරතුරක් වේ නම් එය ඉස්ලාමයේ සත්‍ය පණිවිඩයට හොඳම සාධකය වන්නේය.

චිර්රි : අල්කුර්ආනය කියවන්නා මෙවැනි සමහර කරුණු පිළිබඳව එකකට වඩා වැඩි අවස්ථාවල විස්තර දක්වා තිබෙනු දකිනු ඇත. ඒවායින් සමහරක් නවීන ලෝකය විසින් සොයා ගනු ලැබුවේ මෑතකදී ය. තවත් සමහරක් සොයා ගැනීමට තවම සූදානම් වෙමින් පවතියි. නවීන විද්‍යාව අන් ග්‍රහලෝක වල ජීවීන් පවතී ද යන්න ගැන සැකයෙන් යුක්තව ගවේෂණවල යෙදෙයි. වර්තමාන විද්‍යාවට එය තවම සැකයකි.

උදාහරණයක් ලෙස එක්තරා රුසියානු විද්‍යාඥයෙක් තමා අභ්‍යාවකාශයෙන් යම් යම් සංඥා ලද බවත් ඒවා වෙනත් ග්‍රහලෝකයක වෙසෙන ජීවියකු විසින් නිකුත් කළ ඒවා විය හැකි බව තමා විශ්වාස කරන බවත් පවසා ඇත. එම විද්‍යාඥයා ළඟදීම දිනක අපගේ ග්‍රහලෝකයෙන් පිටත ග්‍රහලෝකවල වාසය කරන ජීවීන් හමුව හඳුනාගනු ඇත. මෙසේ වර්තමාන විද්‍යාත්මක යුගයේ දී සොයා ගැනීමට බලාපොරොත්තුවන කරුණු දැනට ශතවර්ෂ දහතුනකට කලින්ම ශුද්ධ වූ අල්කුර්ආනය එළිදරව් කර ඇත.

**අහස් ද භූමිය ද උත්පාදනය කර තිබීම ද ඒවායෙහි සතුන් (ආදී බොහෝමයක් ජීවීන්) ද විසුරුවා හැර තිබීම ද ඔහු ප්‍රාතිහාර්යයන්ගෙන් වූ දෙයකි. එහෙයින් ඔහු කැමති අවස්ථාවක ඒවා (මරණයෙන් පත් වූ පසු ද) ඒකරාශී කිරීමට බලසම්පන්නයකු වශයෙන් සිටින්නේ ය.** 42:29

මෙම වාක්‍යයෙන් තම පාද වලින් ඇවිදීමට හැකි ජීවීන් ස්වර්ගයෙහි හා පෘථිවියෙහි සිටින බවත් කිසියම් දිනක පෘථිවියෙහි වාසය කරන ජීවීන් බාහිර ග්‍රහලෝකයේ ජීවත් වන ජීවීන් ඇසුරු කරන බවත් කියැවේ.

සතුන්ගේ මෙන් ශාක අතර ද ලිංග භේදය තිබේ යන්න තවත් එක් වර්තමාන විද්‍යාත්මක සොයා ගැනීමක් ලෙස පෙන්වා දිය හැකිය.

පරාග කණිකාවේ ඇති සියලුම සෛල වල වර්ණ දේහ අර්ධ සංඛ්‍යාවක් ඇති බව විද්‍යාව පෙන්වා දෙයි. මෙම සෛල දෙකක් පුරුෂ සෛල වේ. ප්‍රජනනය සිදු වීම සඳහා මලක පරාගය එම පුෂ්පයක කලංකය මත වැටිය යුතුය. එයින් කලංකය තුළින් ඩිම්බය හමුවන තෙක් පරාග නාලය හා අනික් සෛල වර්ධනය වේ. පුරුෂ සෛල දෙක මෙම නාලය දිගේ ගමන් කර පරාග නාලයේ කෙළවරට පැමිණේ. එයින් එකක් ඩිම්බය හා සංසේචනය වන අතර එයින් බීජයක් වර්ධනය වන්නේය. මෙසේ ශාකවල පිරිමි හා ගැහැණු ලිංග පැවතීම නවීන විද්‍යාව මඟින් සොයා ගන්නා තෙක් මිනිසා දැන සිටියේ නැත.

එහෙත් ශුද්ධ වූ කුර්ආනය ශාක ලෝකයේ ලිංග භේදයක් පවතින බව පැහැදිලිව දක්වා ඇත.

**භූමිය වැඩෙන්නට සලස්වන සියල්ල ද (පැලෑටි ගස් කොළන්) මොවුන්ව ද ජෝඩු ජෝඩු වශයෙන් උත්පාදනය කර මොවුන් (මේ දක්වා) නොදන්නා (අනික්) දැය ද උත්පාදනය කරන්නා ඉතාමත් පාරිශුද්ධවන්තයාය. 36:36**

නබි මුහම්මද් තුමාගේ කාලයේ විසූ ජනයා අභ්‍යාවකාශය පිළිබඳ දැනුමක් නැති අය වූහ. අහසට එසවෙන තරමට වාතය ලැබෙන බව එදා මිනිසා සිතීය. එසේම අහසට නඟින තරමට ශ්වසනය කිරීම පහසු වන බව සැලකුණි. එහෙත් අභ්‍යවකාශය වාතය රහිත තැනක් බව අද අපි දනිමු.

එසේම අයෙක් අභ්‍යාවකාශයට පිවිසියේ නම් ශ්වසනය කිරීමට නොහැකිව මරණයට පත්වනු ඇත. මෙම කරුණ පවා ශුද්ධ වූ අල්කුර්ආනයේ පැහැදිලිව දක්වා ඇත.

**අල්ලාහ් කවුරුන්හට සෘජු මාර්ගය පෙන්වීමට අදහස් කරන්නේ ද ? ඔහුගේ හෘදය ඉස්ලාමය දෙසට විස්තීරණය කර හරින්නේය. කවුරුන් දූර්මාර්ගයේ අත හැරීමට අදහස් කරන්නේ ද ? ඔහුගේ හෘදය (බල කිරීමකින්) අහසට නඟින්නෙකුගේ (හෘදය) මෙන් ඉතාමත් අමාරුවෙන් හකුළුවා යන බවට පත් කර හරින්නේය.** මෙසේ විශ්වාස නොකළ අයට අල්ලාහ් දඬුවම් ලබා දෙන්නේය. **6 : 125**

අහසට එසවෙන පුද්ගලයාගේ පපුව පටුවීම යනු ශ්වසනය අපහසු වීමය. එහෙත් එය එදා අභ්‍යවකාශය ගැන පැවති සංකල්ප වලට පටහැනි වූවක් වූයේ ය.

# විමසුම - 18

## මුහම්මද් තුමා ගැන බයිබලය පවසන කරුණු

විල්සන් : දැන් අප සාකච්ඡා කළ කරුණු තර්කානුකූල බව ඒත්තු ගැන්වෙන අතර මුහම්මද් තුමාගේ වක්තෘත්වයට ප්‍රබල සාක්කි සපයන කරුණු වන්නේ ය. මෙහිදී ප්‍රධාන වශයෙන් අල්කුර්ආනයේ අද්විතීයභාවය හා කලින් සඳහන් කළ අනාගත වාක්‍ය රැසක සත්‍යතාවය මනාව තහවුරු වන්නේ ය. නබි මුහම්මද් තුමාගේ පහළවීම පිළිබඳව පරණ තෙස්තමේන්තුවේ හෝ අළුත් තෙස්තමේන්තුවේ කිසියම් අනාගත වාක්‍යක් දැක්වේ දැයි දැන ගැනීමට මම කැමැත්තෙමි.

චිර්රි : මුහම්මද් වක්තෘන්තුමන්ගේ පැමිණීම බලාපොරොත්තු වන කරුණු සඳහන් අවස්ථා කිහිපයක්ම බයිබලයේ ඇත. නමින් ඔවුහු සඳහන් නුවුව ද දක්වා ඇති විස්තර ගැලපෙන්නේ උදාහරණයක් ලෙසය.

ඔවුන්ගේ සහෝදරයන් අතරින් ඔබ වැනි වක්තෘවරයෙක් ඔවුන් සඳහා (ඊශ්‍රායල්වරු) නැඟිටුවන්නෙමි. මම මාගේ

වචන ඔහුගේ මුවින් පිට කරවන්නම්. මම අණ කරන සියල්ල ඔහු ඔවුනට පවසනු ඇත. මාගේ නාමයෙන් ඔහු පවසන වචන වලට සියල්ලන් අවනත විය යුතුයි. 18:18-19

මෙම ප්‍රකාශය අනුව ඊස්‍රායල්වරුන්ගේ සහෝදර ජනයා අතරින් දෙවියන් වක්තෘවරයෙක් පහළ කරන බවත් එම වක්තෘවරයා නබි මූසා තුමාට සමාන වන බවත් එම වක්තෘවරයාගේ මුඛයෙහි දෙවියන් තම වචන යොදන බවත් එම වෘක්තෘවරයා දෙවියන්ගේ නාමයෙන් එම වචන කථා කරන බවත් කියැවේ.

1. ඒ අනුව බලාපොරොත්තු වන වක්තෘවරයා සතු ලක්ෂණ 3 කි. ඒවා කිසිවක් නබි මුහම්මද් (සල්) තුමාට හැර අන් කිසිවෙකුට ගැලපෙන්නේ නැත. ඊස්‍රායිල්වරු සහෝදර ජනකොටසක් වන්නේ අරාබිවරුනට පමණි. ඊසාශ්‍රායිල්වරුන්ට සහෝදර ජනකොටසක් වන ආරබි නොවන අන් කිසිදු ජනකොටසක් ලෝකයේ නොමැත. ඊසාශ්‍රායල්වරු ඊසාක්ගෙන් පැවතෙන්නන් වන අතර අරාබිවරු ඉස්මායීල්ගෙන් පැවැතෙන්නන්ය.

2. පවසන ආකාරයට මෙම වක්තෘවරයා මූසා නබිතුමාට සමාන ආකාරයක නබිවරයෙකි. එතුමා තම ජනයාගේ ලෞකික මෙන්ම අධ්‍යාත්මික නායකයා ද වූයේ ය. මෙම විස්තර ගැලපෙන්නේ මූසා නබිතුමාගෙන් පසු පහළ වූ නබිවරු අතුරින් නබි මුහම්මද් තුමාටය. නබි මූසාගෙන් පසු පහළ වූ කිසිවෙක් අලුත් පනත් හා නව ආකාරයක් සමඟ පහළ වූයේ නැත. නබිඊසා තුමා නබිමූසා තුමාගේ අණපනත් අනුගමනය කළේය. එතුමා තම ජනයාගේ ලෞකික නායකයා ද නුවූයේ ය. තව ද මුහම්මද් තුමා හැර අන් සියලු නබිවරු පහළවූයේ ඊශ්‍රායිල් වරු අතුරින් මිස ඔවුන්ගේ සහෝදරවරු අතුරින් නොවේ.

3. මෙම ප්‍රකාශනය අනුව පොරොන්දු වූ වක්තෘවරයා තම වචන නොව දෙවියන්ගේ වචන කතා කරන කෙනෙක් බව පැවසේ. මුහම්මද් තුමා හැර අන් කිසිදු වක්තෘවරයෙක් තම ශුද්ධ වූ

ග්‍රන්ථවල දෙවියන්ගේ වචන අඩංගු බව පැවසුවේ නැත. මූසා තුමාට දෙවියන්ගේ පණිවිඩ පහළවුව ද එතුමා ඒවා තම වචන වලින් පැවසුවේ ය. මූසා තුමාගේ ග්‍රන්ථ පහෙහි අප කියවන සියල්ල මූසා තුමාගේ වචන මිස දෙවියන්ගේ වචන නොවේ. පරණ තෙස්තමේන්තුවේ ග්‍රන්ථ සියල්ල ලියන ලද්දේ මිනිසුන් විසිනි. ගොස්පල්වරු හතර ද එසේය. ඊසා තුමා සත්‍ය කතා කළද ඒවා එතුමාගේම වචන මිස දෙවියන්ගේ වචන නොවේ. බයිබලය මිනිසා සහ දෙවියන් අතර පැවති දෙබසක් බව සැලකේ.

අල්ලාගේම වචන අඩංගු වන්නේ කුර්ආනයේ පමණි. මුහම්මද් තුමා අල්ලාගේ වචන ඒ අයුරින්ම උසුරා පෙන්වූයේය. මේ අනුව ඉහත විස්තරය හාත්පසින්ම ගැලපෙන්නේ මුහම්මද් තුමාට ය.

ඉහත ප්‍රකාශනය දක්වා ඇති ග්‍රන්ථයෙන්ම උපුටා ගත් තවත් ප්‍රකාශයක් පහත දැක්වේ.

**දෙවියන්ගේ මිනිසා වන මූසා තුමා එතුමාගේ මරණයට කලින් ඊශ්‍රායිල් වරුන්ගේ දරුවන් වෙත කරන ලද ආශිර්වාදය පහත දැක්වේ. එතුමා මෙසේ කීය.**

**"හිමියා සිනායි වලින් පැමිණියේ ය. අප වෙත සියර්හි උදාවූහ. එතුමා පරාන් කන්දෙන් දිලිසුණහ. තම දකුණින් දිලිසෙන එළියක් සහිතව දස දහසක් ශුද්ධ සහායකයින් සමඟ එතුමා පැමිණියේ ය."** 33

හිමියාගේ පැමිණීම යනු දෙවියන්ගේ පහළ වීමය. වක්තෘවරු තිදෙනා වෙනුවෙන් අවස්ථා තුනක දෙවියන්ගේ විදහා පෑම ගැන මූසා තුමා පවසයි. සිනායිහි කන්දෙහි විදහා පෑම මූසාතුමාගේ වක්තෘභාවය නියෝජනය කරයි.

ඊළඟ විදහා පෑම සිදු වූයේ සියර් හි දී ය. මෙය ඊසා තුමා විසින් ලබා ගත් පහළ වීම නියෝජනය කරයි. සියර් පිහටා ඇත්තේ ජෝර්දානයේ ය.

තුන්වන විදහා පෑම වන දෙවියන්ගේ ආලෝකය පාරාන් කන්දෙන් විහිදුනු දෙවියන්ගේ ආලෝකය වේ. මෙය මුහම්මද් නබිතුමාගේ වක්තෘත්වය නියෝජනය කරයි. පාරාන් කන්ද හිජාස්හි පිහිටයි. මෙය මුහම්මද් නබිතුමා හැදුණු වැඩුණු රට වන්නේ ය.

නබි මුහම්මද් තුමා දස දහසකින් යුත් මුස්ලිම්වරු සමඟ මක්කා නගරයට ඇතුලුව එහි පිළිමවන්දනාව අවසන් කළහ.

මුහම්මද් තුමාගේ පැමිණීම ගැන අලුත් තෙස්තමේන්තුවේ ද කරුණු දැක්වේ.

**"යේසු තුමා ඔවුනට මෙසේ පැවසීය. (ඊශ්‍රායිල්වරුනට) ඔබ කිසිදා දේව ග්‍රන්ථය කියවා නැද්ද පෙදරේරුවා ප්‍රතික්ෂේප කරන ගල මුල්ලේ හිස වන්නේ ය. මෙය හිමියාගේ ක්‍රියාවයි. එය ඉතා අපූරු ලෙස අපි දකින්නෙමු. එහෙයින් මම ඔබට කියමි. දෙවියන්ගේ රාජධානිය ඔබගෙන් ඉවතට ගෙන එහි එල ප්‍රයෝජන ලබන කිසියම් ජාතියකට දෙනු ඇත. කවුරු මත මෙම ගල වැටෙත් ද ඔවුන් සුණු විසුණු වනු ඇත."** මැතිව් 21:42-44

මෙම ප්‍රකාශය අනුව දෙවියන්ගේ රාජ්‍ය යුදෙව්වන්ගෙන් වෙනස් ජාතියකට දෙනු ලබන බව මෙම අනාගත වාක්‍යයේ කියැවේ. ඊසා තුමාගෙන් පසුව අරාබින් හැර අන් කිසිදු ජාතියක් තමනට දෙවියන්ගේ පණිවිඩය ලැබූ බව පැවසුවේ නැත. අරාබින් ලොවට ඉස්ලාමය යන පණිවිඩය ලබා දුන්හ. ඊසා තුමා මෙම ජාතිය ඊශ්‍රායිල්වරු අභිබවන බව පැවසුවේය. මෙය ඊසාක් හා දෙවියන් අතර සිදු වූ සම්මුතිය පදනම් වූවකි.

ඉබ්රාහීම් යුගයේ දී ඉස්මායිල් පිටමං කර තිබුණි. පරණ තෙස්තමේන්තුවට අනුව මෙසේ පැහැදිලි කළ හැකිය.

මෙහි ඇති විස්තරය පරිදි ඉස්මායිල් හා ඔහුගේ දරුවෝ ඉබ්රාහිම් නබිතුමාගේ කාලයේ දී පිටමං කරනු ලැබ සිටියහ. එය ඊසා තුමා විසින් පෙදරේරුවා විසින් ප්‍රතික්ෂේප කරන ලද

ගල ලෙස දක්වා තිබුණි. පසුව එය ප්‍රධාන ගලක් වන බවද එතුමා පැවසූහ.

මුහම්මද් තුමා ද අරාබිවරුද ඉස්මායිල්ගෙන් පැවතෙන්නන් වූහ. මොවුන් ඊශ්‍රායිල්වරු අභිබවන බව ඊසා තුමා බලාපොරොත්තු විය.

මෙම ජාතිය කුඩු කරන ගලක් බව එතුමා විග්‍රහ කළේය. එය මත වැටෙන කෙනා මෙන්ම එය වැටෙන කෙනා ද සුණු විසුණු වනබව එතුමා කීය.

එනම් දෙවියන්ගේ රාජධානිය හිමි කර ගන්නා එම ජාතිය එඩිතර ජාතියක් වන බවත් එයට විරුද්ධ වන සතුරන් ජය ගැනීමට මෙන් එය පහර දෙන සතුරන් විනාශ කිරීමට තරම් වන බවද එතුමා දන්වා සිටියේය.

අරාබින් ආධ්‍යාත්මික පණිවිඩයක් රැගෙන ගිය නිසා ද තමන් ආරක්ෂා වීමටත් සතුරන් පරදවීමටත් තරම් එඩිතර වූ නිසා ද මෙම සියලු විග්‍රහයන් ගැලපෙන්නේ අරාබි ජාතියට පමණි. ඊසා තුමාගෙන් පසු ලෝක ඉතිහාසය එඩිතර වූ ජාතීන් රැසක්ම බිහි වුවද ඒ කිසිම ජාතියකට දෙවියන්ගෙන් ධර්මයක් පහළ කරනු ලැබුවේ නැත.

# විමසුම - 19

## මරණින් මතු ජීවිතය

විල්සන්: දැන් මරණින් මතු ජීවිතය ගැන කතා කිරීමට සුදුසු වේලාවයි. මේ පිළිබඳව පරණ තෙස්තමේන්තුවේ පැහැදිලිව කරුණු දක්වා නැත. එහෙයින් මරණින් මතු ජීවිතය ගැන යුදෙව්වන් අවධාරණය කරන්නේ නැත. අළුත් තෙස්තමේන්තුව මේ පිළිබඳව කථා කරන අතර මරණයෙන් මතු ජීවිතය ගැන ක්‍රිස්තියානිවරු සැලකිලිමත් වෙති. එහෙත් ශුද්ධ වූ අල්කුර්ආනය මේ පිළිබඳව වැඩියෙන් අවධාරණය කරයි. මෙය ඉස්ලාමීය විශ්වාසයේ කොටස් ලෙස සලකනවා ද කියා මම දැන ගන්නට කැමැත්තෙමි.

ච්ර්රි : මරණින් මතු නැවත පණගැන්වීම ඉස්ලාමීය විශ්වාසයේ වැදගත් අංගයකි. ඉස්ලාමීය ඉගැන්වීම අනුව මෙලොව හා එහි ඇති සියල්ල දිනක විනාශ වී යන්නේ ය. දෙවියන් පමණක් දන්නා පසු දිනක මළවුන් සියල්ලම නැවත නැඟිටුවා ඔවුන් මෙලොවෙහි දී කළ සියලු කරුණු විමසනු ලබති. සැමදෙනාම එම දිනයේ දී තම ක්‍රියාවන්ට අනුව සම්මානය හෝ දඬුවම් ලබති.

භූමියෙහි ඇති සියල්ල විනාශ වී යන්නේ ය. ඉතාමත් ගෞරවය ද ආඩම්බරය ද රැඳුනු ඔබ දෙවියන් පමණක්

(විනාශ නොවී) ස්ථිරව සිටින්නේ ය. 55:26-27

තවද කිමෙක්ද අපි ( දිරාගොස්) පස් බවට ද ඇටසැකිළි බවට ද පත් වූ පසු ඇත්තෙන්ම අපි පණ දී නැගිට්ටවනු ලබන්නෙමු ද ? (එසේම) පෙර ඉකුත්ව ගිය අප පියවරු ද නැගිට්ටවනු ලබන්නෙවු ද? යැයි සමච්චලයෙන් මෙන් පවසමින් සිටියහ. නබිතුමනි මෙසේ පවසන්න. නියත වශයෙන්ම ඔබගෙන් වූ පෙර සිටිය වුන්ද කම් නැත. පසුව සිටින්නවුන් වුවද කම් නැත. (ඔබ සියල්ලම) නියමිත දිනයේ දී (නොවැරදීම පණ දී නැගිට්ටවනු ලැබ) ඒක රාශී කරනු ලබන්නාහ. 56:47:50

විල්සන් : මරණයෙන් මතු දිවිය යන සංකල්පය මිනිස් අත්දැකීම් වලින් බෙහෙවින් ඈත් වූවකි. ශාරීරික වශයෙන් මළ අයෙක් ආත්මීය වශයෙන් ජීවත් වීම යන්න පිළිගැනීමට අසිරු කරුණකි. නැතහොත් ඔහු මැරී ගොස් පසු කාලෙක ජීවත් වේ යන්න පවා පිළිගත නොහැක්කකි. මරණයෙන් මතු ජීවිතය යන්න ඔප්පු කිරීම අසීරු කරුණක් වුවත් එම සංකල්පයට පක්ෂව කිසිදු තර්කයක් ඉදිරිපත් කළ නොහැකිය.

චිර්රි : මරණින් මතු ජීවිතය යන සංකල්පය අපගේ අත්දැකීම් වලට අසීරු වූ කරුණක් වුවද එය තාර්කික කරුණක් බව පැහැදිලිය. අප අල්ලාහ් හා ඔහුගේ සාධාරණත්වය ගැන පිළිගන්නෙමු. සර්වබලධාරී සාධාරණ එම දෙවියා යහපත් පුදගලයෙකුට ප්‍රශංසා නොකර සිටින්නේ නැත. එසේම වැරදි කරන්නෙකුට දඬුවම් නොකර සිටී යැයි සිතීමටද බැරිය. දස දහස් ගණනක් වූ යහපත් මිනිසුන් දුක් විඳිමින් ජීවත්ව කිසිදු ප්‍රශංසාවක් නොලබා මැරී යති. එසේම දුෂ්ඨයන් වැරදි කරුවන් අපරාධ කාරයන් මංකොල්ලකරුවන් මොලොවෙහි දී සියළු සැප සම්පත් විඳිමින් ජීවත් ව කිසිදු දඬුවමක් නොලබා මැරී යති.

සාධාරණ වූ අල්ලාහ් මෙවැනි පාපයන්ට දඬුවම් නොදී සිටීමත් යහපත් දෑ කළ අයට ප්‍රශංසා නොකිරීමත් නොකරනු ඇත. එහෙයින් මේවාට දෙවියන්ගේ යුක්තිය ක්‍රියාත්මක කිරීම සඳහා අවකාශයක් ඇති භවත් ලොවක් තිබිය යුතුය.

ශුද්ධ වූ කුර්ආනය මතු ජීවිතයේ වැදගත්කම අවධාරණය කරන්නේ අල්ලාහ්ගේ යුක්තිය ක්‍රියාත්මක කිරීමේ සංකල්පය මතය.

**එදිනයේ දී මිනිසුන් (හොඳ හෝ නරක හෝ) තමන්ගේ විපත් දකිනු පිණිස (වෙන් වෙන් කණ්ඩායම් වශයෙන් බෙදී) සමූහ ලෙස විනිශ්චය සඳහා පැමිණෙනු ඇත. කවුරුන් එක් අංශු ප්‍රමාණයක පිනක් කර තිබුණි නම් ඔහු එය දැක ගන්නේ ය. කවුරුන් අංශු ප්‍රමාණයක පාපයක් කර තිබුණේ ද ඔහු ද එය දැක ගන්නේ ය. 99:6-8**

**විල්සන් :** අපගේ බලාපොරොත්තුව අනාගත ලෝකයක අවශ්‍යතාවය පෙන්වීම නොව එවැනි ලොවක් තිබීම යථාර්ථයක් වන බව පෙන්වීමය.

**චිර්රි :** මතු ලොවක පැවැත්ම ඍජු සාක්කි මඟින් හෝ අපට භෞතික වශයෙන් දැන ගත හැකි සාක්කි මඟින් හෝ ඔප්පු කළ හැකි කරුණක් නොවේ. එයට අදාළ කරුණු අපගේ අත්දැකීම් ක්ෂේත්‍රයෙන් හා ප්‍රඥා ක්ෂේත්‍රයෙන් බැහැර වූවකි. එය අපට හුරු පුරුදු කිසිවක් සමඟ බැඳී නැත. එයට ඍජු සාක්කි නොමැති වුව ද වක්‍ර සාක්කි ඇත.

අල්ලාහ්ගේ අවසන් නබිවරයා වන මුහම්මද්තුමා ඇතුළු විවිධ නබිවරු මෙම අනාගත ලෝකය ගැන පවසා ඇති අතර එම තොරතුරු මත අපට යැපිය හැකිය. මක්නිසාද යත් නබිතුමාගේ නබිත්වය ගැන හෝ එතුමාගේ සත්‍යභාවය ගැන කිසිදු සැකයක් අපට නොමැත. එතුමාට ජනයා නොමඟ යැවීමට කිසිදු අවශ්‍යතාවයක් නැති අතර එතුමා ජනයාට කිසිදු වැරදි තොරතුරක් සපයන්නේ ද නැත. එහෙයින් වර්තමානය මෙන්ම අනාගතය ගැන ද එතුමා පවසා ඇති කරුණු අපට පිළිගත හැකිය.

අයෙක් එතුමාගේ නබිත්වය පිළිගන්නා අතර එතුමා පවසන තොරතුරු පිළිනොගෙන සැක කිරීම සුදුසු දෙයක් නොවේ.

විල්සන් : කුර්ආනයේ පාර්ශවයෙන් සලකන විට විශ්වාසය පිළිබඳ මෙම කරුණ කෙතරම් දුරට වැදගත් වන්නේ ද?

ව්ර්රි : ශුද්ධ වූ කුර්ආනයේ බොහෝ පරිච්ඡේද වල අල්ලාහ් පිළිබඳ විශ්වාසය සමගම මරණයෙන් මතු ජීවිතය පිළිබඳ විශ්වාසය ගැනද සඳහන් වේ. ඒ අනුව ඉස්ලාමීය දෘෂ්ටිය අනුව අල්ලාහ් පිළිබඳ විශ්වාසයෙන් පසුව ඇති වැදගත්ම විශ්වාසය මරණයෙන් මතු ජීවිතය පිළිබඳ විශ්වාසය බව පැහැදිලිය.

> විශ්වාසවන්තයින් වුව ද යුදෙව්වන් වුව ද ක්‍රිස්තියානුවන් වුව ද සාබිවරුන් වුව ද ඔවුන් අල්ලාහ්වද අවසාන දිනය ද ඇත්ත වශයෙන්ම විශ්වාස කර දැහැමි ක්‍රියාවන් කළෝ ද ඔවුන්ට ඔවුන්ගේ ඵල විපාක ඔවුන්ගේ දෙවියන් වෙත නියත වශයෙන්ම ඇත. තව ද ඔවුන්ට කිසිම බියක් ද නැත. ඔවුන් දුක් වන්නේ ද නැත. 2:62

> **තව ද ඔවුන් අල්ලාහ්වද අවසාන දිනය ද විශ්වාස කර (මිනිසුන්ව) දැහැමි ක්‍රියාවන් ගෙන් අණකර පාපතර කාරණා වලින් වළක්වා පින් ඇති කාරණාවන් කිරීමට ඉක්මන් (කරවමින්) යන්නහ.** 3:114

විල්සන් : මුහම්මද් නබිතුමා ජනයාට මරණින් මතු ජීවිතය පිළිබඳව පැහැදිලිව පවසා ඇත. එය පැහැදිලි මෙන්ම ධනාත්මකය. ඊට පෙර නබි ඊසා තුමාද මෙම කරුණ පිළබඳ යම් යම් තොරතුරු දක්වා ඇත. එහෙත් නබිතුමා මේ පිළිබඳව කිසිවක් කියා නැත. මෙය ප්‍රශ්නයට තුඩුදෙන්නේ ය. මූසා නබිතුමාගේ දේවග්‍රන්ථවල මරණින් මතු ජීවිතය ගැන කරුණු නොමැති වීම ප්‍රහේළිකාවකි. නැවත පණගැන්වීම එතරම් වැදගත් කරුණක් නම් ඒ පිළිබඳ මුහම්මද් තුමාට හා ඊසා නබිතුමා මෙන් නබිමූසා තුමා ද කරුණු කියා තිබිය යුතුය.

ව්ර්රි : මූසා නබිතුමාගේ ග්‍රන්ථ වල මරණින් මතු ජීවිතය ගැන කරුණු නොමැති පමණින් එවැන්නක් ගැන නබි මූසා තුමාට අල්ලාහ් තොරතුරු කියා දී නැතැයි සිතිය නො හැකිය. එසේම නබි මූසා තුමා කිසිදා මේ පිළිබඳව තම ජනයාට දක්වා නැතැයි

කියාද අදහස් කළ නොහැකිය. මූසා නබි තුමාගේ ග්‍රන්ථ පසු කාලයේ සමහර වෙනස් කම් වලට හා තොරතුරු ඉවත් කිරීම් වලට භාජනය වී ඇත.

ශුද්ධ වූ කුර්ආනය නබිමූසා තුමා තම ජනයාට මරණින් මතු ජීවිතය පිළිබඳව මෙසේ පැවසූ බව ප්‍රකාශ කරයි.

එවිට ඔවුන්ගෙන් වූ විශ්වාස තබා සිටි අයෙකු (ඔවුන්ට) මාගේ ජනතාවනි මාව අනුගමනය කරනු මා ඔබට ඍජු මාර්ගය පෙන්වන්නෙමි. (ස්ථිරත්වයෙන් තොර) සැප පහසුවකි. නියත වශයෙන්ම පරලොව ජීවිතය ස්ථිර වූ සැප පහසු ගෙන දෙන නිවසයි. මූසා අපි සඳහන් කළ වෙලාවට (තූර් නැමති කන්දට තමන් සමඟ යෑම සඳහා) පිරිමි හැත්තෑ දෙදෙනකු තෝරා ගත්තේය. 40:38-39

ඔවුන් භූමිකම්පාවට හසු වූ විට (සිහි මූර්ජා වී වැටුණු) ඔහු (තම දෙවියාට) මාගේ දෙවියණි අපව විනාශ කර දැමිය යුතු යැයි ඔබ අදහස් කළේ නම් මීට පෙර මාව ද මොවුන්ව ද විනාශ කර දමන්නට ඉඩ තිබුණා නොවේ ද? අප අතර වූ අඥානයන් කිහිප දෙනකු කළ වරදට අප සියල්ලන්ම ඔබ විනාශ කර දමන්නාහු ද? මෙය ඔබගේ පිරික්සුම මිස අන් යමක් නොවේ. මෙයින් ඔබ අදහස් කරන අය වැරදි මාර්ගයක යාමට සලස්වන්නේ ය. ඔබ අදහස් කළ අය ඍජු මාර්ගයක යවන්නේ ය. ඔබයි අපගේ ආරක්ෂකයා එහෙයින් ඔබ අපට සමාව දී අපට ඔබ දයාව පහළ කරනු මැනවි. සමාව ලබා දෙන්නන් සියල්ලන්ගෙන්ම ඔබ ඉතා ශ්‍රේෂ්ඨයා යැයි (ප්‍රාර්ථනා කර) කීවේය. තවද (දෙවියන්) මෙලොවදී ඔබ අපට යහපතක්ම මනඃකල්පිතව කරනු මැනව. (එමෙන්ම) පරලොවදී ද (එසේ කරනු මැන) නියත වශයෙන්ම අපි ඔබ දෙසට මුහුණ ලා සිටින්නෙමු යැයි (ප්‍රාර්ථනා) කළෝය. 7:155-156

නබි ඉබ්රාහිම්තුමා පවා මරණින් මතු ජීවිතය පිළිබඳව කථා කළ බව ශුද්ධ වූ අල් කුර්ආනය පැහැදිලිව දක්වයි.

**තවද ඉබ්රාහිම් (අල්ලාහ්ට) මාගේ හිමියණි මිය ගිය අයට ඔබ කෙසේ පණ දෙන්නේ ද? (එය) ඔබ මට පෙන්වනු**

**මැනව යැයි පැවසූ අවස්ථාවේ ඔබ මෙය විශ්වාස කළේ නැද්දැයි විමසුවේය. (එයට) ඇත්තය. මා විශ්වාස කරගෙනම සිටින්නෙමි. එහෙත් එය මාගේ දෑසින් දැක තෘප්තියට පත්වීම පිණිස (එයපෙන්වනු මැනවි) යැයි ඔහු පැවසුවේය.** 2:260

විල්සන් : සෑම මිනිසෙක්ම අල්ලාහ් පමණක් දන්නා මතු දිනකදී නැවත පණ ගන්වන බව ඉස්ලාම් අපට උගන්වන බව ඔබ පැවසූවේය. එම දිනය යුක්තිය පසිඳලීමේ දිනය වේ. මරණයේ සිට මතු දිනය දක්වා ඇති කාලය තුළ අපගේ ජීවිතයට කුමක් වේද ? මිනිසා මළ දා සිටම නැවත ඉපදෙන දවස දක්වා කිසියම් ආකාරයකින් පවතිනවාද නැත්නම් එසේ නොමැතිව ඔහුගේ ජීවිතය මරණයත් සමඟ අවසන් වෙනවාද ? මේ පිළිබඳ කුර්ආනිය පහදා දීමක් වේද?

විර්රි : ඉස්ලාමය අනුව මිනිස් ආත්මය මරණයත් සමඟ අවසන් වන්නේ නැත. මළ දා පටන් නැවත පණ ගන්වන දවස තෙක් ආත්මය කිසියම් ආකාරයකින් පවතියි. එසේ නොපවතී නම් ජීවිතය නැවත පණ ගැන්විය නොහැක.

මරණයත් සමඟ මිනිසාගේ ජීවිතය මුළුමනින්ම අවසන් වූවා නම් මිනිසා නැවත පණ ගැන්වීම ගැන අපට වටහා ගත නොහැක. මිනිසාට අවසන් වීම් දෙකක් ඇත. එකක් මැරෙන දිනය වන අතර අනෙක යුක්තිය පසඳලන දිනය වන්නේය.

මරණයෙන් පසු එම පුද්ගලයන් යම්කිසි ආකාරයකින් නොපවතී නම් එම පුද්ගලයා නැවත පණ ගැන්වීම වටහා ගත නොහැකිය. එසේ මිනිස් ජීවිතය කිසියම් ආකාරයකින් නොපවතී නම් මිනිසා නැවත පණ ගැන්වීමේ අරමුණ ඉටු නොවන්නේය.

මතු ජීවිතයේ අරමුණ වනුයේ යහපත් දේවල් කළ අයට ප්‍රශංසා කිරීමත් වැරදි දේවල් කළ අයට දඬුවම් පමුණු වීමත්ය. මරණයත් සමඟ මිනිසා අවසන් වූවා නම් ඔහුට කිසිදු ප්‍රශංසාවක් හෝ දඬුවමක් ලැබීමේ අවස්ථාව නැති වනු ඇත.

එහෙයින් දී ඇති අල්කුර්ආනීය පරිච්ඡේද වලින් නැවත නැගිටුවන දිනය තෙක් මිනිසා කිසියම් ආකාරයක ආධ්‍යාත්මික ජීවිතයක් ගත කරන බව වටහා ගත යුතුය.

තවද අල්ලාහ්ගේ මාර්ගයෙන් (යුද්ධ කර සතුරන් විසින්) ඝාතනය කරනු ලැබූවන්ව මරණයට පත් වූවන් යැයි නොකියනු. එසේම ඔවුන් පණපිටින් සිටින්නාහ. නමුත් මෙය ඔබ වටහා නොගත්තාහුය. 2:154

**අල්ලාහ්ගේ මාර්ගයේ යුද්ධ කර කපනු ලැබූවන් මරණයට පත් වූවන් යැයි කිසි විටෙකත් නොසිතනු ඔවුන් නියත වශයෙන් පණ පිටින් සිටින්නාහ. ඔවුන් දෙවියන්ගේ සන්නිධානයෙන් අහාර ද ලබා දෙමින් ඇත්තේ ය. අල්ලාහ් තම දයාවෙන් ඔවුන්ට පහළ කළ දෑ මඟින් සතුටට පත් වූවන් බවට සිටින්නහ. තවද යුද්ධයේ මරණයට පත් වී තමන් සමඟ එකතු නොවී තමන්ගෙන් පසුව මෙලොව පණ පිටින් සිටින්නන් ගැන ද ඔවුන්ට කිසිම බියක් ඇති වන්නේ නැත. ඔවුන් දුක් වන්නේ ද නැත. අල්ලාහ්ගේ දයාවෙන් තමන් අත් කර ගත් සත්‍ය ගැනද ශ්‍රේෂ්ඨත්වය ගැනද නියත වශයෙන්ම අල්ලාහ් එලවිපාක සුළුවෙන් හෝ අපතේ නොහරින්නේය යන්න ගැනද සතුටට පත්ව සිටින්නාහ.**
3:168-170

විල්සන් : මරණින් මතු ජීවිතය පිළිගන්නා අය වැදගත් කරුණක් සම්බන්ධයෙන් වෙනස් වෙති. සමහරුන්ගේ මතය වනුයේ මතුජීවිතය ආත්මීය වන බවය. එහෙත් අනිත් අයගේ විශ්වාසය වනුයේ ප්‍රශ්න කරන දිනයේ දී මිනිස් ජීවිතය භෞතික මෙන්ම ආධ්‍යාත්මික වන බවය. මේ පිළිබඳ ඉස්ලාමීය මතය කුමක්ද?

චිර්රි : මේ පිළිබඳ ඉස්ලාමීය මතය ඉතා පැහැදිලිය. එම දිනයේ දී මිනිසා ආධ්‍යාත්මික මෙන්ම භෞතික ද වන්නේ ය. මිනිසා නැවත නැඟිට වීමට නම් ආත්මය මෙන්ම සිරුර ද අවශ්‍ය වන්නේ ය. එසේ නොවූවා නම් ඔහු මැලක්වරයෙකුගේ තත්වයට පත් වන්නේ ය.

භෞතිකව හා ආධ්‍යාත්මිකව නැවත පණ ගැන්වීමක් සිදුවීම බලාපොරොත්තු වීමට තවත් එක් හේතුවක් විය හැකිය. මරණයෙන් පසු මිනිසාට පවතින්නේ ආධ්‍යාත්මික ජීවිතය පමණි. ආත්මය නොමැරෙණ නිසා එය පණ ගැන්වීමක් නැත. මේ

පිළිබඳව අල්කුර්ආනයේ මෙම පහදා දීම සලකන්න.

**(අනික් වතාවේ දී) කවදා සූර් (නැමති හොරණෑව) පිඹිනු ලබන්නේ ද එවෙලේම ඔවුන් සොහොන් වලින් ඉවත් වී තමාගේ දෙවියන් වෙත ඉතාමත් ඉක්මනින් දිව එන්නාහ. (තවද) අපගේ ශෝකයයි ! අපව අපගේ (සොහොන් වන) නිදන ස්ථානයන්ගෙන් නැගිට්ටෙව්වේ කවුදැයි විමසනු ඇත. (එයට මලායිකාවරුන්) රහ්මාන් (ඔබට) දුන් පොරොන්දුවද නබි වරුන් (ඔබට) සත්‍ය යැයි ගෙන හැර දැක්වූයේ ද මෙයයි. (යැයි පවසන්න) එය එකම එක ශබ්ධයක් මිස (වෙන කිසිවක්) නො තිබෙනු ඇත. ඒ අතර ඔවුන් සියල්ලන්ම අප වෙත ඒකරාශී කර ගෙන එනු ලබන්නාහ.** 36:51-53

**විල්සන් : භෞතිකව නැවත පණ ගැන්වීම යන සංකල්පයේ ද එයටම අදාළ වූ ගැටලු සහිතය. උදාහරණයක් ලෙස සතෙක් මිනිස් සිරුරක් කෑවේ නම් කන ලද සිරුර කෑ සත්වයාගේ සිරුර හා එක් වන්නේ ය. එම සිරුර නැවත පණ ගැන්වූ විට දැන් එම සිරුර අයිති කාටදැයි තීරණය කිරීම අසීරු දෙයකි. දැන් මෙවැනි අවස්ථාවකදී නැවත පණ ගැන්වනු ලබන්නේ මිනිස් සිරුර ද නැතහොත් අදාළ සත්වයාද?**

**විර්රි :** කිසිදු කෑමක් මුළුමනින්ම දේහයට එක්වන්නේ නැත. එසේම නැවත පණ ගැන්වීමට සිරුරේ සියලු කොටස් ද අවශ්‍ය නොවේ. සිරුරේ ඉතිරිව ඇති කිසියම් කොටසක් වේ නම් එය යොදාගෙන නැවත සිරුර පණ ගැන්වීම සිදු කළ හැකිය.

එසේම සියලු හැකියා ඇති හා සියල්ල දත් අල්ලාහ්ට එම සිරුර හා එක් වූ කොටස් වෙන් කිරීමට ද හැකියාවක් ඇති අතර ඔහු එයින් අදාළ මිනිසා ගොඩ නගනු ඇත.

**විල්සන් : සමහර ආගම් වල ඉගැන්වීම් අනුව මිනිස් ආත්මය සරල හා බෙදිය නොහැකි එකකි. මේ පිළිබඳව ඉස්ලාමීය ඉගැන්වීම කුමක්ද ?**

**විර්රි :** එම කරුණ සම්බන්ධයෙන් අල්කුර්ආනය නිශ්ශබ්දය. මෙම කරුණ මිනිසාගේ දැනුමෙන් පරිබාහිර බව දක්වන ඉස්ලාමය එම ප්‍රශ්නය ආගමික වශයෙන් නොවැදගත් ලෙස සලකයි. ඒ ගැන එය මෙසේ කරුණු දක්වයි.

(නබිතුමණි) රූහ් ගැන ඔවුන් ඔබගෙන් විමසන්නාහ. එයට ඔබ එය අපගේ දෙවියන්ගේ නියෝගයෙන් ඇති වන්නකි. ඒ ගැන ඉතාමත් අල්ප ඥානයක් මිස ඔබට දෙනු ලැබුවේ නැත. එහෙයින් එහි ගැඹුරු අදහස ඔබට දැන ගත නොහැකියැයි පවසනු මැනවි ! 17 : 85

විල්සන් : සමහර ආගම් මළ මිනිස් ආත්මය අළුතින් ඉපදෙන දරුවෙකු තුළ හෝ කිසියම් ජීවියෙකුගේ සිරුර තුළ තැන්පත් වන බව උගන්වයි. පුනරුත්පත්තිය හෝ පුනර්ජන්මය පිළිබඳව ඉස්ලාමීය අදහස කුමක් ද ?

චිර්රි : ඉස්ලාමය මෙම සංකල්පය ප්‍රතික්ෂේප කරයි. මරණයේ දී සිරුරෙන් පිටවන ආත්මයට තව දුරටත් මෙලොව ජීවත් වීමට ඉඩදෙනු නොලැබේ. මෙම කුර්ආනීය වාක්‍යය එය විස්තර කරයි.

(ප්‍රතික්ෂේප කරමින් සිටින) ඔවුන්ගෙන් කවුරුනට හෝ මරණය ළඟා වුවහොත් ඔහු තම දෙවියන්ට මාගේ දෙවියණි මාව ලොවට ආපහු හරවා යවනු මැනව! මා අත්හැරදමා පැමිණි ලොවෙහි මින් පසු හොඳ කාරණාවන්ම මම කරමින් සිටින්නෙමි. යැයි පවසනු ඇත. එහෙත් එය සිදු විය හැක්කක් නොවේ. එය මෙවැනි අවස්ථාවක ඔහු කියන පුහු වචනයක් පමණි. 23 : 99-100

මේ අනුව මනුෂ්‍ය ආත්මයකට දෙවරක් මෙලොව ජීවත් වීමට අවසර නොලැබේ. එහෙයින් එයට තවත් සිරුරක් එනම් මනුෂ්‍ය සිරුරක් හෝ වෙනයම් සත්ත්ව සිරුරක් තුළ ජීවත් වීමට අවස්ථාවක් නොලැබේ.

අප නිරීක්ෂණය කරන සාධක මෙයට සාක්ෂි සපයයි. එසේ නැවත සිරුර තුළට ඇතුළු වන්නේ දැනට පවතින ආත්මයක් නම් ජනගහනය කිසිදා වැඩි නොවනු ඇත. පසු ගිය ශත වර්ෂයේ ලෝක ජනගහනය බිලියනයක් පමණ වූ අතර දැනට එය බිලියන 5ට ආසන්නය. අලුත් ආත්මයක් ඇති නොවේ යැයි සැලකුවේ නම් මෙම බිලියන 4 වර්ධනය ගැන වටහා දෙන්නේ කෙසේ ද ?

තවද මුලදී මිනිසා බිහි වූයේ ආදම් හා හව්වා යන දෙදෙනකුගෙන් නිසා පුනරුත්පත්තිය සත්‍ය වීමට නම් ජනගහනය දෙදෙනකුට වඩා වැඩි නොවිය යුතුයි.

# විමසුම - 20

## ඉස්ලාමීය අණ පනත් හෙවත් ඉස්ලාමය තහනම් කළ ඒවා

විල්සන් : ක්‍රිස්තියානි ධර්මය හා යුදෙව් ධර්මය දස පනතක් ප්‍රචාරය කරයි. මෙය මූසා නබි තුමාට පහළ කරන ලැබූ අතර පරණ තෙස්තමේන්තුවේ සඳහන් වේ. ඉස්ලාමය මෙවැනි පනත් පනවා තිබේ ද ? නැතහොත් ඒවා ද ඉහත සඳහන් දස පනත් ම ද ?

විර්රි : අල්කුර්ආනය පනවා ඇති පනත් වල කොටස් වශයෙන් දසපනත් දැක්විය හැකිය.

ඉස්ලාම් එහි අනුගාමිකයන්ට යම් යම් දේවල් වලින් වැළකී සිටින ලෙස දක්වයි. මුස්ලිම්වරුන්ගේ විශ්වාසයන්ට පටහැනි ඒවා වීම එයට හේතුවයි. තවත් සමහරක් අවිචාරමත් හෝ බුද්ධිගෝචර නොවන ඒවා හෝ සෞඛ්‍යයට හානිකර හෝ ඒවාය. නැතහොත් වගකීම් වලින් බැහැර වීමට අප පොළඹවනසුළු ඒවාය. මෙම තහනම් කිරීම් ඉස්ලාමීය අණ පනත් ලෙස සැලකිය හැකිය. ඒවා නොසලකා කටයුතු කිරීම පාපි ක්‍රියාවක් වනු ඇත. ඒ අනුව මුස්ලිම්වරයෙකුට පහත සඳහන් කරුණු තහනම්ය.

1. අල්ලාහ්ට සමානයෙකු ඇතයි පිළිගැනීම සහ අල්ලාහ්ට සහායකයෙකු ඇතැයි සැලකීම.

**අල්ලාහ් සමඟ වෙනත් දෙවියකු සමාන නොකරනු. එසේ කළහොත් ඔබ නින්දා කරනු ලබූවන් බවට ද උදව් උපකාරයක් නොමැත්තෙකු බවට ද හිඳින්නෙහිය.** 17 : 22

2. අල්ලාහ් ඔහුගේ දූතයන්ට පහළ කළ කරුණු ප්‍රතික්ෂේප කිරීම.

3. ඊසා මූසා ඉබ්රාහීම් නූහ් වැනි අල්කුර්ආනය විසින් පිළිගෙන ඇති නබිවරයෙක් ප්‍රතික්ෂේප කිරීම. පහළ කිරීම් ප්‍රතික්ෂේප කිරීම මෙන්ම කුර්ආනය පිළිගත් නබිවරයෙක් ප්‍රතික්ෂේප කිරීම ද ඉස්ලාමය ප්‍රතික්ෂේප කිරීමකි.

4. අල්ලාහ්ට විරුද්ධ වීම ආරක්ෂිත යැයි සැලකීම.

**ඔවුන් අල්ලාහ්ගේ ග්‍රහණයෙන් බිය නැති වී ගියෙහු ද ? සම්පූර්ණයෙන්ම පරාජය ඇති විය හැකි ජනතාව හැර අන් කිසි වෙකුත් අල්ලාහ්ගේ ග්‍රහණයට බිය නොවී නොසිටින්නාහ.** 7 : 99

5. අල්ලාහ්ගේ දයාව ගැන බලාපොරොත්තු නැති කර ගැනීම.

**අල්ලාහ්ගේ දයාව ගැන ඔබ විශ්වාසය බිඳ නොදමනු. නියත වශයෙන්ම අල්ලාහ් මත විශ්වාසය නැති ප්‍රතික්ෂේප කරන්නන් මිස වෙන කිසිවෙකුත් අල්ලාහ්ගේ දයාවෙහි විශ්වාසය බිඳ දමන්නේ නැත.** 12 : 87

6. අල්ලාහ්ගේ නාමයෙන් ව්‍යාජ ලෙස දිවිරීම.

**නබිතුමනි අල්ලාහ් කුමන ජනතාවක් කෙරෙහි කෝපයට පත් වූවේ ද ? ඔවුන් සමඟ කතා බස් කිරීම ඔබ බැලුවෙහි ද ? මොවුන් ඔබගෙන් ද වූ අය නොවන්නාහ. මොවුන් දැන සිටිය දී උවමනාවෙන්ම බොරු දිවුරුම් කරන්නාහ. ඔවුන් වෙනුවෙන් අල්ලාහ් දරුණු දඬුවම් සැලසුම් කර ඇත්තේය. නියත වශයෙන්ම ඔවුන් කරන කාරණාවන් ඉතාමත් නපුරුය.**
58 : 14-15

7. පොරොන්දුවක් හිතා මතා කඩ කිරීම.

**ඔබ අල්ලාහ්ගේ නාමයෙන් කරන ගිවිසුම සම්පූර්ණයෙන් ඉටු කරන්න. අල්ලාහ් සාක්ෂි වශයෙන් තබා දිවුරා එය ස්ථිර කළ පසු එම දිවුරුම ඔබ කඩ නොකරනු. නියත වශයෙන් අල්ලාහ් ඔබගේ ක්‍රියාවන් හොඳින් දන්නේය.** 16 : 19

8. සැලසුම් කළ මිනිස් ඝාතනය.

කිසිවෙකුට මරා දැමිය යුතු නැතැයි අල්ලාහ් තහනම් කර තිබියදී ඔබ කිසිම මිනිසෙකුව අසාධාරණයේ ඝාතනය නොකරනු. ඔබ ඔබගේ හිමියා මුණ ගැහෙන තෙක් ඔබගේ ජිවිතය හා දේපළ ඔබ අතර පාරිශුද්ධ වූ හා උල්ලංඝනය කළ නොහැකි ආකාරයේ ඒවා වේ.... යැයි නබි(සල්) තුමා පැවසූහ. 17 : 33

9. අයෙක් තම ජාතියට සාධාරණ හේතුවක් නොමැතිව ද්‍රෝහි වීම.

10. තම ජාතිය ආක්‍රමණයට පත්ව ඇති අවස්ථාවේ දී එය ආරක්ෂා කිරීම සඳහා යුධමය වශයෙන් සහාය නොදක්වා සිටීම.

(පසු පසට) ගිය සතුරාව කපා දැමීමට හෝ නැතහොත් (තම) සමූහය සමඟ එක්කාසු වීමට හෝ මිස කවුරුත් හෝ ඒ අවස්ථාවේ දී පිටුපස හැරී (දිව) ගියහොත් නියත වශයෙන්ම ඔහු අල්ලාහ්ගේ කෝපයට ඇතුලුවනු ඇත. ඔහු රැඳෙන ස්ථානය නිරයයි. එය ඉතාමත් නපුරු වාසස්ථානයකි. 8 : 16

11. හොරකම් කිරීම.

12. විකිණීමේදී හෝ මිලදී ගැනීමේදී අඩුවෙන් කිරීම හෝ මැනීම.

මිණුමෙහි වංචා කරන්නන්ට විනාශයයි. ඔවුන් මිනිසුන් වෙතින් මැන ලබා ගන්නේ නම් පිරෙන්නට මැන ගන්නාහ. ඔවුන් අන් අයට මැන ලබා දෙන්නේ නම් අඩුකර (ඔවුන්ට පාඩුකර) දමන්නාහ. 83 : 1

13. අනාථයෙකුගේ මුදල් ඔහුට යහපතක් නොවන කටයුතු සඳහා වියදම් කිරීම.

**(විශ්වාසවන්තයෙනි) අනාථ දරුවන්ට තරුණ වියට පත්වනතුරු (ඔවුන්ගේ දේපළ ආරක්ෂා කරන්නන් වශයෙන් සිටින) ඔබ සාධාරණ අන්දමට මිස ඔවුනගේ දේපළ වලට ළං නොවනු. ඔබගේ (පොරොන්දුව) ඔබ පරිපූර්ණ වශයෙන් ඉටු කරනු. මන් ද යත් පරලොවේ දී පොරොන්දුව ගැන (ඔබ වෙතින් නියත වශයෙන්ම) ප්‍රශ්න කරනු ඇත.** 17 : 34

14. අයෙකුගේ දෙමාපියන්ට අවමන් කිරීම.

**(නබිතුමනි) ඔබගේ හිමියා තමන්ව මිස (වෙන කිසිවෙකුත්) නැමදිය නොයුතු යැයි ද (අණ කර ඇති අතර) මාපියන්ට කෘතඥ වන්නැයි ඔබට අණ කර ඇත. ඔවුන්ගෙන් කෙනෙකු හෝ දෙදෙනාම හෝ මහළු වියට පැමිණියා වූව ද ඔබ වෙතින් එළවා නො දමනු. ඔවුන්ට නින්දිත අන්දමින් " චී" යැයි නොපැවසිය යුතුය. ඔවුන් වෙත (කුමක් පැවසුවාවූ ද උරහිස් පහත් කොට) ඉතාමත් ගෞරවාන්විතව (ඉතාමත් ආදරයෙන්) කතා කරනු. ඔවුන්ට ඉතාමත් ආදරයෙන් යුතුව යටහත් පහත්ව කටයුතු කරනු මැනවි.** 17 : 23 -24

තව ද "මගේ දෙවියනේ මා ළදරුවකුද සිටිය දී මා ඇති දැඩි කර පෝෂණය කළ ආකාරයටම ඔබත් ඒ දෙදෙනා මත ආදර කරුණාව දක්වනු මැනවි. යැයි ඔබ ප්‍රාර්ථනා කරනු මැනවි.

15. දුරාචාරයේ යෙදීම.

**විශ්වාසවන්තයෙණි ! ඔබ අපචාරයට ළං නොවනු. මන්ද යත් නියත වශයෙන්ම එය අවමන් ගෙන දෙන්නක් වශයෙන් ද නපුරු මාර්ගයක් වශයෙන් ද ඇත්තේය.** 17 : 32

16. විශේෂයෙන් කාන්තාවන්ට විරුද්ධ අවමන් සහගත කතා කීම.

**කවුරුන් මින් පසුව විශ්වාසවන්තයන් අතරේ මෙවැනි අවමන් ගෙන දෙන කාරණාවන් විසුරුවා හැරීමට අදහස් කරන්නේ ද ඔවුන්ට මෙලොවෙහි ද පරලොවෙහි ද වේදනාව ගෙන දෙන දඬුවම් ඇත. එයින් වන හානිය අල්ලාහ් හොඳින් දනී.**
24 : 19

**කවුරුත් විශ්වාසවන්ත පතිවත රකින අහිංසක කාන්තාවන් කෙරෙහි අපවාද චෝදනාව කරන්නාහු ද ? ඔවුන් නියත වශයෙන්ම මෙලොවහි දී ද පරලොව හිද ද (දෙවියන්ගේ) ශාපයට ලක් වන්නාහ. තව ද (පරලොවහිදී) ඔවුන්ට ඉමහත් වූ දඬුවම් ඇත.**

**නබිතුමණී එක් දිනක් ගැන මතක් කර දෙන්න. එදිනදී ඔවුන්ගේ දිව ද අත් ද ඔවුන්ගේ කකුල් ද ඔවුන්ට විරුද්ධ ව ඔවුන් කළ දෙය ගැන සාක්ෂි දරණු ඇත. එදිනදී (ඔවුන්ගේ ක්‍රියාවන්ට) සාධාරණව ලැබිය යුතු ඵල විපාක අල්ලාහ් ඔවුන්ට පූර්ණ වශයෙන් දෙනු ඇත. නියත වශයෙන්ම අල්ලාහ් සත්‍යය එළිවේ. කළ හැකි අයෙකි යන්න ඔවුන් දැන ගනු ඇත. 24 : 23 - 25**

17. ඔබගේ හෝ ඔබගේ ජාතියේ ආරක්ෂාව සඳහා නොවන හේතුවක් සඳහා අන් අය ගැන ඔත්තු බැලීම.

18. ඕපාදූප කීම කේලම් කීම හෝ නැති තැන නුගුණ කීම.

ඔබගෙන් කෙනෙකු වෙන කිසිවෙකු ගැන ඕපාදූප කතා නොකරනු. 49 : 12

19. සූදු ක්‍රීඩාවේ යෙදීම.

20. මත්පැන් පානය කිරීම.

**විශ්වාසවන්තයෙණි නියත වශයෙන්ම මත්පැන ද සූදු කෙළිය ද ෂෛයිතාන්ගේ පිළිකුල් සහගත වැඩ වලින් ඇති ඒවා වන්නේය. එබැවින් ඔබ මේවායින් ඈත් වනු. (එමඟින්) ඔබ ජයග්‍රහණය කරනු ඇත. මත්පැන් මඟින් ද සූදු කෙළිය මඟින් ද ඔබ අතරේ වෛරය ද ක්‍රෝධය ද ඇති කිරීමට ද අල්ලාගේ මතකයෙන් ද සලාතයෙන් ද ඔබව වළක්වා හැරීමට ද නියත වශයෙන්ම ෂෛයිතාන් කැමති වන්නේය. එබැවින් ඒවායින් ඔබ ඈත් වන්නෙහු ද ? 5 : 93 - 94**

21. සූකර මස් හෝ සූකර නිෂ්පාදන කෑම.

22. රුධිරය කෑම හෝ බීම. (අවශ්‍ය අවස්ථාවක රෝගීනට රුධිරය දීම මෙයට අදාළ නොවේ)

23. මළ සතෙකුගේ මස් කෑම. නැතහොත් අල්ලාහ් නොවන අන් යමකගේ නාමයෙන් කපන ලද මස් කෑම.

**විශ්වාසවන්තයෙණි අනුභවයට ඔබට වළක්වන ලද දෙය නම් ඉබේ මරණයට පත් වූ දෙය ද ලේ ද ඌරන්ගේ මස් ද කුර්බාන් කරන විට අල්ලාහ් නොවන වෙනත් නාමයන් කියන ලද දෙයක් ද වන්නේය. 2 : 173**

24. බොරු කීම හෝ අල්ලාහ්ගේ වාක්‍ය බොරු කිරීම.

බොරු යැයි මනඃකල්පිත කරන්නන් සියල්ල අල්ලාහ්ගේ ආයාවන් පිළිනොගන්නා අය ය. ඇත්තෙන් මොවුන් බොරු කාරයන්ය. 16 : 105

25. නඩුවකට සාක්කි කීමට කැඳවූ අවස්ථාවක මඟ ඇර යාම.

විශ්වාසහරිත වස්තුවට කවුරුන් හෝ වංචාවක් කිරීමට අදහස් කළහොත් ඔබගේ සාක්කිය ඔබ නො සැඟවිය යුතුය. කවුරුන් හෝ එය සඟවා ගතහොත් ඔහුගේ හෘදය නියත වශයෙන්ම පාපය තුළට ඇතුළුකර හරින්නේය. ඔබ කරන සියල්ල අල්ලා හොඳින් දන්නේය. 2 : 283

26. යහපත් කටයුත්තකට හිතා මතාම බාධා කිරීම.

27. කෙනෙකුට ඔහු ගැන තව කෙනෙකු කියූ නොමනා දේ කියා ඔහු තුළ භේදයක් ඇති කිරීම.

**නබිතුමණි සෑම දේකටම දිවුරන කිසිම නීචයකුට හෝ ඔබ අවනත නොවනු. ඔහු සදාකල් වැරදි කියමින් කේලම් කීමම රැකියාවක් බවට පත්කරගෙන සැරිසරන්නා කවදත් දැහැමි කාරණාවන් ඉක්මවා ගිය පාපතරයෙකි. 68 : 10 - 13**

28. මළ අයෙකුගේ අවසන් කැමති පත්‍රයේ ඇති කොන්දේසි උල්ලංඝනය කිරීම.

**කවුරුන් හෝ එය වෙනස් කර හැරිය හොත් එහි පාපය නම් එය වෙනස් කළ අය මතම සේන්දු වන්නේය. නියත වශයෙන්ම අල්ලාහ් මරණයට පත්වන්නා පවසන අන්තිම කැමැත්ත හොඳින් දන්නෙකු වශයෙන්ද සිටින්නේය. 2:181**

29. මිනිසුන්ට හිංසා පීඩා කිරීම.

30. හිංසා පීඩා කරන්නාට සහාය දීම.

31. උඩඟු වීම හා අන් අය හෙළා දැකීම.

**උඩඟු වී ඔබගේ මුහුණ මිනිසුන්ගෙන් ඈතට නොහරවනු. පොළවෙහි ආඩම්බර බස් දොඩමින් ද කටයුතු නො කරනු. උඩඟු වී ආඩම්බර බස් දොඩන සියල්ලන්වම නියත වශයෙන්ම අල්ලා ප්‍රිය කරන්නේ නැත.** 31 : 18

32. ඊර්ෂ්‍යයා කිරීම. මිනිසුන්ට අයහපතක් විය යුතු යැයි සිතීම.

**නබිතුමණි ඔබ ප්‍රාර්ථනා කර මෙසේ කියනු මැනවි. අළුයමේ දෙවියන් වෙතින් මා ආරක්ෂා කරන්නෙමි. ඔහු උත්පාදනය කර ඇති දැයෙහි විපත්වලින් ද ඊර්ෂ්‍යා කාරයා ඊර්ෂ්‍යා කරනු ලබන විට සිදුවන විපත් වලින් ද ආරක්ෂා කරන මෙන් ඉල්ලා සිටිමි.** 113

33. සාධාරණ හේතුවක් නොමැතිව නෑදැයින් සතුරු කර ගැනීම.

ඔබ ඈත් වූ පසු ඔබ භූමියෙහි ගොස් නපුර කර ඔබගේ නෑකම් බිඳ දැමීමට බලන්නාහු ද ? මෙවන්නන්ට අල්ලාහ් ශාප කරයි. 47 : 22

34. අනිවාර්ය දිනපතා නැමදුම් පහෙන් යමක් අත හැරීම.

35. සාධාරණ හේතුවක් නොමැතිව රාමළාන් මාසයේ අනිවාර්ය සව්මය බිඳීම.

36. පුද්ගලයෙකු තම දේපළ වලින් දුගී දුප්පතුන් වෙනුවෙන් ගෙවිය යුතු සකාත් බද්ද නොගෙවා සිටීම.

37. ශාරීරික වශයෙන් හා ආර්ථික වශයෙන් ශක්තිමත් වූ සෑම පුද්ගලයෙක්ම තම ජීවිතයේ වරක් හෝ ඉටු කළ යුතු හජ් යුතුකම ඉටු නොකිරීම.

38. අන් අයට යහපත පනවා අයහපත වැළක්විය යුතු අවස්ථාවක එසේ නොකර සිටීම.

අවසන් ක්‍රියාවන් පහ බරපතල පාප ක්‍රියා වේ. මේවා ප්‍රධාන යුතුකම් වන්නේය.

# විමසුම - 21

## මුස්ලිම්වරු අතර පවතින මතභේද

විල්සන් : ඉස්ලාමීය ඉගැන්වීම් එහි බොහෝ ලක්ෂණ අතින් ඉතා පැහැදිලි හා පාරදෘෂ්‍යය. එහි කිසිදු සිද්ධාන්තයක් විවිධ අදහස් ගෙන දෙමින් මුස්ලිම්වරු අතර මතභේද ඇති කරන ආකාරයේ ඒවා නොවේ. එහෙත් මුස්ලිම්වරු එක් කණ්ඩායමකට වඩා බෙදී සිටිති. ඉතා හොඳින් දන්නා කණ්ඩායම දෙක වශයෙන් ෂියා හා සුන්නි හැඳින්විය හැකිය. මෙම කණ්ඩායම් දෙක අතර ද තවත් බෙදීම් රැසකි. එහෙත් මුස්ලිම්වරු අතර පවතින බෙදීම් ක්‍රිස්තියානිවරු අතර පවතින බෙදීම් තරම් තියුණු නැති බව මම දනිමි. බොහෝ විට ෂියා හා සුන්නි නිකාය වලට අයත් මිනිසුන් එකම මස්ජිදයේ නැමදින බව ද මම දනිමි. එසේම එම කණ්ඩායම් අතර විවාහ කටයුතු ද නිදහසේ සිදු කෙරේ.

එහෙත් සත්‍ය නම් මෙවැනි බෙදීම් රැසක් තිබීමයි. මෙවැනි බෙදීම් සාධාරණීකරණය කළ හැකි ඒවා නොවේ. එහෙයින් මෙවැනි බෙදීම් ඇතිවීමට තුඩු දුන් හේතු දැන ගැනීමට මම ආසා කරමි.

චිර්රි : මෙම බෙදීම්වලට පදනම ආගම වශයෙන් පැවසිය නොහැක. සමහර ඉස්ලාමීය නීතිවල විස්තර අතර වෙනස්කම් කීපයක් ඇත.

සමහර අල්කුර්ආනීය වචන හෝ නබි (සල්) තුමාගේ ප්‍රකාශන අර්ථ දැක්වීමේ දී ඇති වූ මතභේද නිසා මෙම කණ්ඩායම් හා විවිධ මතධාරීන් ඇති වූහ. මෙම වෙනස ප්‍රධාන වශයෙන් දේශපාලනමය වූවකි. එය මුහම්මද්තුමාගේ අභාවයත් සමඟ ආරම්භ විය.

ඉස්ලාම් මිනිසාගේ ලෞකික මෙන්ම අධ්‍යාත්මික පැත්ත ගැන සලකයි. නබිතුමා මුස්ලිම් රාජ්‍යයක් බිහි කළ අතර එහි දේශපාලන සමාජ හා ආගමික කටයුතුවල නායකයා වූයේ එතුමාය. ආගම හා දේශපාලනය අතර එතුමා කිසිදු වෙනසක් නොදැක්වීය. එතුමා සමාජයේ යහපත හා සමාජිකයන් අතර සාධාරණත්වය පවත්වා ගැනීමට වෙහෙසුනේය. ඒ නිසා මුස්ලිම් රජයක් පවත්වා ගෙනයෑම ගැන ජනයා උනන්දුවක් නොවූහ. එතුමා ක්‍රි.ව 632 දී අභාවයට පත් වූ අවස්ථාවේ දී ඊළඟ පාලකයා පිළිබඳ ප්‍රශ්නය මතු විය.

අලි තුමා සහ එතුමාගේ පවුලේ අය එක් වී අවසන් කටයුතු වල යෙදුනු අතර තවත් පිරිසක් නව පාලකයා තේරීමේ කටයුතු සඳහා රැස්වූහ.

මදීනාවේ ජනයා මදීනාවේ උපත ලද ස්වදේශීන් ගෙන් ද මක්කාවේ සිට පර්යටනය වූ ජනයාගෙන් ද සමන්විත විය. (මුහාජිරීන්වරු) මදීනාවේ ස්වදේශිකයන් කස්රජ් හා ඖස් යන ගෝත්‍රිකයන්ගෙන් සමන්විත ය.

නව පාලකයා තේරීම සඳහා රැස්වූ බොහෝ දෙනා ස්වදේශිකයන් වූහ. ඔවුන්ගේ බලාපොරොත්තු වූයේ කස්රජ් ගෝත්‍රයේ නායකයා වූ සාද් බින් අබාදා පත් කිරීම ය.

මේ ගැන ආරංචි වූ අබුබක්කර්, උමර් හා අන් අය එතැනට රැස් වී එම තේරීම වැළක්වූහ. නබිතුමා මක්කා වාසියෙකු වූ නිසා එතුමාගෙන් පසුව පාලකයා විය යුත්තේ මක්කා වාසියෙකු බව අදහස් ඉදිරිපත් කළහ. මෙහි ප්‍රතිඵලය වශයෙන් අබුබක්කර්තුමා පළමු කලීෆා වශයෙන් තෝරා ගන්නා ලදී.

මේ සමඟ මදීනා වාසීන් හා මක්කා වාසීන් අතර කලීෆා තනතුර සඳහා තරඟය පැවතුණි. එහෙත් එම තරඟය මක්කා වාසීන් අතර දිගට පැවතුණි.

බොහෝ මක්කාවාසීන්ගේ අදහස වූයේ කලීෆා තනතුරට සුදුස්සා අලි තුමා බවය. මේ නිසා සැහෙන කාලයක් අලි තුමා පාලන කටයුතු වලින් ඈත් වී සිටියේය. එහෙත් ඒ අතර තුර ඉස්ලාමීය ජනරජයට ඇති වූ අභියෝගයන් දැක අලි තුමා අබුබක්කර් තුමාගේ පාලනයේ ප්‍රධාන ආධාරකරු බවට පත්විය.

අබුබක්කර් තුමාගෙන් පසුව උමර් තුමා ද එයින් පසු උස්මාන් තුමාද කලීෆා තනතුරට පත් වූහ. අවසානයේ අලි තුමා පත්විය. එතුමාගේ පාලන සමය අවුරුදු පහක් තරම් කෙටි කාලයක් වූ අතර අවසානයේ එතුමා ඝාතනය කරනු ලැබූවේය.

එතුමාගෙන් පසු කලිෆා තනතුරට පත් වූයේ එතුමාගේ ප්‍රතිවාදියා වූ මුආවියා ය. එතුමාගේ පාලනය දූෂණයෙන් පිරුණු එකක් විය. එතුමාගේ කාලයේ දී අලි තුමාගේ නෑදෑයින් විවිධ තාඩණ පීඩණ වලට භාජනය කරනු ලැබූහ. එතුමාගේ පාලන කාලයේදී මුස්ලිම් රජය රාජ්‍ය වංශික පාලනයක් බවට පත්විය. මුආවියාගේ පරම්පරාවේ අය (උමයියා පාලනය) වසර 70ක් ම ඉස්ලාමීය රජය පාලනය කළහ. මේ කාලය තුළ අලි තුමාගේ අනුගාමිකයන් ෂියා යැයි හඳුන්වනු ලැබුහ. ක්‍රි.ව 750 දී උමයියා පාලනය අවසන් වූ අතර අබ්බාසිවරු පාලනයට පත් වූහ.

ඔවුන් ශත වර්ෂ කිහිපයක් ම මුස්ලිම් රාජ්‍යය පාලනය කළහ. එම කාලයේදී ෂියා නොවූ මුස්ලිම්වරු සුන්නිවරු යැයි හඳුන්වනු ලැබූහ. මෙසේ මුස්ලිම්වරු ෂියා හා සුන්නිවරු යයි බෙදුනහ.

**විල්සන් : සුන්නිවරු හා ෂියාවරුන්ගේ පරම්පරාව පිළිබඳ අදහස කුමක්ද ?**

**චිර්රි :** සුන්නිවරුන්ගේ අදහස අනුව අබුක්කර්තුමා ද එයින් පසුව පැමිණි කලිෆාවරු තිදෙනා ද නීතියානුකූල කලීෆාවරු වෙති. නබිතුමා තමාගෙන් පසු කිසිවෙකු කලිෆාවරයා ලෙස පත් කළේ නැත. කලිෆාවරයා තෝරා ගැනීම ජනයාගේ අයිතිය බව නබිතුමා සැලකුවේය.මෙම කලිෆාවරු තේරීම විවිධ ක්‍රම වලින් සිදුවිය.

ෂියාවරුන්ගේ අදහස වූයේ නබිතුමාගෙන් පසුව කලිෆා තනතුරට පත්වීමට වඩාත් සුදුසු පුද්ගලයා පමණක් නොව

නබිතුමා විසින් නම් කරන ලද පුද්ගලයා ද අලි තුමා බවය. එසේම අලි තුමාට තමාගෙන් පසුව පත්විය යුතු අයව පත්කිරීමට බලය ඇති බව ද විශ්වාස කළහ.

මෙම දෙපිරිසගේම මතයන්ට සාධක ඇත.

**විල්සන් : දැන් එක් එක් පාර්ශ්වය ඉදිරිපත් කරන වඩාත් හොඳ තර්කය කියන්න. ප්‍රථමයෙන් සුන්නිවරුන්ගේ මතය කියන්න.**

**චිර්රි :** සුන්නිවරුන්ගේ තර්කය වනුයේ මක්කාවේ ජනයා නබිතුමාගේ නෑදැයින් වන බවත් නබිතුමාගෙන් පසුව ප්‍රධානියා විය යුත්තේ එතුමාගේ නෑයෙක් විය යුතුය යන්නත්ය.

**විල්සන් : එම තර්කයම සුන්නිවරුනට විරුද්ධව ෂියාවරු විසින් ද ඉදිරිපත් කෙරුණි. ලේ නෑකම කලීෆා තනතුර සඳහා පදනම වූවා නම් වඩාත් සුදුස්සා අලි වනු ඇත. මක් නිසාද යත් නබිතුමාට අබුබක්කර් ට වඩා අලි නෑකමින් කිට්ටුය. එතුමා නබිතුමාගේ බෑනා වූ අතර තුපත් සහෝදරයා ද වූයේය.**

**චිර්රි :** මේවාට අමතරව නබිතුමාගේ නෑදෑයෙකු වීම තනතුරකට සුදුසුකමක් ලෙස සැලකිය නොහැකිය. ඉස්ලාම් රළදවාදයට හා සියලුම ආකාරයේ සමාජ වරප්‍රසාදවලට ද විරුද්ධය. ඉස්ලාමය තුළ පන්ති භේදයක් ද නැත. ඒ අනුව ඕනෑම ජාතියක ඕනෑම පවුලක අයෙක් ඉස්ලාමීය දෘෂ්ටිය අනුව සමානය. ශුද්ධ වූ කුර්ආනයේ එය මෙසේ සඳහන් වේ.

**මිනිසුනේ නියත වශයෙන්ම අපි ඔබව එක් පිරිමියෙකු හා එක් ගැහැණියකු ගෙන් මැව්මු. පසුව ඔබ ජාතීන් හා ගෝත්‍ර බවට පත් කළෙමු. ඔබ එකිනෙකා හඳුනා ගැනීම සඳහා ය. ඇත්තෙන්ම ඔබ අතුරෙන් අල්ලාහ්ගේ සන්නිධානයේ වඩාත් උසස් වන්නේ ශුද්ධාවන්තයින්මය. 49:13**

නබිතුමා එය මෙසේ සඳහන් කර ඇත.

**"සත්‍ය වශයෙන්ම අල්ලාහ් ඉස්ලාමයට කලින් පැවති සියලුම ආකාරයේ දුර්ගුණයන් අයින් කර ඇත. ආරාබිවරයෙක් අරාබි නොවන අයෙකුට වඩා උසස් නොවේ. අල්ලාහ්ට ඔබ අතරින් උසස්ම පුද්ගලයා ශ්‍රද්ධාවන්තයාය."**

අන් අයට වඩා කුරෙෂිවරයෙකු හෝ හාෂිම්වරයෙකු ප්‍රමුඛතාවයේ ලා සැලකීම මුස්ලිම්වරු අභිමානයෙන් සඳහන් කරන සමානාත්මකතාවය යන සංකල්පයට පරස්පර වන්නේය. ඒ අනුව අල්ලාහ් පක්ෂග්‍රාහිව සමහර ගෝත්‍රිකයන් හෝ මිනිසුන් අන් අයට වඩා උසස් කොට සලකන බව අදහසක් ගෙන දෙන්නේය. කිසිදු පුද්ගලයෙක් අන් අයෙකුට වඩා උසස් කොට ඉස්ලාමය නො සලකන නිසා ඉහත තර්කයට ඉඩක් නැත. මේ අනුව නෑකමට ප්‍රමුඛතාවය යන්නට කිසිදු ඉඩක් නැත.

සුන්නිවරුන්ගේ දෙවන තර්කය පහත අයුරින් කිය හැකිය. සෑම පුද්ගලයාගේම ස්වාභාවික අයිතිය තහවුරු කර පිළිගන්නේය. දේශපාලන අයිතිය ද එවැන්නකි. රජයක් හෝ තමා පාලනය කිරීම සඳහා නියෝජිතයකු තෝරා ගැනීමේ අයිතිය ද මෙවැන්නකි. අබුබක්කර්තුමා තෝරා ගනු ලැබුවේ බහුතරයක් වූ එතුමාගේ සහචරයන් විසිනි. එහෙයින් එතුමාගේ රජය නීතියානුකූල ප්‍රජාතන්ත්‍රවාදී රජයකි.

විල්සන් : මෙම තර්කය මූලික අයිතිවාසිකම් වලට ගැලපෙන නිවැරදි තර්කයකි. දැන් අප ෂියාවරුන්ගේ තර්කයන් මොනවා දැයි බලමු. සුන්නිවරු මෙන්ම ෂියාවරු ද නීතියානුකූල රජයක් පිහිට විය හැක්කේ නීතියානුකූල තෝරා පත් කිරීමෙන් යැයි පිළිගනිති. අබුබක්කර් තුමා තමාගෙන් පසු උමර් තුමා පත් කළේය. එසේම උස්මාන් තුමා පත් කරනු ලැබුවේ හය දෙනෙකුගේ බහුතරයෙන්ය. මේදෙදෙනාම නීතියානුකූල කලීෆාවරුය.

## ෂියාවරුන් සඳහා වැදගත් තර්කයක් පහත සඳහන් කරමි.

1. මිනිසාගේ නිදහස පහත සඳහන් ආකාරයකින් සීමා කළ හැකිය.

අ) එය ඔහුගේ අනුදැනුම ඇතිව සීමා කළ හැකිය. එනම් ඔහු විසින් පත් කළ රජය විසින් තමාගේ නිදහස සීමා කරන ආකාරයේ නීති පැනවීමට බලය දී එමඟින් තමාගේ අයිතිවාසිකම් සමහරක් අතහැරිය හැකිය.

ආ) ඔහුට ස්වාභාවික අයිතිය හා නිදහස ලබා දී ඇති ඔහුගේ මැවුම්කරුවා විසින් සීමා කළ හැකිය.

තම සේවකයාට වර්තමානයේ හා අනාගතයේ වඩාත් සුදුස්සා කුමක් දැයි දන්නේ මැවුම්කරුවා පමණි. එහෙයින් ඔහු අප වෙනුවෙන් පත් කරන රජය සාධාරණ හා නීතියානුකූල වේ.

2 එවැනි දේවත්වයෙන් රජයක් පත් කිරීම නබිතුමාගේ කාලයේ දී හැකි විය. අල්කුර්ආනය පවසන පරිදි ජනයා වෙනුවෙන් රජයක් පත් කිරීමේ බලයක් මුහම්මද් නබිතුමාට ඇත. එම බලය අල්කුර්ආනය නබිතුමාට පවරා ඇත. මුස්ලිම්වරුන්ගේ භාරකාරයා එතුමාය. මුස්ලිම්වරුන්ට තමන්ගේ කටයුතු ගැන තීරණය කිරීමට ඇති අයිතිවාසිකමට වඩා වැඩි අයිතිවාසිකමක් නබිතුමාට ඇත. එහෙයින් මුස්ලිම්වරුන්ගේ පොදු කටයුතු පාලනය කිරීමේ අයිතියක් නබිතුමාට ඇත.

**"විශ්වාසවන්තයන්ට ඔවුන්ගේ පණටත් වඩා අපගේ දූතයා වන නබිතුමා ඉතා වැදගත්ය... 33.6**

මුස්ලිම් රාජ්‍යය පිළිබඳ සියලු කරුණු සම්බන්ධයෙන් නබි තුමාගේ තීරණයට සියලු මුස්ලිම්වරු බැඳෙති. එතුමාගේ තේරීම පිළිගැනීමටත් ඒවා අනුගමනය කිරීමටත් ඔවුන් බැඳී සිටිති.

**අල්ලාහ් ද ඔහුගේ දූතයා ද යම්කිසි කාරණාවක් ගැන නියෝග කිරීමෙන් අනතුරුව එම කාරණාවෙහි (එයට වෙනස් අන්දමින් වෙනත්) අභිප්‍රායයන් ඇරීමට විශ්වාසීන් වන කිසිම**

පිරිමියෙකුට හෝ ගැහැණියකට හෝ අයිතියක් නැත. (එහි) අල්ලාහ්ට ද ඔහුගේ දූතයාට ද කවුරුන් හෝ වෙනස්කමක් කළහොත් නියත වශයෙන්ම ඔවුන් ප්‍රකට දුර්මාර්ගයෙහිම සිටින්නාහ". 33:36

එහෙයින් නබිතුමා තමාගෙන් පසු රාජ්‍යය පාලනය සඳහා අයෙක් පත් කළේ නම් එයට එකඟ වීමට ඔවුන් බැඳී සිටිති.

3. ෂියාවරු පවසන අන්දමට ඉහත සඳහන් කරුණු නිසා නබිතුමා මුස්ලිම් සමාජයට නායකයෙකු පත් කර ගැනීමට ඉඩ නොතබා තමාගෙන් පසු අයෙකු පත් කිරීමක් කරන්නට තිබුණි.

ඉතාම ළාබාල අවධියේ පසු වූ මුස්ලිම් සමාජයට එවැනි වගකීමක් පැවරීම නිසා මුස්ලිම් සමාජය ප්‍රශ්න රැසකටම මුහුණ දුනි.

මුස්ලිම් ආණ්ඩුව ජනතාවගේ විශ්වාසයන් හා ජීවන ක්‍රම වෙනස් කිරීම පදනම් කර ගත් ප්‍රතිසංස්කරණ වාදී ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීමේ අවස්ථාවක පැවතුණි.

එහෙත් ජනතාවගේ බහුතරය විසින් එය පිළිගනු ලැබුවේ මඳ වශයෙනි. මෙම රජය සතුව සැලසුම් හා වැඩ සටහන් රැසක් තිබුණ ද ඒවා බහුතරයගේ එකඟතාවයට පත් නුවූ නිසා ඒවා නීති ගත නොවීය. සැබවින් එම නීති ගැන තීරණය කිරීමේ ඉහළම අධිකාරිය වූයේ ජනතාවයි. එවැනි අවධියක රජයකට බලයේ පැවතිය හැක්කේ බහුතර ජනතාවගේ සහයෝගය ලැබුණහොත් පමණි.

## ප්‍රතිසංස්කරණ මූලධර්ම

ජනතාවගේ තත්වය හා විශ්වාසයන් වෙනස් කිරීමේ ප්‍රතිසංස්කරණ ප්‍රතිපත්තිය සහිත රජයක් තිබිය හැක. මෙවැනි දේවල් සාමාන්‍යයෙන් ජනතාව අකමැති ඒවාය. එම ප්‍රතිපත්ති පුද්ගලයෙක් හෝ සුළුතරයක් විසින් හඳුන්වා දෙන ලද්දේ නම් ඒවා බහුතරය අකමැති ප්‍රතිපත්ති වන්නේය. මෙවැනි ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කළ හැක්කේ එවැනි ප්‍රතිපත්තිය දරණ රජයකටය. එම රජයේ වගකීම වනුයේ එම ප්‍රතිපත්තිය ක්‍රියාත්මක

කරවා එයට විය හැකි අනතුරුවලින් එය ආරක්ෂා කිරීමයි. මෙය තහවුරු කිරීමට මේ උදාහරණය සලකමු.

ධනවාදී සුළුතරයක් සමාජවාදී ක්‍රමයක් ස්ථාපිත කර පිළිගත් රටක් පාලනය ලබා ගන්නේ යැයි සිතමු. එවැනි අවස්ථාවකදී එම නව රජය එහි ප්‍රතිපත්ති සැමදා පවත්වා ගැනීමට වෑයම් කරනු ඇත. එවැනි රජයක් පාලනයෙන් ඉවත් වන විට කුමක් කළ යුතු ද ?

එවැනි අවස්ථාවක ජනතාවට නිදහසේ රජයක් තෝරා ගැනීමට අවස්ථාව ලබා දුනහොත් ඔවුන් තෝරා ගනුයේ පෙර තිබුණු රජයයි. (සමාජවාදී සුළුතරයක් ධනවාදී රටක පාලනය අත්පත් කර ගන්නා අවස්ථාවේ දී සිදුවන්නේ එයමය.)

එම නිසා එවැනි රජයක වගකීම වනුයේ තමන්ගේ ප්‍රතිපත්තිය ක්‍රියාත්මක කළ හැකි රජයකට පාලනය භාර දීමයි. එම ප්‍රතිපත්ති ජනතාව විසින් සාමාන්‍ය වශයෙන් පිළිගන්නා තෙක් මෙසේ දිගින් දිගටම පත් වීම සිදු විය යුතුය.

එසේ නොමැති නිදහස් මැතිවරණයක් ඉතා හොඳ ප්‍රතිඵලයක් හෝ ඉතා නරක ප්‍රතිඵලයක් ගෙන ආ හැකිය. එහෙයින් බුද්ධිමත් පාලකයා එවැනි අවදානමකට ඉඩ දෙන්නේ නැත.

## ඉස්ලාමය ප්‍රතිසංස්කරණ වාදී සිද්ධාන්තයකි.

4. ඉස්ලාමය හඳුන්වා දුන්නේ අරාබි සමාජයේ ප්‍රචලිත නොවූ සිද්ධාන්තයකි. මෙම සිද්ධාන්තයේ අරමුණ වූයේ ජනයාගේ විශ්වාස හා ජීවිත ක්‍රමය වෙනස් කිරීමයි. මිනිසුන් වන්දනාමාන කළ විවිධ පිළිම අත්හළ යුතු බවත් එකම මැවුම්කරුවා වූ අල්ලාහ් පමණක් නැමදිය යුතු බවත් එහි ඉගැන්වීම විය. මේ අනුව දිනකට කිහිප වතාවක් අල්ලාහ් නැමදීමත් දුරාචාරය මිනිමැරුම සූරාව සූදුව අත හැරීමත් කළ යුතු විය. විනය හා පිළිවෙල ස්ථාපිත කිරීමත් ආත්මාර්ථකාමීත්වයත් වෛරයත් අතහැර දැමීමත් කළ යුතු විය.

සෑම මිනිසෙකුගේම ධනයෙන් කොටසක් දුප්පතුන්ගේ යහපත සඳහා වියදම් කළ යුතු විය. මෙම කිසිදු ප්‍රතිසංස්කරණයන් ඉස්ලාම් ධර්මය හඳුන්වා දුන් අරාබි සමාජයට හිතකර නුවූයේය.

සමාජයේ බහුතරයක් මේවාට දැඩි ලෙස විරුද්ධ වූහ. අවසානයේදී ජීවිත පරිත්‍යාගයෙන් ඉස්ලාම් සමාජය මේ විරෝධතාවයන් ජය ගැනීමට සමත් විය.

වසර 23ක් තිස්සේ දැඩි කැපවීමකින් හා ජීවිත පරිත්‍යාගයෙන් ජයගත් මේ ධර්මය සුදුසු ආරක්ෂිකයෙකුට භාර නොදී නබිතුමා අභාවයට පත් වේයැයි සිතිය නොහැක. අරාබි අර්ධද්වීපයේ සාක්ෂරතාවය ඇති අය සිටියේ ඉතා සුළු සංඛ්‍යාවකි. එහෙයින් ඔවුන් ඉස්ලාමය වැළඳගත්තේ එය ප්‍රබල වූ පසුය.

නබිතුමාගේ අභාවය ආරංචි වූ වහාම මොවුන්ගෙන් බොහෝ දෙනෙක් ඉස්ලාමය අතහැර ගියහ. ඒ නිසා ඉස්ලාමයේ අනාගතය අඳුරු විය. සැබෑ මුස්ලිම්වරු අසීරු තත්ත්වයට පත් වූහ.

නබිතුමා තම අභාවයට පෙර මෙම තත්ත්වය බලාපොරොත්තු විය. එහෙයින් එතුමාගේ අභාවයට ප්‍රථම මෙසේ පැවසූහ.

"අඳුරු රාත්‍රියක් මෙන් විශ්වාසය පරීක්ෂා කරන අර්බුදයන් ළං වන්නේය ...."

මෙම තත්ත්වයන් යටතේ මෙම ලාබාල රාජ්‍යයට වඩාත් දක්ෂ පාලකයෙකුට භාර දීමට නබිතුමා ක්‍රියා නොකර තිබිය හැකිය යන්න සිතා ගත නොහැක්කකි.

**විල්සන් :** ඔබ සඳහන් කරන ඉහත සියලු කරුණු පිළිගත හැකි ඒවාය. මදීනාවෙන් පිටත වාසය කළ මුස්ලිම් වරු විශ්වාස කළ නොහැකි අය බවත් සැබෑය. එහෙත් එතුමා සමඟ සිටි එතුමගේ සහභාවරු ඉස්ලාමය ගැන හොඳ අවබෝධයක් ඇතිව සිටි අය වූහ. එවැන්නන් විශ්වාස කර ඉස්ලාමීය රජය භාර දීම නබි තුමා කළ යුතුව තිබුණි.

**චිර්රි :** නබිතුමාගේ බොහෝ සහභාවරුන්ගේ අවංකභාවය පිළිබඳ කිසිදු ප්‍රශ්නයක් නොමැත. දීර්ඝ කාලයක් තිස්සේ නබිතුමා සමඟ ජීවත් වූ ඔවුන් ඉස්ලාමයේ උන්නතිය වෙනුවෙන් අපමණ කැපවීම් කර තිබුණි. එහෙත් ෂියාවරුන්ගේ තර්කය වනුයේ මෙයින් බොහෝ දෙනා තම ගෝත්‍රවාදී අදහස් වලින් මිදී නොමැති බවය.

ඉස්ලාම් ලේ නෑකම යන පටු බැඳීමෙන් මීදි ඉස්ලාමීය සහෝදරත්වය හා සමානාත්මකතාවය යන බැඳීමෙන් මුස්ලිම්වරු බැඳ තැබීමට වෑයම් කළේය. එහෙත් තම වර්ගවාදී අතීතය අමතක කර ප්‍රතිසංස්කරණවාදී සිතුවිලි ඇති කර ගැනීමට තරම් සෑහෙන කාලයක් මෙම ජනතාවට නොවීය. මදීනා වාසීන් ඒකාරාශි වී නායකයෙකු ගැන කතා කිරීමේ පදනම මෙය විය. ඔවුන්ට අවශ්‍ය වූයේ මක්කාවාසියෙකුට එම තනතුර ලැබීම අහිමි කිරීමයි. මක්කාවාසීන්ගේ අරමුණ ද ඒ හා සමාන විය.

මේ අනුව දෙපාර්ශ්වයටම නබිතුමා ඉගැන් වූ ඉස්ලාමීය සහෝදරත්ව හා සමානාත්මතාවය අමතක කර තිබුණි. ඇත්තෙන්ම ඔවුන් ඉස්ලාමීය ඉගැන්වීම් පිළිබඳ සැබෑ අවබෝධයක් ලැබූ අය වූවා නම් ප්‍රදේශීය භේද වලින් තොර එම අර්බුදකාරී අවස්ථාවට වඩා සුදුසු නායකයා තෝරනු ඇත.

මෙම සහායකයින් සියල්ලන්ම ගෝත්‍රවාදයෙන් මිදුණු අය හෝ ඉතා හොඳ ඉස්ලාමීය දැනුමක් ඇති අය හෝ නුවූවා විය හැකිය. එසේම ඔවුන්ගෙන් බොහෝ දෙනා සැබෑ නායකයා තෝරා ගැනීමට තරම් බුද්ධිමත් යැයි සලකිම ද කළ නොහැකිය.

එසේම සමාජයේ සිටි එවැනි පුද්ගලයින් ව තෝරා ගැනීමට නොදැන සිටියා ද විය හැකිය. සැබවින්ම එවැනි වඩා සුදුසු පුද්ගලයා තේරීමට සුදුස්සා නබි තුමා පමණි.

එහෙත් අබුබක්කර් වැනි අයෙක් පත් කිරීමට වාසනාවන්ත වීම නිසා ඉස්ලාමීය රාජ්‍යය බිඳ වැටීමෙන් වැළකුණි.

**විල්සන් : මෙම තර්කයන් සාධාරණ වුව ද නබිතුමා විසින් පත් කරනු ලැබුවේ අලි තුමා ද අබුබක්කර් තුමා ද යන්න පැහැදිලි නැත.**

**චිර්රි :** ෂියාවරුන්ගේ මතය එම තනතුර සඳහා නබි තුමා අලි තුමා පත් කළ බවය. අලි තුමා ආරක්ෂක වශයෙන් ප්‍රකාශ කිරීමෙන් එය සිදු කළ බව ඔවුන් අදහස් කරයි. එතුමා සිය අවසන් හජ් වන්දනාවෙන් ආපසු එනවිට තම සහායකයින්ට වැදගත් ප්‍රකාශනයක් කිරීම සඳහා ඇරයුම් කළහ.

"ජනයනි මම අල්ලාහ්ගේ කැඳවුමට පිළිතුරු දිය යුතු කාලය

ලං වන්නේ ය. මම ද ඔබ ද ප්‍රශ්න කරනු ලබන්නෙමු. ඔබගේ පිළිතුර කුමක් වේද?" එවිට රැස්ව සිටි සහායකයින් මෙසේ පිළිතුරු දුන්හ. " ඔබතුමා අල්ලාහ්ගේ පණිවිඩය අපට ලබා දුන් අතර ඔබගේ වෑයම අවංක ආත්මාර්ථකාමී නොවූ එකක් වූ බව අපි සාක්ෂි දරමු" .

එවිට නබි තුමා " ඔබ අල්ලාහ් හැර වෙනත් නැමදුමකට සුදුසු දෙවියකු නැති බවත් මුහම්මද් තුමා ඔහුගේ සේවකයා හා දූතයා බවත් ස්වර්ගය නිරය හා මරණය සත්‍ය බවත් පසුව ප්‍රශ්න ඇසීමේ දිනය සත්‍ය බවත් සොහොන් වල ඇති සිරුරු නැවත පණ ගන්වන බවත් පවසා ඇත". එහි රැස්ව සිටි අය "ඔව් අපි එයට සාක්කි දරමු යැයි" කීහ.

"අල්ලාහ් දෙවියනි ඔබම මෙයට සාක්කි යැයි" එවිට නතුමා කීහ".

මින් පසු අලි තුමා එම තනතුරට පත් කිරීම ප්‍රකාශ කළේය. මෙවැනි පත් කිරීමට අධිකාරියක් අවශ්‍ය නිසා එතුමා මෙසේ කීහ.

"ජනයනි අල්ලාහ් මාගේ භාරකාරයාය. මම විශ්වාස වන්තයන්ගේ භාරකාරයා වෙමි. මම විශ්වාසවන්තයන් වෙත ඔවුන් වෙත ඇති අයිතිවාසිකම් වලට වඩා අයිතිවාසිකම් ඇත්තෙමි.

මාගේ කවරෙකුගේ භාරකරු වෙමි ද ඒ පුද්ගලයාගේ (අලි ගේ අත් අල්ලාගෙන) භාර කරු මෙම අලි වේ.

දෙවියනි ඔහුගේ මිතුරනට මිතුරු වන්න ඔහුගේ සතුරන් පරද්දන්න"

**විල්සන් : නබිතුමාගේ සැබෑ බලාපොරොත්තුව වූයේ අලි තුමා තමාගෙන් පසු කලීෆා තනතුරට පත් කිරීම නම් ඒ තුමා ඒ සඳහා මුස්ලිම්වරු සූදානම් කර තිබිය යුතුයි නබිතුමා එවැන්නක් කළාද ?**

**විර්රි** : ෂියාවරුන්ගේ අදහස අනුව නබිතුමා අලි තුමා තමාගේ උරුමක්කාරයා බවට පත් කළා පමණක් නොව එය තම

ක්‍රියාවලින් සහතික කර ඇත. නබිතුමා මරණාසන්නව සිටි අවස්ථාවේ දී එතුමා මුස්ලිම් හමුදාව සියාඩ්ගේ පුත් උසාමාගේ සෙන්පතිකම යටතේ සිරියාවේ දේශ සීමා කරා යැවීමට අණ කළහ. අබුබක්කර් තුමා සහ උමර් තුමා ද හමුදාව සමඟ යෑමට අණ කරනු ලැබූහ. ප්‍රධාන සහාභාවරු අතුරින් අලි තුමා තමා සමඟ මදීනාවේ නවත්වා ගත්හ.

එතුමාගේ තත්ත්වය බරපතල වුව ද හමුදාවට මදීනාව හැර යාමට නබිතුමා  අණ කළහ. එහෙත් අබුබක්කර් උමර් වැනි බොහෝ සහාභාවරු නබිතුමාගේ තත්ත්වය ගැන සිතා මදීනාව හැර නොගියහ.එහි ප්‍රතිඵලයක් වශයෙන් මුළු හමුදාවම මදිනා නගරය ආසන්නයේම අබූබක්කර් රළි තුමා නබි තුමාගේ අභාවයෙන් පසු කලීෆා වශයෙන් පත්වන තෙක් කඳවුරු ලා සිටියේය.

තමාගේ තත්ත්වය බරපතල බව දැන දැනත් අලි තුමා පමණක් තමා අසල නවත්තාගෙන අන් අය දුරට යැවීමට ක්‍රියා කිරීමෙන් තමාගෙන් පසුව අලි තුමාට පාලනය ලබා දීමට නබිතුමාගේ අරමුණ වූ බව හිතා ගත හැකිය.

**විල්සන් : ඔබ කියන ඔය කරුණු සිදු නොවූ අතර අලි තුමාට පාලන බලය හිමි වුයේ අන් සහාභාවරු තිදෙනාගෙන් පසුවය. මෙහි අදහස එම සහාබිවරු නබිතුමාට අකීකරු වූ බව ද?**

**චිර්රි :** මෙයට පිළිතුර "නැත" යන්නය. අලි තුමාට පාලන බලය දීම නබි තුමාගේ අදහස වූවා නම් එය තම සහායකයින්ට එතුමා එළි කරනු ඇත. සහාභාවරු පාලකයා පත් කිරීම ලෞකික කටයුත්තක් බව සලකන්නට ඇත. එහි දී තමනට තමන්ගේම තීරණය හෝ නබිතුමාගේ නිර්දේශය හෝ පිළිගත හැකි බව සිතා තමන්ගේ අභිමතය පරිදි නායකයකු තෝරන්නට ඇත. තව ද මෙවැනි කරුණක් සම්බන්ධයෙන් නබි තුමාට අකීකරු වීම ඔවුන් කිසිදා නොකරන කටයුත්තකි.

කෙසේ වුව ද මෙම සියලු සිද්ධීන් අවසානය. එය අද ඉස්ලාමීය ඉතිහාසයේ වූ සිද්ධියක් පමණි. මේ පිළිබඳ පවත්වන

සාකච්ඡාවක අරමුණ විය යුත්තේ කිසියම් පාර්ශ්වයක දොස් දැකීම නොවේ.

එසේ කිසියම් පිරිසක් ගැන දරණ ඍණාත්මක ආකල්පය නිසා සිදු වන්නේ මුස්ලිම්වරු අතර වෛරය හා මතභේද හට ගැනීම වැඩිවීම පමණි. මෙය වටහා ගත් අලි තුමා තම අප්‍රසාදය අමතක කර දමා අබූබක්කර් තුමාට සහාය වූහ. මෙම සිද්ධිය දේශපාලන සිද්ධියක් පමණි.

එහි කිසිදු ආගමික පසුබිමක් නැත. සෑම මුස්ලිම්වරයෙකුටම තම පෞද්ගලික අදහස් දැරීමේ අයිතියක් ඇත. එය ඉස්ලාමීය ඉගැන්වීම්වලට ද පටහැනි නොවේ.

**විල්සන් : නබිතුමාගෙන් පසු ඉස්ලාමීය පාලකයෙක් තෝරා ගැනීමේ ක්‍රියාවලිය දීර්ඝ කාලයක් මුළුල්ලේ මුස්ලිම් සමාජයේ අර්බුද ඇති කිරීමට තරම් විය. එහෙත් එය වර්තමාන මුස්ලිම්වරු භේද කිරීමට තරම් කරුණක් නොවේ.**

**මෙම සම්පූර්ණ සිද්ධිය ආගමික නොවන දේශපාලනමය සිද්ධියක් බව පැහැදිලිය. ෂියාවරු හා සුන්නිවරු අතර ආගමික වශයෙන් කිසියම් මතභේදයක් නොපවතී. එසේ නොමැතිව මතභේද පවතින්නේ දේශපාලනමය වශයෙන් ද ?**

**වීර්රි** : ෂියාවරු සුන්නිවරු අතර ආගමික පිළිගැනීම් සම්බන්ධයෙන් කිසිදු මත භේදයක් නොමැත. ඔවුන් සියල්ලන්ම කුර්ආනය හා නබිතුමාගේ වාක්‍ය කිසිදු වෙනසකින් තොරව පිළිගනිති. දෙපිරිසම තම ආගමික ප්‍රශ්න විසඳා ගැනීමට මූලාශ්‍ර වශයෙන් යොදා ගන්නේ මේ දෙකය.

එහෙත් සමහර ඉස්ලාමීය නීති සම්බන්ධයෙන් යම් යම් වෙනස්කම් ඇත. එය ඇති වී තිබෙන්නේ යම් යම් අර්ථකථනයන් නිසාය. ඒවා මෙසේය.

01. කුර්ආනීය උපදේශය හා නබිතුමාගේ පහදා දීමක සුවිශේෂ විස්තර කිරීම් නොමැති විට.

02. මෙවැනි සමහර ප්‍රකාශන ගැන නිරවුල් පහද දීම් නැති විට

හෝ ඒවා පිළිබඳව විවිධ ආකාරයෙන් අර්ථකථන කළ හැකි වූ විට.

03. නබි තුමා විසින් අනුමත කරන ලද වෙනස් ප්‍රකාශන දෙකක් ඇති විට.

මෙයට උදාහරණයක් පහත දැක්වේ.

වුළුඃ කිරීම සලාතය ඉටු කිරීම සඳහා අවශ්‍ය කරුණකි. සංසර්ගයේ යෙදීම නිසා වුළුඃ බිඳී යන්නේ ය.

මේ පිළිබඳව කුර්ආනීය වාක්‍ය මෙසේය.

**එබැවින් ඔබ රෝගියෙකු වශයෙන් හෝ ගමනෙහි හෝ මළ ජලයට පහ කිරීමෙන් හෝ කාන්තාවන්ට ළංවී සිටියහොත් හෝ ඔබට ජලය ද ලබා ගැනීමට නොහැකි වී පිරිසිදු වැලි ස්පර්ශ කර ඔබගේ මුහුණ ද (4:43)**

මෙහි ස්පර්ශය යන්න විවිධ ගුරු කුලයන් විසින් විවිධ අයුරින් අර්ථ දක්වති සමහරුන් අදහස වනුයේ කිසියම් ආකාරයක භෞතික ස්පර්ශ කිරීම වූළුඃ බිඳ දමයි යන්නයි. අනික් ගුරු කුලයේ අදහස වන්නේ ස්පර්ශ කිරීම යනු සංසර්ගය යන්නයි.

මෙසේ යම් යම් නීති සම්බන්ධ වෙනස් මත ෂියා හා සුන්නි අතර පමණක් නොව සුන්නි මත වාදීන් අතර ද ෂියා මත වාදීන් අතර ද ඇත.

එහෙත් ෂියා දර්ශන සියල්ල සුන්නි දර්ශන විසින් ප්‍රතික්ෂේප කිරීමක් හෝ සුන්නි දර්ශන සියල්ල ෂියා දර්ශන මඟින් ප්‍රතික්ෂේප කර හෝ නැත.

ඉස්ලාමීය නීති සමහරක් අතර පවතින මත භේද නිසා මුස්ලිම්වරු භේදබින්න වී නොමැත. එහෙත් ඒ නිසා ගුරුකුළ කිහිපයක් බිහි වී ඇත. ඒවා මද්හබ් යැයි නම් කෙරේ සජීවී මද්හබ් වශයෙන් මාලිකි, හනෆි, ෂාෆියි, හම්බලි, ජාෆාරි හා සොයිඩ් යන ඒවා හැඳින්විය හැකිය.

මේ මද්හබ් සියල්ල සකස් වී ඇත්තේ අල්කුර්ආනය හා

අල්හදීසය අනුව වේ. පළමු මද්හබ් හතර සුන්නි මද්හබ් වන අතර අනික් මද්හබ් දෙක ෂියා මද්හබ් වේ.

**විල්සන් : ඔබගේ පැහැදිලි කිරීම අනුව මෙම කණ්ඩායම් අතර පවතින වෙනස නොසලකා හැරිය හැකි තරම් කුඩා බව පැහැදිලිය. සමහර පාක්ෂිකයන් විසින් මෙම දෙපාර්ශ්වයම එක්තැන් කිරීමේ වෑයමක් සිදු කර ඇත.**

**චිර්රි :** ඉතිහාසය පුරා විවිධ අවස්ථාවල මේ පිළිබඳව වෑයම් කර ඇතත් එය සාර්ථක වී නැත. මෙයට හේතුව වශයෙන් පාලක වරුන් විසින් විවිධ වකවානුවලදී තම බලය තහවුරු කර ගැනීම සඳහා එම අවස්ථාවේ බහුතරයක්වූ පක්ෂය ගෙන ක්‍රියා කිරීමය. එහෙත් වර්තමානය හාත්පසින්ම වෙනස්ය. මේ සම්බන්ධව නව ආරයට සිතීම අද අවශ්‍යව ඇති දෙයකි.

## ඉස්ලාමීය එකමුතුකම සඳහා මෙම කතෘගේ වෑයම

**විල්සන් : ඔබතුමා 1959 දී මැදපෙරදිගට ගොස් ෂෙයික් අල් අසාර් හමුවී සාකච්ඡා කර මෙම ප්‍රශ්නය සමථයකට පත් කිරීමට වෑයම් කළෙහිය. මේ පිළිබඳ ඔබට කරුණු කිය හැකිද?**

**චිර්රි :** 1959 ජූනි මාසයේ පළමුවැනි දින මම ෂෙයික් අල් අස්හර් ෂෙයික් මග්මූඩ් සල්තුට් (ඔහුට අල්ලාහ්ගේ ආශිර්වාදය ලැබේවා!) හමුවූයෙමි. මේ හමුවේ අරමුණ ඉස්ලාමීය ගුරුකුල අතර පවතින ගැටලු ගැන සාකච්ඡා කිරීමයි. එම වෙනස මුස්ලිම් ලෝකයේ එවකට පැවති ප්‍රධාන ගැටලුව වූයේය. මට එතුමා සාමාජිකයෙකු නොවන ජාෆරි මද්හබය පිළිබඳ එතුමාගේ අදහස දැන ගැනීමට අවශ්‍යය විය. එතුමා මේ මද්හබයට අනුකූලව දක්වන අදහසක් වේ නම් මෙම පාර්ශ්වය සමඟි කරන්නක් වේ යැයි මම සිතුවෙමි.

ජාෆරි මද්හබයේ ඉගැන්වීම් හා එතුමාගේ මද්හබය අතර ඇති සමානතාවයක් වේ දැයි මම එතුමාගෙන් ඇසුවෙමි.

එතුමාගේ පිළිතුර මා උනන්දු කරවන්නක් විය. එහෙයින් මේ කරුණු පිළිබඳව මුස්ලිම් ලෝකයට පණිවිඩයක් නිකුත් කරන මෙන් ඉල්ලුවෙමි. ජාෆරි මද්හබය හා සුන්නි මද්හබය අතර පවතින සමානතාවය පිළිබඳ එතුමාගේ ප්‍රකාශය මේ ප්‍රශ්නය සඳහා වන ස්ථිර විසඳුමක් වේ යන්න මාගේ මතය විය. ඔබතුමා එහි ප්‍රධානියා නිසා එවැනි ප්‍රකාශයකින් සුන්නි පාර්ශ්වය සමතයකට පත් කරන බවත් ෂියා පාර්ශ්වය සතුටු වන බවත් මම පෙන්වා දුන්නෙමි.

ෂියා වරුන්ගේ බලාපොරොත්තු ශ්‍රේෂ්ඨත්වය නොව සමානාත්ම තාවයයි. මෙම ප්‍රකාශය ඉතිහාසයේ පළමු වරට ප්‍රකාශ වුණ මෙම ආකාරයේ එකකි. එය 1959 දී ප්‍රකාශ කෙරුණි. එය බොහෝ මුස්ලිම් රටවල් මඟින් සතුටින් පිළි ගැණුනි.

ඊජිප්තුව හා ලෙබනානු පුවත් පත් වල පළ වූ එම ප්‍රකාශනයේ පරිවර්තනය පහත පළ කරමි.

> සමහරුන්ගේ අදහස් වනුයේ සැබෑ මුස්ලිම්වරු ඇදහිය යුත්තේ පහත සඳහන් මද්හබ් හතරෙන් (හනෆි ෂාෆි හම්බලි හා මාලකි යන) එකක් බවත් ෂියා මද්හබ් වන ජාෆරි හා සෙයිඩ් මද්හබ එයට ඇතුළත් නොවන බවත් ය. ඔබතුමා මේ අදහසට එකඟ ද?

ඔබතුමා මුස්ලිම්වරුනට ජාෆරි මද්හබය පිළිපදින ලෙස අවවාද කරනවා ද?

01. මුජ්තහිද් නොවන අයෙකුට මුස්ලිම් විද්වතෙකුගේ (ඔලමා වරයෙකුගේ) අදහස අනුව ක්‍රියා කළ හැකිය. සමහර පොත් වල සඳහන් ආකාරයේ මද්හබ් හතර පමණක් පිළිගැනීම හෝ තම මද්හබය වෙනස් කර ගැනීමට හෝ අයිතියක් නැතැයි කීම වැරදිය. මුස්ලිම්වරයෙකුට තමාට මුණගැසෙන ඕනෑම ඉස්ලාමීය උගතෙකු ගෙන් තම ගැටලු සඳහා විසඳුම අසා දැන ගත හැකිය.

02. ෂියා යනු අලි තුමාගේ අනුගාමිකයින්ව හඳුන්වන නම් වේ. එහෙත් ඉස්ලාමයේ මූලික සිද්ධාන්ත පිළි නොගන්නා බොහෝ කණ්ඩායම් මේ නමින් හඳුන්වනු ලබති. එසේ වනුයේ ඔවුන් ඉස්ලාමීය චක්‍රය තුළ ඇතුළත් නැති නිසාය.

03. මේ අතර යහපත් ෂියා වරු ද සිටිති. ඔවුනට හඳුන්වන්නේ ජාෆාරි හෙවත් ඉමාම් ඉන්න ආසරී කියාය.

04. හොඳින් දන්නා මෙම කණ්ඩායම් අනුගමනය කරන්නේ අල්ලාහ්ගේ ග්‍රන්ථයෙන් ද නබි තුමාගේ ඉගැන්වීම් වලින් ද ඔවුන්ගේ ඉමාම් වරයා මාර්ගයෙන් උගත් කරුණු පමණි. ජාෆරි හා සුන්නි මද්හබ් අතර වෙනස සුන්නි මද්හබ් අතර වෙනසකට වඩා පුළුල් වූවක් නොවේ. ඔවුන් අල්කුර්ආනයේ ඇති ඉස්ලාමීය මූලික සිද්ධාන්ත ඒ අයුරින්ම පිළි ගනිති.

05. ජාෆාරි ෂියා මද්ගබයේ ඉස්ලාමීය නීති රීති මුළුමනින්ම එහි ග්‍රන්ථ වල වාර්තා කර ඇත. සෙසු ග්‍රන්ථ වල කතෘන් ද එම කතෘන් හදිස් ලබා ගත්තේ ද කාගෙන් ද යන්නත් නොරහසකි. එසේම එම විද්වතුන් මුස්ලිම් උගතුන් මඟින් හොඳින් පිළිගනු ලබති.

## එකී ප්‍රකාශණය මෙසේය

01. ඉස්ලාමය එහි අනුගාමිකයන්ට කිසියම් එක් මද්හබයක් අනුගමනය කරන ලෙස දන්වා නැත. එහෙත් තමන් කැමති මද්හබය අනුගමනය කිරීමේ අයිතිය ලබා දී ඇත. ඕනෑම එක් මද්හබයක් අනුගමනය කරන අයෙකුට තම මද්හබය වෙනස් කර ගැනීමේ අයිතිය ද ඇත.

02. ජාෆරි මද්හබය ද සැබෑ ඉස්ලාමීය මද්හබයකි අනෙක් සුන්නි මද්හබ මෙන් ජාෆරි මද්හබය මගින් ද අල්ලාහ් නැමදීමට අයෙකුට අවසර ඇත.

03. මුස්ලිම්වරු මෙම සත්‍යය වටහා ගෙන තම දැඩි මත වලින් ඉවත් විය යුතුය. මේ සියලු මද්හබ්වල ඉමාම්වරු මුජාහිද් වරුය. එහෙයින් මුජාහිද් නොවන අයට මේ අයගේ මාර්ගය අනුගමනය කළ හැකිය. මේ සියලු මද්හබ්වලින් කෙරනුයේ සර්වබලධාරී අල්ලාහ් නැම දීමය.

*　*　*